With best compliments of the editor to Mr. N. R. de Z. Gunewardena

THE

# RĀJĀVALIYA

OR

## A HISTORICAL NARRATIVE OF SINHALESE KINGS

FROM

## Vijaya to Vimala Dharma Surya II.

EDITED BY

REV. WATUWATTE PEMANANDA BHIKKHU,

DHARMAPPRASADAYA,

COLOMBO.

PUBLISHED BY

R. P. WEERASINGHA.

AT

MAHA-BODHI PRESS.

2466.

1923.

# සංඥාපනය.



"රාජාවලි" යනු රාජ පරම්පරාව යන අර්ථයි. එබැවින් තත් පරම්පරාව සම්බන්ධව කරුණු ප්‍රකාශවන පොතක් බැව් පැහැදිලිවේ. දඹදිව ලාටරට සිංහපුරයෙහි විසූ සිංහබාහු නම් රජහුගේ අතිජාත පුත් සත්සියයක් පිරිවර ජනයා හා සමග ශ්‍රී සුගත තථාගත සම්මාසම්බුද්ධ රජාණන් වහන්සේගේ පරිනිර්වාණ දිනයෙහි මෙම ලක්දිව් පැමිණ අති භයඞ්කරවූ යක්‍ෂ මර්දනය කළ විජය රජද ඔහු මල් සුමිත්‍ර රජද ඔහු පුත් ලක්දිව රජපැමිණි පඬුවස්දෙව් රජද ඔවුන්ගේ දරු මුනුබුරු පරම්පරාවද සිංහල නම් වෙති. ඔවුන්ගේ නිවාසයට හෙතුවූ බැවින් මෙම ලඞ්කා වීපයද සිංහලවීප නම් විය. ඔවුන්ගේ භාෂාවද සිංහල භාෂාව නම් වේ.

ලක්දිව පලමුවෙනිවර රාජ්‍යපදප්‍රාප්ත සිංහල ජනතාවගේ ආදි කර්තෘත්වය ඉසුලුවාවූ විජය රජතුමා ආදි කොට දෙවෙනි රාජසිංහ රජුගේ අවෑමෙන් රජ පැමිණි දෙවෙනි විමලධර්මසූර්‍ය්‍ය රජතුමාගේ කාලය දක්වා ලඞ්කාරාජ්‍යශ්‍රියට පැමිණි රාජෝත්තමයන්ගේ වංශ පරම්පරාව (ආවලිය) මෙයින් ප්‍රකාශවේ. රාජාවලි පුස්කොළ පොත් කීපයක්ම අපට බැලීමට ලැබුණේවී නමුත් මෙම ඉතිහාස ග්‍රන්ථය කළ කර්තෘවරයාගේ නාමය ඉන් එක් පොතකවත් සඳහන්වී නොමැති බැවින් කවරකලෙක කවර පඬිවරයකු විසින් කරනලදදැයි නිශ්චයකළ නොහැක. ශක වර්ෂ බුද්ධ වර්ෂ ක්‍රිස්තු වර්ෂ යන වර්ෂත්‍රය ව්‍යවහාර කිරීම කාරණකොටගෙන මෙය කරනලද්දේ එකම කර්තෘකෙනෙක්මයයි නිශ්චය කිරීමට අපහසු බව පලමුවෙන් ශුද්ධකළ මුදලිතුමා සඳහන්කර තිබේ. නමුත් එය වර්ෂ ව්‍යවහාරයෙන් පමණක් එසේ සිතීම කිසිසේත්ම යුක්තියුක්ත නොවේ. මෙය සිලුටු නොවූද නිරුක්ති ක්‍රමොල්ලඞ්ඝිතවූ පදයොජනාදී අව්‍යක්තවූ භාෂාරීතීන් සම්පාදිතවැ තිබෙන බැවින් ශබ්ද ශාස්ත්‍රාදියෙහි පටුතරභාවයෙන් තොරවූ සාමාන්‍ය උගතකුගේ කෘතියකැයි යුක්ති සහිතව සිතීමට ඉඩ තිබේ. මෙහි සඳහන් දෝෂ ගහණවූ බොහෝ පාඨයෝ රාජාවලි නිකායසංග්‍රහ මහාවංශාදී ඉතිහාස ග්‍රන්ථවලට සසඳා බලා සුද්ධකළ බවත් මෙහි පෙනෙන බොහෝ කරුණු අපගේ අදහස් පරිදි වෙනස් කරමින්

සුඩ්කෙළේ නම් අමුතුම පොතක් වශයෙන් විය හැකි බැවින් රාජාවලි පොත් කීපයක්ම එකට සසඳා බලා සමානව පැනෙන පාඨයෝ වෙනස් නොකොට ඒ පොත්වල විද්‍යමානාකාරයෙන්ම යෙදූබවත් පඬුවස්දෙව් රජතුමාට වැදූන දිවිදෙස් ගැන පෙන්වා තිබෙන පාඨයෝ බොහෝ රාජාවලි පොත්වලම ඒකාකාරව සඳහන්වී තිබෙන බැවින් කාරණය පිළිගත නොහැකි වුවත් එකී පරිද්දෙන්ම යෙදූ බවත් සඳහන් කරමි. මේ වර සකස්කිරීමෙහිදී ඇතිවූ දුෂ්කරතා ගැන සලකාබලනකල මේ පොත පළමුවෙනිවර ශුද්ධියට පැමිණෙවූ රජවාසල මුදලි මන්ත්‍රීවූ බී. ගුණසේකර මහතාණන්ට පැසසිය යුතුමය.

මෙය සකස්කිරීමෙහිදී මාතර බඩුවිටි **ඩී. ජී. අභයගුණරත්න** පඬිතුමා අවසාන ශුද්ධිපත්‍රාවලොකනය කිරීමෙන් පෝර්ම හතරක වැඩ අවසානවේගත යනාතර එතුමාට වැළඳී බලවත් ජ්වර රොගය කාරණකොට ගෙන වර්ෂ 1923ක්වූ මැයිමස 18 වෙනි දින එතුමා ස්වර්ගප්‍රාප්තවූයෙන් ඉතිරි පාඨ ශුද්ධිය අපවිසින්ම කරන ලදී. මෙතුමාගේ අභාවය සකල ලාංකික මහජනතාවට සහ විශෙෂ වශයෙන් අපට මහත් පාඩුවක්බව කනගාටු සහිතව ගුණ සැලකීම් වශයෙන් මෙහි සඳහන් කරමු.

තවද මෙය ශුද්ධකිරීම පිණිස උඩරට පළාතෙන් පොත්පත් සපයාදීමෙන් අපට විශෙෂාධාර කළ දැනට කොළඹ ආනන්ද මහා ශාස්ත්‍රශාලාවෙහි පාලි සිංහල භාෂාවන් ඉගැන්වීමෙහි ආචාර්ය පදවියක් ධරන ගරු විල්අමුණේ **ධම්මකිත්ති** ස්ථවිර පාදයන් වහන්සේටද අපගේ අව්‍යාජාදර ස්තුතිය පුදකරමු.

මේවගට-ආචාර්ය වතුවත්තේ

**පෙමානන්දති.**

**W. Pemananda.**

වර්ෂ $\frac{2466}{1923}$ක්වූ ඔක්තෝම්බර් මස 1 වෙනි දින
කොළඹ දෙමටගොඩ ධර්මප්‍රාසාදයෙහි දීය.

# රාජාවලියෙහි සඳහන්වූ ලක්දිව රජකළ රජවරුන්ගේ නාම ලේඛනය

—— +:+ ——

| සංඛ්‍යාව. | නාම. (ක්‍රිස්තුවර්ෂයට පෙර රජකළ රජවරු.) | කාලය. ව: | මා: | දි: | (පිට) | රජකළ නුවර. | (පිළිගතහැකි වර්ෂගණන.) ව: | මා: | දි: |
|---|---|---|---|---|---|---|---|---|---|
| 1 | විජය. | 38 | — | — | 20 | තම්මැන්නා- | 38 | — | — |
| 2. | උපතිස්ස (ඇමති) | — | — | — | ,, | උපතිස්ස | — | — | — |
| 3. | පඬුවස්දෙව්. | 32 | — | — | ,, | එම | 30 | — | — |
| 4. | අභය. | 22 | — | — | 22 | එම | 20 | — | — |
| 5. | පණ්ඩුකාභය. | 70 | — | — | 23 | අනුරාධපුරය | 70 | — | — |
| 6 | ගණතිස්ස | 40 | — | — | ,, | | | | |
| 7. | මූටතිස්ස, (මූටසීව) | 60 | — | — | ,, | එම | 60 | — | — |
| 8 | දෙවෙනි පෑතිස්ස. | 40 | — | — | 24 | එම | 40 | — | — |
| 9. | සූරතිස්ස. | 10 | — | — | 25 | එම | 10 | — | — |
| 10. | උත්තිය. | 10 | — | — | ,, | එම | 10 | — | — |
| 11. | සේන-ගුත්තික-අසරුවෝ දෙදෙන. | 20 | — | — | ,, | එම | 22 | — | — |
| 12. | අසේල. | 10 | — | — | ,, | එම | 10 | — | — |
| 13. | එළාර. | 44 | — | — | ,, | එම | 44 | — | — |
| 14. | ගැමුණු. | 24 | — | — | 40 | එම | 24 | — | — |
| 15. | සද්ධා තිස්ස. | 37 | — | — | ,, | එම | 18 | — | — |
| 16. | තුල්නා. | 1 | 8 | — | ,, | එම | — | 1 | — |
| 17. | ලැමැණි තිස්ස. | 39 | — | — | ,, | එම | 9 | 8 | — |
| 18. | වළගම්බා. | — | 5 | — | ,, | එම | — | 5 | — |
| 19. | පුළහත්ථ. | 3 | — | — | 41 | එම | 3 | — | — |
| 20. | බාහිය. | 2 | — | — | ,, | එම | 2 | — | — |
| 21. | පනයමාර. | 7 | — | — | ,, | එම | 7 | — | — |
| 22. | පිළයමාර. | — | 7 | — | ,, | එම | — | 7 | — |
| 23. | දාඨිය. | 2 | — | — | ,, | එම | 2 | — | — |
| | වළගම්බා (දෙවෙනිවර) | 12 | — | — | ,, | එම | 12 | — | — |

| (ක්‍රිස්තු වර්ෂයට පසුව) | | කාලය. | | | | | පිළිගතහැකි වර්ෂ නියමය. | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| සංඛ්‍යාව. | නාම. | ව: | මා: | දි: | (පිට) | රජකළ නුවර. | ව: | මා: | දි: |
| 24 | මහදාළියා තිස්ස. | 50 | — | — | ,, | අනුරාධපුරය | 14 | — | — |
| 25. | චොරනාග. | 12 | — | — | ,, | එම | 12 | — | — |
| 26 | කුඩා තිස්ස. | 3 | — | — | 42 | එම | 3 | — | — |
| 27. | අනුලා සහ ඇගේ වල්ලභයෝ. | 3 | 4 | — | ,, | එම | 4 | 3 | — |
| 28. | මකලන් තිස්ස. | 22 | — | — | ,, | එම | 22 | — | — |
| 29. | භාතිය I | 18 | — | — | ,, | එම | 28 | — | — |
| 30. | මහදාළියා (මානා) | 12 | — | — | 43 | එම | 12 | — | — |
| 31. | අඩගැමුණු. | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 32. | කණිරජානු තිස්ස. | 3 | — | — | 43 | එම | 3 | — | — |
| 33. | චූලාභය තිස්ස. | 1 | — | — | ,, | එම | 1 | — | — |
| 34. | සිවලී. | — | 4 | — | ,, | එම | — | 4 | — |
| 35. | ඉලනාග. | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 36. | සඳ මුහුණු. | 8 | — | — | 44 | එම | 8 | — | — |
| 37. | යසලාලක තිස්ස. | 7 | 8 | — | ,, | එම | 7 | 8 | — |
| 38. | සුභ. | 6 | — | — | ,, | එම | 6 | — | — |
| 39. | වසභ. | 44 | — | — | ,, | එම | 44 | — | — |
| 40. | වන්නැසිතම්බප | 3 | — | — | 45 | එම | 3 | — | — |
| 41. | ගජබා I | 24 | — | — | ,, | එම | 22 | — | — |
| 42. | මහලුනා. | 6 | — | — | 47 | එම | 6 | — | — |
| 43. | භාතිය තිස්ස II | 24 | — | — | ,, | එම | 24 | — | — |
| 44. | කණිට්ඨතිස්. | 28 | — | — | ,, | එම | 28 | — | — |
| 45. | චූලනාග. | 2 | — | — | ,, | එම | 2 | — | — |
| 46. | කුඩ්ඩනාග. | 1 | — | — | ,, | එම | 1 | — | — |
| 47. | සිරිනාග. I | 19 | — | — | ,, | එම | 19 | — | — |
| 48. | වොහාර තිස්ස. | 22 | — | — | ,, | එම | 22 | — | — |
| 49. | අභයනාග | 8 | — | — | 48 | එම | 8 | — | — |
| 50. | සිරිනාග II | 2 | — | — | ,, | එම | 2 | — | — |
| 51. | විජයිඳු. | 1 | — | — | ,, | එම | 1 | — | — |
| 52. | සඞ්ඝ තිස්ස. I | 4 | — | — | ,, | එම | 4 | — | — |
| 53. | සඞ්ඝබෝධි I | 2 | — | — | ,, | එම | 2 | — | — |
| 54. | ගෝඨාභය. | 13 | — | — | ,, | එම | 13 | — | — |
| 55. | (කලකැන්) දෙවතිස්. I | 10 | — | — | 50 | එම | 10 | — | — |
| 56. | මහසෙන්. | 24 | — | — | ,, | එම | 27 | — | — |
| 57. | කිත්සිරිමේවන්. | 28 | — | — | 51 | එම | 28 | — | — |

| (ක්‍රිස්තු වර්ෂයට පසුව) | | කාලය. | | | | පිළිගත්හැකි වර්ෂ නියමය. | | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| සංඛ්‍යාව. | නාම. | ව: | මා: | දි: | (පිට) | රජකළ නුවර | ව: | මා: | දි: |
| 58. | දෙවතිස් II | 9 | — | — | 52 | අනුරාධපුරය | 9 | — | — |
| 59. | බුජස්රජ. | 29 | — | — | ,, | එම | 29 | — | — |
| 60. | උපතිස්ස II | 42 | — | — | ,, | එම | 42 | — | — |
| 61 | මහානාම | 22 | — | — | ,, | එම | 22 | — | — |
| 62. | සෙන්ගොත්. | — | — | 1 | ,, | එම | — | — | 1 |
| 63. | සත්ගාහක. | 1 | — | — | ,, | එම | 1 | — | — |
| 64. | මිත්සෙන්. | 1 | — | — | ,, | එම | 1 | — | — |
| 65 | දෙමළසත්දෙන. | 27 | — | — | ,, | එම | 27 | — | — |
| 66. | දාසෙන්කෑලිය. | 18 | — | — | 53 | එම | 18 | — | — |
| 67. | කසුබු I | 18 | — | — | 53 | සීගිරිය | 18 | — | — |
| 68. | මුගලන් I | 18 | — | — | ,, | අනුරාධපුර | 18 | — | — |
| 69 | කුමාරදාසෙන්. | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 70. | කිත්සිරිසේන. | — | 9 | — | ,, | එම | — | 9 | — |
| 71. | මැදිසිව්. | — | — | 25 | ,, | එම | — | — | 25 |
| 72. | ලැමැණි උපතිස්ස III | 1 | 6 | — | ,, | එම | 1 | 6 | — |
| 73. | ලැමැණිඅක්බෝ(සිලාකාළ) | 13 | — | — | ,, | එම | 13 | — | — |
| 74. | දප්පුල I | — | 5 | 6 | 54 | එම | — | 6 | 6 |
| 75 | සුලුමුගලන්. II | 20 | — | — | ,, | එම | 20 | — | — |
| 76. | කුඩාකිත්සිරිමේවන්. | — | — | 19 | ,, | එම | — | — | 1 |
| 77. | සෙනෙවිමානා (මහනාග.) | 3 | — | — | ,, | එම | 3 | — | — |
| 78. | ලැමැණි සිඟානා. | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 79. | අග්බෝ I | 34 | — | — | ,, | එම | 34 | — | — |
| 80. | කුඩාඅග්බෝ. | 10 | — | — | ,, | එම | 10 | — | — |
| 81. | සඞ්ඝ තිස්ස. | — | 2 | — | ,, | එම | — | 2 | — |
| 82. | දලමුගලන්. | 6 | — | — | ,, | එම | 6 | — | — |
| 83. | අසිගගාහක. | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 84 | අග්බෝ III | — | 6 | — | ,, | එම | — | 6 | — |
| 85. | දෙටුතිස් III | — | 5 | — | ,, | එම | — | 5 | — |
| . . . | අග්බො III (දෙවෙනිවට) | 16 | — | — | ,, | එම | 16 | — | — |
| 86. | ලැමැණිදළප තිස්ස I | 12 | — | — | 55 | එම | 12 | — | — |
| 87. | පැසුළු කසුබු II | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 88 | දාපුළුරජ II | 3 | — | — | | අ:රා:පු: සහ රුහුණ | 3 | — | — |
| 89. | ලැමැණිදළපතිස්ස II | 9 | — | — | ,, | අනුරාධපුරය | 9 | — | — |
| 90. | අග්බෝ IV | 16 | — | — | ,, | එම | 16 | — | — |
| 91. | බල්පිටිවසුදත්ත. | 2 | — | — | ,, | එම | 2 | — | — |

| සංඛ්‍යාව. | නාම. (ක්‍රිස්තු වර්ෂයට පසුව) | කාලය. ව: | මා: | දි: | (පව) | රජකළ නුවර | පිළිගතහැකි වර්ෂ නියමය. ව: | මා: | දි: |
|---|---|---|---|---|---|---|---|---|---|
| 92. | හත්ථදාඨ. | — | 6 | — | ,, | අනුරාධපුරය | — | 6 | — |
| 93 | මහලෑපාණො. | 35 | — | — | ,, | එම | 35 | — | — |
| 94. | අග්බෝ V | 6 | — | — | ,, | එම | 6 | — | — |
| 95. | කසුබු III | 6 | — | — | ,, | එම | 6 | — | — |
| 96. | මිහිඳු. | 3 | — | — | ,, | එම | 3 | — | — |
| 97. | අග්බෝ IV | 40 | — | — | ,, | එම | 40 | — | — |
| 98. | කුඩාඅග්බෝ VII | 6 | — | — | ,, | පොළොන්නරුව | 6 | — | — |
| 99. | සලමෙවන් මිහිඳු II | 20 | — | — | ,, | අනුරාධපුර | 20 | — | — |
| 100 | උදය (දප්පුල II) | 5 | — | — | 56 | එම | 5 | — | — |
| 101. | මිහිඳු III | 4 | — | — | ,, | එම | 4 | — | — |
| 102. | අග්බෝ VIII | 11 | — | — | ,, | එම | 11 | — | — |
| 102. | දප්පුල III | 16 | — | — | ,, | බෙරම්ණීපාය | 16 | — | — |
| 104. | පැසුළුඅග්බෝ IV | 3 | — | — | ,, | අනුරාධපුර | 3 | — | — |
| 105 | සේන I | 20 | — | — |  | පොළොන්නරුව | 20 | — | — |
| 106. | මුගසින්සෙන් II | 35 | — | — | ,, | එම | 35 | — | — |
| 107. | උදය I | 11 | — | — | ,, | එම | 11 | — | — |
| 108 | කසුප් IV | 17 | — | — | ,, | එම | 17 | — | — |
| 109. | පැසුළුකසුප් V | 10 | — | — | ,, | එම | 10 | — | — |
| 110 | දප්පුල IV | — | 7 | — | ,, | එම | — | 7 | — |
| 111. | කුඩාදප්පුල V | 12 | — | — | ,, | එම | 12 | — | — |
| 112. | උදය II | 3 | — | — | ,, | එම | 3 | — | — |
| 113. | සේන III | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 114 | උදය III | 8 | — | — | ,, | එම | 8 | — | — |
| 115. | සේන IV | 3 | — | — | 57 | එම | 3 | — | — |
| 116. | මිහිඳු IV | 16 | — | — | ,, | එම | 16 | — | — |
| 171. | සලමෙවන් | 4 | — | — | ,, | එම | 4 | — | — |
| 118. | සේන V | 10 | — | — | ,, | එම | 10 | — | — |
| 119. | මිහිඳු V | 36 | — | — | ,, | අනුරාධපුර සහ කපුගල් නුවර | 36 | — | — |
| 120. | මහලු විජයබාහු I | 55 | — | — | ,, | පො:නරුව | 55 | — | — |
| 121. | ජයබාහු | 1 | — | — | 58 | එම | 1 | — | — |
| 122 | වික්‍රමබාහු | 21 | — | — | ,, | එම | 21 | — | — |
| 123. | ගජබා II | 22 | — | — | ,, | එම | 22 | — | — |
| 124. | පරාක්‍රමබාහු | 33 | — | — | ,, | එම | 33 | — | — |
| 125. | විජයබාහු II | 1 | — | — | 59 | එම | 1 | — | — |

| (ක්‍රිස්තු වර්ෂයට පසුව) | | කාලය. | | | | පිළිගතහැකි වර්ෂ නියමය. | | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| සංඛ්‍යාව. | නාම. | ව: | මා: | දි: | (පිට) | රජකළ නුවර. | ව: | මා: | දි: |
| 126. | (කිළිංකෙස්ද) මිහිඳු VI | — | — | 5 | ,, | පො. නරුව | — | — | 5 |
| 127. | කීර්තිනිශ්ශංක. | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 128. | වීරබාහු I | 1 | — | — | ,, | එම | I | — | — |
| 129. | වික්‍රමබාහු II | 3 | — | — | ,, | එම | 3 | — | — |
| 130. | චෝඩගංග | — | 9 | — | ,, | එම | — | 9 | — |
| 131. | ලීලාවතී. | 3 | — | — | ,, | එම | 3 | — | — |
| 132. | සාහසමල්ල. | 2 | — | — | ,, | එම | 2 | — | — |
| 133. | කල්‍යාණවතී | 6 | — | — | ,, | එම | 6 | — | — |
| 134. | ධර්මාශෝක | 1 | — | — | ,, | එම | 1 | — | — |
| 235. | අනීකඞ්ග. | — | — | 17 | 59 | එම | — | — | 17 |
| | ලීලාවතී (නැවත) | 1 | — | | ,, | එම | 1 | — | — |
| 136. | ලෝකේශ්වර | — | 9 | — | ,, | එම | — | 9 | — |
| | ලීලාවතී (නැවතත්) | — | 7 | — | ,, | එම | — | 7 | — |
| 137. | පැරකුම්පඬි. | 3 | — | — | ,, | එම | 3 | — | — |
| 138. | මාඝ (කාලිඞ්ග) | 21 | — | — | 60 | එම | 21 | — | — |
| 739. | විජයබාහු III | 4 | — | — | ,, | දඹදෙණිය | 4 | — | — |
| 140. | පරාක්‍රමබාහු II | 35 | — | — | 61 | එම | 35 | — | — |
| 141. | විජයබා IV | 2 | — | — | 62 | පො: නරුව | 2 | — | — |
| 142. | භුවනෛකබාහු I | 11 | — | — | 63 | දඹදෙණියාපව්දෙ නුවර | 11 | — | — |
| 143. | පරාක්‍රමබාහු III | 5 | — | — | ,, | පො: නරුව | 5 | — | — |
| 144. | භුවනෛකබාහු II | 2 | — | — | ,, | කුරුණෑගල | 2 | — | — |
| 145. | පණ්ඩිතපරාක්‍රමබාහු IV | — | — | — | ,, | එම | — | — | — |
| 146. | භුවනෛකබාහු III | — | — | — | ,, | එම | — | — | — |
| 147. | විජයබාහු V | 12 | — | — | ,, | එම | 12 | — | — |
| 148. | භුවනෛකබාහු IV | 7 | — | — | ,, | ගම්පළ | 7 | — | — |
| 149. | පරාක්‍රමබාහු V | 5 | — | — | 64 | එම | 5 | — | — |
| 150. | වික්‍රමබාහු III | 15 | — | — | ,, | එම | 15 | — | — |
| 151. | භුවනෛකබාහු V | 20 | — | — | ,, | එම | 20 | — | — |
| 152. | වීරබාහු II | 21 | — | — | ,, | එම | 21 | — | — |
| 153. | ශ්‍රී පරාක්‍රමබාහු VI | 52 | — | — | 65 | රයිගම් නුවර සහ කෝට්ටේ | 52 | — | — |
| 154. | ජයබාහු II † | 2 | — | — | 66 | කෝට්ටේ | 2 | — | — |
| 155. | ශ්‍රීභුවනෛකබාහු VI | 7 | — | — | 67 | එම | 7 | — | — |
| 156. | පණ්ඩිතපරාක්‍රමබාහු VII | 9 | — | — | ,, | එම | 9 | — | — |
| 157. | වීරපරාක්‍රමබාහු VIII | 22 | — | — | ,, | එම | 22 | — | — |

† මෙතෙමේ සපුමල් කුමාර අවයෝමෙකි දෙවර්ෂයක් රාජ්‍යය කෙළේය.

| (ක්‍රිස්තු වර්ෂයට පසුව) | | කාලය. | පිළිගතහැකි වර්ෂ නියමය. | |
|---|---|---|---|---|
| සංඛ්‍යාව. | නාම. | ව: මා: දි: (පිට) | රජකළ නුවර. | ව: මා: දි: |
| 158. | ධර්මපරාක්‍රමබාහු IX | 20 — — ,, | කෝට්ටේ | - 20 — — |
| 159. | විජයබාහු VIX | 25 — — ,, | දෙවුන්දර සහ කෝට්ටේ | - 25 — — |
| 160. | භුවනෙකබාහු VII | 17 — — ,, | කෝට්ටේ | - 17 — — |
| 161. | ධර්මපාල | 12 — — 75 | එම | - 12 — — |
| 162. | මායාදුන්නේ | 30 — — ,, | සීතාවක | - 30 — — |
| 163. | රාජසිංහ I | 11 — — 78 | එම | - 11 — — |
| 164. | විමලධර්මසූර්ය I | 12 — — 87 | සෙංකඩගල | - 12 — — |
| 165. | සෙනරත් | 30 — — 93 | එම | - 30 — — |
| 166 | දේවරාජසිංහ II | 50 — — 94 | එම | - 50 — — |
| 167 | විමලධර්මසූර්ය II | — — — 95 | එම | - — — — |

## ලංකාවේ සුළු ප්‍රදේශ ආණ්ඩුකළ රජවරු.

| | නාම. | රජකළ නුවර. | පිට. |
|---|---|---|---|
| 1. | මානා. | මාගම | 24 |
| 2. | යටාල තිස්ස. | කැලණිපුර | 24 |
| 3. | ගොඨාභය | රුණමාගම | 25 |
| 4. | කාවන්තිස්ස. | එම | 25 |
| 5. | කැලණිතිස්ස. | කැලණිපුර | 26 |
| 6. | කිත්සිරිමේවන් | මානාසුල | 51 |
| 7 | වික්‍රමබාහු (කාසුප් | රුහුණ | 57 |
| 8 | මහලේ (මහලානකිත්ති) | එම | 57 |
| 9 | වික්‍රම පණ්ඩිත | කළුතොට | 57 |
| 10. | ජගත්පාල. | රුහුණ | 57 |
| 11. | පරාක්‍රමපඬි. | එම | 57 |
| 12. | ලෝකේශ්වර සෙනෙවි | කතරගම | 57 |
| 13. | වීරඅලකේශ්වර. | මුහුදුබඩ * | 64 |
| 14 | සකලකලාවල්ල | උඩුගම්පළ | 68 |
| 15. | තනියවල්ල. | මාදම්පේ | 68 |
| 16. | ජයවීරබණ්ඩාර. | ගම්පළ | 69 |
| 17 | වීදියේරජ. | පැලෑද | 76 |
| 18. | එදිරිමාන්න සූර්ය. | සත්කෝරළේ | 79 |
| 19. | ජයවීර. | සෙංකඩගල | 90 |
| 20. | කුමාරසිංහ. | ඌව | 93 |
| 21. | විජයපාල. | මාතලේ සහ ඌව | 93 |

* කතරගමට ආසන්නව වාසයකළබව පෙනේ.

# රාජාවලිය.



**නමො තසස භගවතො අරහතො**
**සමමාසමබුඩසස.**



අනෙක රශ්මි ප්‍රභාරජිතව යුගන්ධරෙද්ගත සූය්‍ය්‍ය දිව්‍ය රාජයාමෙන් සවණ්ණවර මාලිගාතුරෙහි සිංහාසනා රූඪව යශො රශ්මි ප්‍රජ්වලිතවූ මහාබ්‍රහමරාජශ්‍රීවිලාස යෙන් රජ පැමිණි මහාසම්මත නම් සූය්‍ය්‍යවංශොද්භූතවූ රාජදිව්‍යාකරෙත්තමයා ආදිකොට රාජවංශය ප්‍රකාශකොට දක්වනුලැබේ- හේ කෙසේදයත්? මේ මහාභද්‍රකල්පය හටගන්නට පළමුව කොළලක්‍ෂයක් සක්වළ එකපැහැර යට අජටාකාශය දක්වා මහාපෘථිවිමෙරුපර්‍වතාදිය ගින්නෙන් දා එකකුහර ව නොසැදූ බෙරක්සේ නැසී සිටිකල නැවත හැමසතුන්ගේ පිනින් සම්පත්තිකර මහාමෙඝයක් වසින්ට පටන්ගනිති හෙද පළමුවෙන් හිදිකටු සුන්සාල්පමණ වැසි වැස ක්‍රමයෙන් හීදඬු සා වැස හුණදඬු පුවක්කඳන්සේ වැසිධාරා වැස තල්කඳ පොල්කඳන්සේ වැසිධාරාවැස ක්‍රමයෙන් ගවුදෙගවු තුන්ගවු පමණ වැසිපොද ධාරා වැස දහස් දෙදහස් යොදුන්වට වැසිපොද ධාරා වැස ගින්නෙන් දා ගිය කොළලක්‍ෂයක් සක්වළ ශුඩාවාස බඹලොවදක්වා ජලයෙන් පිරී සිටිනේය. මෙසේ බඹලොවදක්වා පිරීසිටිත ජලප්‍රවාහය සත්ත්වයන්ගේ කුශලකර්‍මබල යෙන් හටගත් වාතවෙගයෙන් දියබඳ අතික් සක්වළකට දිය බින්දුවක් පමණකුදු යානොදී පත්දුවක්සේ වාත බන්ධනයෙන් පෙරළී පෙරළී දිය රඳවා ක්‍රමක්‍රමයෙන් වියැළී වියැළී දියවර බොල්කෙරෙමින් පහත්බැස පළමු ශක්‍රභවනය පිහිටි තැනට ලංවේ. එකල පළමු බඹලොව පිහිටිතැන් බඹලොව පහළවේ දෙව්ලොව පිහිටිතැන් දෙව්ලොවපහළවේ,එකල ආභස්සරාදී මතු බඹතලවල වසන බ්‍රහමරාජයන් අතුරෙන් ඇතැම්කෙනෙක් ආයුක්‍ෂයවීමෙන් හෝ පුණ්‍යක්‍ෂයවීමෙන් හෝ එයින් චුතව මහා බ්‍රහ්මය, බ්‍රහමපුරොහිතය,බ්‍රහමපාරිෂද්‍යය යන ප්‍රථමධ්‍යාන තුන් තල යෙහි උපදිත්. ඇතැම්කෙනෙක් පරනිර්මිතවශවර්‍තිය, තුෂි

තය, යාමය යනාදි දිව්‍යලොකයන්හි උපදිත්. නැවත ජලය
ක්‍රමයෙන් අඩුවීගොස් මිනිස්ලොව පිහිටනතැනට බටකල්හි යට
අජටාකාශ මස්තකය නවලක්‍ෂසැටදහසක් යොදුන් වාපොළොව
පිහිටිය. ඒ වාපොළොව මත්තෙහි සාරලක්‍ෂඅසූදහසක්
යොදුන් ගැඹුරඇති ජලපොළොව පිහිටිය. ඒ මත්තෙහි
එක්ලක්‍ෂවිසිදහසක් යොදුන් පමණ ඝනයඇති ගල්පොළොව
පිහිටිය. ඒ මත්තෙහි දෙලක්‍ෂසතලිස්දහසක් යොදුන් ඝන
කඩ මහාබොල්පොළොව පිහිටිය. එකල මුහුද වුවමනා
තැන් ගැඹුරුවිය. සක්වළ වුවමනාතැන් ත්‍රිකූට සත්කුළපව්
මහමෙර සක්වළ ගල් පිහිටියේය මෙසේ මෙර හා සතරමහ
දිවයින්වෙයි. එකල කෙළලක්‍ෂයක් සක්වළ ලොඇදිරි මහා
නරකයක්මෙන් එකාන්ධකාරව පවත්නේය ඉක්බිති බඹලො
වින් බඹහු අවුත් මිනිස්ලොවටබැස තමන්තමන්ගේශරීරාලොක
යෙන් ඒකාලොකකොට ප්‍රීතිසැප අනුභවකෙරෙමින් අහස්හිම
ඇවිදිනාහුය. එකලට මෙ කෙළලක්‍ෂයක් සක්වළෙහි දියබැස
මේ මහා පෘථිවියෙහි පස් දඹුවැල්බෑ මීයක රසමෙන් ඉතා මධුර
වූ රසයෙන් යුක්තව පවත්නේ එකල බඹුන් අතුරෙන් එක්
ලොල්වූ ලොභවූ සිත්ඇති බ්‍රහමයෙක් කැකෑරූ පැණිමෙන්
තිබෙන පොළොවෙහි පස්කලල් ඇඟිල්ලෙන් මදක්ගෙන දිවගා
බලා ඉතා මධුරසේ දැක. ඒ බ්‍රහමයා කුල්මත්ව මහා පෘථිවියෙහි
පස් තෙමේම කන්ටවන. එකල ඔහුබලා සෙසුබඹහුද මහපො
ළොවෙහි රස කන්ටවන්හ. මෙසේ බඹහු ඔවුනොවුන්හා සමව
නොවෙනස්ව මහපොළොවෙහි පස්ම අනුභවකරන්නාහු සැට
දහසක් හවුරුදු ඉක්මගියාහුය. මෙසේ සැටදහසක් හවුරුදු
මහපොළොවෙහි අමාරස අනුභවකරමින් කල්යවනකල්හි බඹහු
ලොභසිත් උපදවා මහාපෘථිවියේ මේ තොපටය මේ අපටයයි
කියා දැතින් පතින් තමන් දිසාවට නතු කොට ගොඩකරගතිති,
එවිට ඔවුන්ගේ බලවත් ලොභයෙන් පෘථිවිරසය අන්තර්ධානවිය.
දෙවැනිව ඔවුන්ගේ කුශලබලයෙන් ජීවත්වනපිණිස *භූමිපටට
නම්වූ රත් කැවිල නම් සතුවගීයෙක් පහළව එයින්ම පසළොස්
දහසක් හවුරුදු සතුටුව අනුභවකොට එයින් ජීවත් වූ වාහුය.
එකල බඹහු නවතවත් ලොභඋපදවා ඝැම්පලා වතුමෙන් සීමා
නියමකොට ඉන් තෝරාගතිති. ඉක්බිති ඒ සතුද ඔවුන්ගේ

---

* ඉහසතු කැකුළුවැනි, අමාරසවැනි, සතුවගීයෙක් පහළවිය, යි
ලොකොත් පත්තියෙහි කියාතිබේ.

ලොභය කාරණකොටගෙන අන්තර්ධානව තුන්වැනිව ඉතාමධුරවූ භද්‍රලතානම්වූ ලියජාතියෙක් පහළවිය. එයින්ද පන්තිස් දහසක් හවුරුදු ඒ ලියජාතිය අනුභවකළාහුය. භද්‍රලතානම්වූ ඒ ලියජාතිය දුටුවිට ඒ ඒ තැනම කඩාකන හෙයින් සෙසුබඹහු අපඉදිරියෙහි තුබූ ලියජාතිය "තොපිකාච්දූයි" කියා වළකති. එකලඔවුන්ගේ බලවත් ලොභයනිසාම ඒ ලියජාතිය අන්තර්ධානව සතරවැනිව ඔවුන්ට කප්රුකෙක් පහළවිය, එයින් ඒ සියල්ලම ගෙන දෙවිසිලක්ෂයක් හවුරුදු සුවසේ රැකුණාහුය. දෙවිසිලක්ෂයක් හවුරුදු එයිනුදු රැකුණුකල්හි ඔවුන්ගේ ලොභය බලවත්සේ වඩුත් වඩුත් කප්රුකද අන්තර්ධානව පස්වැනිව කුඩුනැති, දහිනැති, මුතුසේ,පිරිසුදු, මිහිරි, සුවඳඇති ස්වයංජාත හැල් පහළවිය. ඒ ස්වයංජාතහැල්ගෙන පහළවූ මැණික් බදුන් හිලා මැණික් උදුනැ නගා පිළියෙළවූ දිවබොජුන් වැනිවූ සුවඳ බත් අනුභව කරනකල්හි බඹහු හැමදෙනාගේම ශරීරාලොකය අන්තර්ධානවිය, අහසින් යන සෘද්ධිනැතිවිය, භූමියෙහි ඇවිදිනා සුලුවිය. එකල ඔවුන් පන්තිස්දහසක් හවුරුදු කිසිම වෙනසක් නොවනසේ ස්වයංජාත සුවඳ රත් හැල්සාලේබත් අනුභව කළාහුය. එතැන්පටන් ඔවුනොවුන් ලොභවශගව මේ තොපවය මේ අපටයයි කියා ක්ෂෙත්‍රවල්හි සීමානියමකළාහු. ඒ නියම කළ සීමා ඉක්ම ඒ ඒ තැනින් සොරාගෙන කන්ටවන්හ. එසේ කන්නවුන්දැක එතැන්පටන් උනුන්කෙරෙහි බද්ධ වෛරව සොරා ගන්නවුන් කැට පහණ මුගුරු ආදියෙන් තළා මරා කියා විරුද්ධකෙරෙමින් ඔවුනොවුන්කෙරෙන් වෙනස්වූහ. මෙසේ සත්වයන් ආහාර අනුභවකරමින් වසනකල්හි ශරීරයෙහි ඕජස බහුලවීමෙන් ජලමලඋපන, ඒ ජලමල නික්මෙනු සඳහා කලට හටගන්නා, පළ මුකුළුසෙසින් ජලමලමාගී බිඳී ඒ ඒ ස්ත්‍රී පුරුෂ ලක්ෂණමය හටගත්තේය. ඈ තුමූන්ට නපුංසක ලිඟුද හට ගත්තේය. එතැන්පටන් ස්ත්‍රී පුරුෂයහයි ව්‍යවහාර විය, එකල සත්වයෝ කල්යාමෙන් ලොභ ද්වෙෂ මොහයන්ගෙන් හරිනවූහ, උනුන් කෙරේ විස්වස් නැතිවීමෙන් වෙනස්වූහ. ශරීරාලොකය නැතිහෙයින් ඝනාන්ධකාරයෙන් මහත් දුකට පැමිණ හැම දෙනම එකසිත්ව කියන්නාහු ඇයි සත්පුරුෂයෙනි මෙතෙක්කල් අපගේ ශරීරාලොකයෙන් මුළුලොව එකාලොක කොට ඇවිද්දම්හ, එහි ප්‍රීතියම ආහාරකොටත් විසුම්හ, විසී තැනට අහසින් යම්හ, දැන් එක අත්බැවමම අපගේ සිතෙහි උපන් ලොභ ද්වෙෂ මොහයෙන් පෙර ඇති මේ හැම, අපට

දැන් අන්තර්ධානවිය, සෙසුදෑ තබා දැන් අන්ධකාරයෙහි වසමහ, එයින් අපට ආලෝකයෙක් ඇත්නම් ඉතා යහපතැයි කියා හැමදෙනම එකසිත්ව සිතූහ. එකල ඔවුන්ගේ පිනින් සිත්හා සමග ඝනාන්ධකාරය විධමනය කෙරෙමින් දෙසාලිස්දහසක් යොදුන් මත්තෙහි අයමින් පනස්යොදුන්හා විතරින් පනස් යොදුන්පමණවූ ඔවුන්ගේ හිරුවිමන ඇතුළතින් සවර්ණමය වන්නේය, පිටතින් දෑවානමය වන්නේය, එසෙයින් හිරු විමන උෂ්ණාකාර වන්නේය. ඒ හිරුමඩලද එකිඑකී දිගින් නවලක්ෂයක් නවලක්ෂයක් යොදුන් අඳුරු විධ්වංසනය කෙරෙමින් ආලෝකපතුරුවා අහසෙහි පහළවී ගමන්යන්නේය. එකදෑඇතුළත සත්විසිලක්ෂයක් යොදුන් පලා යන ගමන්ඇති, එක්පැය ඇතුළත පන්දහසක් යොදුන් පලායන ගමන්ඇති, එක්විනාඩියක් ඇතුළත එක්සියපස්විසි යොදුන් ගෙවා පියන තරම් ගමන්ඇති, එක්හුස්මක්හෙළාලන ඇතුළත පනස් යොදුන් පලායන තරම් ගමන් ඇතිව සිටගත, එකල හැමදෙනම එක්ව හිරුවිමනදැක සතුටුව අප හැමදෙනම දැන් අන්ධකාරයෙන් මිදුණම්හයි කියා සූර්‍යාලෝකයෙන් හිරුවිමන බලබලා නෙයියාඩම් කෙළිති, එවිට හැමදෙනම එක්ව කියන්නාහු, මෙතෙක්කල් අන්ධකාරව උනුම්හ, දැන් අපගේ *"සූර්‍යවිරහයෙන්" හිරුවිමන පහළවූ හෙයින් ඒ ආලෝකමණ්ඩලයට සූර්‍යමණ්ඩලයයි නම්තුබූහ, මෙසේ පහළවූ සූර්‍යවිමානය ඉතා දුරුවගියකල්හි පෙරසෙයින්ම අඳුරටපැමිණ, හිරුමඬලසෙයින් තවත් ආලෝකයෙක් පහළවූයේනම් ඉතා යහපතැයි සිතූහ, ඔවුන්ගේ සිත හා සමග සඳවිමන පහළවිය, ඒදැක අපගේ ඡන්දය ලෙසට පහළවූයේ සඳහුයයි නම්තුබූහ. හිරසඳ පහළවූ දවස්හිම ඉදිරිපසුනොවී එකවිටම මහාමෙරු චක්‍රවාට හිමවත්පර්වත දිවයින් කොදිව් සමුද්‍ර දෙදෙව්ලොව යනාදී සියල්ලම මැදිම් දින පසළොස්වක් පොහෝ දවස්හිම පහළවිය. මෙසේ අනන්තාපරිමාණ සක්වළට වඩා උතුම්වූ කෙළලක්ෂයක් සක්වළද ඊට වඩා උතුම්වූ දසදහසක් සක්වළද ඊටත් වඩා උතුම්වූ මේ මඟුල් සක්වළද පිහිටා තිබෙන්නේය. මේ මඟුල් සක්වළට වටින් සතිස්ලක්ෂ දසදහස් තුන්සිය පනස්යොදුන් ගල්පවුරද එහිමැද ත්‍රිකූටය පිට මහමෙරද පිහිටා තිබෙන්නේය. ත්‍රිකූටය තිස්දහ

* මහත්වූ සූරභාවය දක්වමින් ඝනාන්ධකාරය දුරුකෙළේය. එහෙයින් මොහු සූර්‍යයා හයි නම් තුබූහ,—ලෝකෝත්පත්තියෙහිපෙනේ.

සක් යොදුන් උසය. මහාමෙරු පර්වතය එක්ලක්ෂ අටසැට දහ
සක් යොදුන් උසය, දසදහසක් යොදුන් වටය. මහමෙරඋඩ
ශක්‍රභවනයද යට අසුරභවනයද පිහිටියේය. ත්‍රිකූටයට පිටින්
මහාමේරුව වටකොට නාගභවනය පිහිටියේය. එකඑකට අඩ
භාග මිටිව කුලපර්වතසතක් මෙරවට පිහිටා තිබෙන්නේය. මහ
මෙරට නැගෙනහිර දිශාභාගයෙහි පන්සියයක් ක්ෂුද්‍ර දිවයින්
පිරිවරකොටඇති අටදහසක් යොදුන් පූර්වවිදෙහය පිහිටියේය.
දකුණුදිශාභාගයෙහි පන්සියයක් දිවයින් පිරිවරකොට ඇති
දසදහසක් යොදුන් ජම්බුද්වීපයද පිහිටියේය. බස්නාහිර දිශා
භාගයෙහි පන්සියයක් දිවයින් පිරිවරකොට ඇති සත්දහසක්
යොදුන් අපරගොයානය පිහිටියේය. උතුරු දිශාභාගයෙහි පන්
සියයක් දිවයින් පිරිවරකොට ඇති අටදහසක් යොදුන් උතුරු
කුරුදිවයිනද පිහිටීයේය. මෙකී සතර දිවයින අතුරෙන් ජම්බු
ද්වීපය උතුම් වන්නේය. ජම්බුද්වීපය දියෙන් ගොඩින් දසදහසක්
යොදුන, ඉන් මුහුදට සාරදහසක් යොදුන් ගියේය, තුබූ සදහ
සෙන් තුන්දහසක් යොදුන් මනුෂ්‍ය පථයවිය, අනික් තුන්දහස
හිමාලයට ගියේය. ඒ හිමාලය වට සූවාසූ දහසක් පර්වතය,
එකඑක පර්වතය යොදුන් පන්සියයක් පමණ උසය. හිමාලය
පිට අනවතප්තවිල පිහිටියේය. හිමාලය මහා පර්වතයෙන් ගංගා
පන්සියයක ජලය අනවතප්තවිලට වදින්නේය. වටපනස්
යොදුන් හා දෙසියයක් යොදුන් උසඇති මහාපර්වත සතරක්
විලවටකොට තිබෙන්නේය. අගින් නැමී විලවසා සිටිනේය.
අනවතප්තවිල දිගපුලුල ගැඹුර පනස්පනස්යොදුන් ඇත්තේය.
ඒ විලවටා විල් සයක් පිහිටා තිබෙන්නේය. සිවුමහා
ගංගාවෝද ඒ අනවතප්තවිල වටා පිහිටියාහ. ඒ විලෙන්
එක මුඛයක් සිංහමුඛය. එකක් ගජමුඛය. එකක් අශ්වමුඛය.
එක මුඛයක් වෘෂභ මුඛය. දඹදිව මැදින් සිවුමහා ගංගා වැටු
ණාහ. මහා මුනින්ගේ හිසින් සොළීකරේ මැදින් ගංගානම්ගඟ
වැටුණාහ. හිමාලයෙහි සුදර්ශනපර්වතය, චිත්‍රකූටපර්වතය, කාල
කූටපර්වතය, ගන්ධමාදනපර්වතය, කෛලාසකූටපර්වතය, පිහිටා
තිබෙන්නේය. එහි ගුහා තුනක් ඇත්තේය. එක ගුහාවක්
රන්ලෙනය, එකක් අනගිලෙනය, එකක් රිදීලෙනය, එසේම
පසේ බුදුන් වැඩවසන පන්සියයක් ආරාම ඇත්තේය. ගන්ධර්ව
දෙවියන්ගේ විමානද ඒ හිමාලයෙහි මැවී තිබෙන්නාහ. ඒ
දෙවියෝ පොහෝදිනයෙහි කෛලාසකූටයෙහි දෙවිඳුන්ට බණ

දේශනාකොට පින් දී ඒ විමන වෙසෙති. මෙසින් මේ දඹදිව පින්කෙතය. මේ දඹදිව සදෙව්ලොවටද වඩා උතුම් වන්නේය. මධ්‍යදේශයෙහි බොධිමණ්ඩය උතුම් වන්නේය. බොධිමණ්ඩලයට නැගෙනහිරි දිසාභාගයෙහි සියක් ගවු ගියතැන කාජඞගලානම් නියම් ගමෙක් ඇත්තේය. ඒ ගමට නැගෙනහිර දිශාභාගයෙහි ඉතා මහත් සල්වෘක්‍ෂයෙක් පිහිටියේය. බොධිමණ්ඩයට අග්නි දිග්භාගයෙහි සලලවතීනම් ගංගාවෙක් ඇත්තීය. බොධිමණ්ඩයට දක්‍ෂිණදිශාභාගයෙහි පන්සියයක් ගවු ගියකල ශ්‍වෙත කර්ණිකා නම් නියම්ගමෙක් ඇත්තේය. බොධිමණ්ඩයට බස්නාහිරදිශාභාගයෙහි සසියයක් ගවු ගියතැන ථූනනම් බමුණුගමෙක් ඇත්තේය. බොමණ්ඩයට උතුරු දිග්භාගයෙහි පන්සියයක් ගවු ගියකල උශීරධවජ නම් පර්‍වතයෙක්ඇත්තේය. නැගෙනහිර කියනලද තල්ගස පටන් බමුණුගමට එක්දහස් දෙසියයක් ගවු ඇත්තේය. දකුණුදිග කියනලද ශ්‍වෙතකර්ණිකායෙහි පටන් උතුරුදිග කියනලද උශීරධවජපර්‍වතයට දහස් ගවු ඇත්තේය. මෙසේ අයමින් තුන්සියයක් යොදුන් හා පුලුලින් දෙසිය පනස් යොදුන් හා වටින් නවසියයක් යොදුන් ඇත්තේය.

මේ බොධිමණ්ඩයට පූර්‍වදිශාභාගයෙහි හස්තිපුර නුවරය, මාතඞග නුවරය, සවීර නුවරය, සෞරාෂ්ට්‍ර නුවරය, පුණ්ඩරීක නුවරය කාලිඟු නුවරය, රුවන්ආකර නුවරයයි යනමේසත්නුවර පිහිටියේය. බොමණ්ඩයට අග්නිදිශාභාගයෙහි සැවැත්නුවරය, ජයතුරු නුවරය, සාගල නුවරය, කුසාවතී නුවරය, රාජගෘහ නුවරය, මියුලුනුවරයයි යනමේ සනුවර සලලවතීගංගා දිසාවෙහි පිහිටියේය. බොධිමණ්ඩයට දකුණු දිසාභාගයෙහි අරිට්ඨපුරනුවරය, කුලසවුංග නුවරය, අයොධ්‍යපුර නුවරය, ඉඳිපත් නුවරය, කුරුරටය, බරණැස් නුවරය, කිඹුල්වත්පුර නුවරයයි යනමේ සත්නුවරද දකුණු දිසාභාගයෙහි පිහිටියේය. බොධිමණ්ඩයට බස්නාහිර දිසාභාගයෙහි සිංහබාහු නුවරය, අරිට්ඨපුර නුවරය, විසාලා මහනුවරය, කොසඹෑ නුවරය, පැලලුප් නුවරය, කාණ්ගෞඩ නුවරය, දන්තපුර නුවරයයි මේ සත්නුවර බස්නාහිර දිසාභාගයෙහි පිහිටියේය. ථූනනම් බමුණුගමද මෙකී දිසාවෙහිම පිහිටියේය. බොධිමණ්ඩයට උතුරු දිසාභාගයෙහි උත්තර පඤ්චාල නුවරය, රෝජගය, වසාවසස නුවරය, තක්සලා නුවරය, කුසිනාරා නුවරය, තාම්‍රපර්ණී නුවරය, ගෞඩදේශය, ගන්ධාර

දේශය යනමේ අටමහනුවර උතුරු දිසාභාගයෙහි පිහිටියේය. මේ පන්තිස් නුවරට අයිතිව ලොවුතුරු බුදුන්හා චක්‍රවර්තිරජුන් හා මහධනසිටුවරුන් හා මහෙශාක්‍යදෙවියන් හා අසූමහසව්වන් හා පසේබුදුන් හා උපදනා ස්ථානයයි දතයුතු.

බංගාලදේශය, අරමන රටය, වගුරටය, කොංගණරටය, කන්නඩිරටය, සින්ධුදේශය, ඕරංගලදේශය, නෙපාලරටය, ගුජ්ර රටය, තීගුරරටය, දෙලුවර රටය, සබර රටය, වඞ්ගරටය, චීරකුලීරටය, කල්‍යාණරටය, අරණරටය, වෙගුරටය, කණ්ණාට රටය, ලාටරටය, පල්ලර රටය, හීරරටය, කාකරටය, කාණ්දේශය, චූඩදේශය, මාලවරටය, මලයූර රටය, පණ්ඩරදේශය, චීනය, මහාචීනය, කාශ්මීරය, යොනකදේශය, බබුරුදේශය, ප්‍රතිකාල්දේසය, සපාඤ්ඤය, අල්මඤ්ඤය, නලියානය, පෙල්වක්කාය, රෝමය, තොරමානය, ඩරමානය, පාඩිරටය, සොළීරටය යන මේ රටවල ලොවුතුරු බුදුවරයන්හා චක්‍රවර්ති රජවරුද නූපදිනාබැව් දතයුතුයි. මෙකපට බුදුවන්නට පෙරුම්පිරූ පස්බුදුවරයන්ගෙන් කකුසඳ බුදුන් බුදුව දෙවෙනිව කෝනාගමනම් බුදුන් බුදුව තුන්වෙනි කාශ්‍යප බුදුන් බුදුව සතරවැනිව ගෞතමනම් බුදුන් බුදුව පස්වෙනි මෛත්‍රෙය බුදුන් බුදුවන කල්හි මේ මහාභද්‍රකල්පයයි නම්විය දසඅවුරුද්දෙහි සිට ආයු වැඩීගොස් අසඞ්ඛ්‍යය පිරීසිටි කල්හි සත්ත්වයන්ගේ පාපකර්මබහුල වීමෙන් ආයු අඩුවී දශඅවුරුදුවූවිට රොගාදියෙන් එකක් මුල්වීමෙන් සතුන් නැසීයන කල්හි මේ අතරතුර අන්තඃකල්පයයි දතයුතුයි. පළමුව බඹ උපතසිට අන්තඃකල්පයට ලොවට රජකළ රජතෙම මහා සම්මත නම්විය පළමුවන අන්තඃකල්පයෙහි සතර දිවයින අඳුරුව උන් සත්ත්වයන්ට එළියදෙන්ටත් මේ කප පස් සර්වඥවරයන් බුදුව නිරුදුක් විදි සතහට නිවන්සැප දෙන්ටත් සූර්‍ය්‍යදිව්‍යපුත්‍රයා පහළව ලොවට එළියකළද උපන් පින්වත් කුමාරයා බඹඋපතින් පහළවූ මනුෂ්‍යයන් හැමදෙනාගේ සම්මතයෙන් මහාසම්මත නම් රජකෙළේය. ඒ රජ හිරුරස් කලබක්සේ ආලොක ඇත්තේය. ආකාශයෙහි පළක්බැඳ සිට මහාජනයාට අනුශාසනාකරන සෑඩි ඇත්තේය ඔහු සියලඟින් සඳුන් සුවඳ විහිදෙන්නේය. සිඞ්විද්‍යාධරයෝ සතරදෙනෙක් කඩුගෙන රජුට සතරදිග රකවල්ගෙන සිටිති. ඔහුබැණනැගිකල්හි මුඛයෙන් යොදුන් තැන් මහණෙල්මල් සුවඳ විහිදෙන්නේය. ඒ රජහට මෙසේවූ සෑඩිඇත්තේය. ජරා පිළිකුල්

නැතිව අසඞ්ඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. එකල සියලු සතුන්ට අසඞ්ඛ්‍යයට ආයුෂය. ඒ අවධියට සිවුපාවෝ සිංහයා රජකමට ගත්තාහ. මුහුදු මත්ස්‍යයන්ට ආනන්දනම් මත්ස්‍යයා රජකළාහ.

මහා සම්මත රජුපුත් **රෝජ** නම් රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඔහුපුත් **වරරෝජ** නම් රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඔහුපුත් **කල්‍යාණ** රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජ කෙළේය. ඔහුපුත් **වරකල්‍යාණ** රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජකෙළේය ඔහුපුත් **උපෝසථ** රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජ කෙළේය. ඔහුපුත් **මහාමන්ධාතු** රජ චක්‍රවර්ති රජව මහත්වූ ආඥා තෙජස් ඇතිව සත්රුවන් වැසිවස්වා වටින් තිස්යොදුනක්පමණ රුවන්ධන ගොඩකරවා පුරවන්නේය. ඒ රජ මෙසේ මිනිස් ලොව බොහෝකලක් සුවවිඳ ඒ ආත්මභාවයෙන්ම දෙව්ලොව නැගී සතිස් ශක්‍රකෙනෙකුන්ගේ ආයු පමණින් එක්සිය විසිනව කෙළ සැටලක්‍ෂයක් අවුරුදු දිව්සැපත්විඳ නැවත එම ආත්මභාව යෙන් මිනිස්ලොව බැස* ඒ ඇතුළුව අසඞ්ඛ්‍යයක් අවුරුදු රජ කෙළේය. ඔහුපුත් **වරමන්ධාතු** නම් රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඒරජ ඇමතියන් පඬුරුදී සතුටුකරමියි සිතා පාද යන් ගැටීම කළවිට නැමැති සම්පත් පැතිරෙයි. ඔහුපුත් **චර**නම් රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඔහුපුත් **උපචර** නම් රජ අසඞ්ඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඔහුපුත් **චෙතිය** රජ අසංඛ්‍ය යක් අවුරුදු රජකෙළේය. ඒරජ එක ගුරුන්ගෙන් ශිල්ප උගත් කෝරකළාරනම් බමුණුට "අග්‍රපුරෝහිත තනතුරු දෙමි"සි කියා ඔහුට බෑණකපිල නම් පුරෝහිතයන් බොරුකියා බාලකරවා කෝරකලා බමුණු මහලුකොට තනතුරු දෙමියි කියා නුවර බෙර ලැවූහ. ඒ ඇසූ රාජ්‍යවාසීන් "බොරුනම් සුදුද්දෝ හොයි, කළුද්දෝ හොයි, රතුද්දෝ හොයි, නිල්ද්දෝ හොයි අද ඒ බලමහයි" රැස්වූකල්හි, කපිලරුසි වළක්ව වළක්වා නොවැළක ලොවට බොරු උපදවා එකෙණෙහිම මහපොළොව ගැලී ජන්දයෙන් අවීචියට ගියේය. බොරු ඉපදවූ ඒ **චෙතිය** රජහට පුත්‍රයෝ පස්දෙනෙක්වූහ **කපිල**රුසිහුගේ අනුශාස නාවූපරිද්දෙන් ඔවුන්ගෙන් එක්කෙනෙක් බරණැස පූර්වභාග

---

* මිනිස්ලොව හා **දෙව්**ලොවත් රජකාළ එකම වශිගණන අසඞ්ඛ්‍යයක් බවත් දෙව්ලොවින් බැස මිනිස්ලොව තමන්ගේ මඟුල්උයනෙහි කලුරිය කළබවත් සඞ්ඛෙමාලඞ්කාරයෙහි කියාතිබේ.

යෙහි හස්තිපුරනුවර කරවාවිසීය. එක්කෙනෙක් දකුණුදිග් භාගයෙහි අශ්වපුරනුවර කරවාවිසීය. එක්කෙනෙක් බස්නාහිරි දිග්භාගයෙහි සිංහපුරනුවර කරවාවිසීය. එක්කෙනෙක් පශ්චිමදිග්භාගයෙහි දන්තපුරනුවර කරවාවිසීය. එක්කෙනෙක් උත්තරදිග්භාගයෙහි උත්තර පඤ්චාලනුවරකරවාවිසීය. එකලට පළමුවයෙදූ මේ මුසාවාදය ලොව පහළවිය. එතැන්පටන් දෙවියෝ රජුන් අරක්ගෙන නොසිටියාහ. එකල අරක් පිණිස දෙවියන් නොලදින් මල්රජකුමරුවෝ සතරදෙනෙක් රජුන්ට කඩු ගෙන අරක්ගෙන සිටියාහ. ඔවුන් සතරදෙනාගේ දරු මුනුබුරු සියදහස්ගණන් ඇතිවූහ. තව වැඩිව උපන් රජදරුවන්ට ආත්මරක්ෂායෙහි නියුක්තව දහස්ගණන් රජහු පැවැත්තාහයි දතයුතුයි. ඒ චෙතියරජුගේපුත් **මහාමුචලින්ද** නම් රජ පියරජ පොළොවපලාගිලූ හයින් බොරුනූපදවා පෙර රජකළ රජුන්කළ කාරිය නොවරදවා කොට අසංඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඔහුපුත් **මුචලින්ද**රජ අසංඛ්‍යයක් අවුරුදු රජකෙළේය. ඔහුපුත් **සගර** නම් රජ අසංඛ්‍යයක් අවුරුදු රජකෙළේය ඔහුගේ සැටදහසක් පමණ පුත්‍රයෝ මුළු දඹදිව වෙනවෙනම සැටදහසක් පමණ රජධානි උපදවා වෙනවෙනම චක්‍රවර්ත්තිස්වරූපයෙන් රාජ්‍යය කොට මහාසම්මතරාජවංශ නමැති මහාලතායෙහි මල්පිපී වැනීගියාසේ රාජවංශය අසංඛ්‍ය ගණන් වර්ගග කළාහ. ඔවුන්ගේ වෙනවෙන ම වර්ගපරම්පරායෙහි මුනුබුරු රජදරුවෝ දීර්ඝ කාලයක් ගියකල ඔවුනොවුන්ගේ වර්ග විභාගය නොදැන වෙනවෙනම රාජවංශ ව්‍යවහාර කළාහ. පළමු හැම රජදරුවෝ ම මහාසම්මතවංශයෙහියයි දැනගතයුතුයි. ඒ සැටදහසක් රජුන් අතුරෙන් **සාගර** නම් මහලුපින් අසංඛ්‍යයක් හවුරුදු රාජ්‍යයකෙළේය. ඔහුගේ පුත්‍ර **භගීරථ** නම් රජ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍ර **භරත** නම් රජ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍ර **රුචි** නම් රජ අසංඛ්‍යයක් හවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍ර **සුරුචි** නම් රජ අසංඛ්‍යයක් හවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍ර **ප්‍රතාප**රජ අසංඛ්‍යයක් හවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍ර **මහාප්‍රතාප** රජ නමබිසව් කුමාරයන් සත්මැසි කාලයෙහි මේ මහාප්‍රතාප රජ එනවේලායෙහි ආසනයෙන් නොනැගී පුතණුවන් වඩාගෙන උන්හයි කියා කොපව ඒ වරදට වධකයා ලවා ධම්පාලකුමාරයාගේ අතපය කප්පවා, අසිමාල නම් වධකොට මරාපීය. ඒරජ ඒ පවින් අවීචිමහානරක

යෙහි වැටුණේය. එතැන්පටන් ප්‍රාණඝාතය ලොවට පහළවිය. උපනුපන් අකුශලයෙන් ධර්මය නැතිව අනන්තාන්තවන හෙයිනුත් නැවත රජදරුවන් අධාර්මික වන හෙයිනුත් රජදරුවන්ගේ ආයුස ක්‍රමයෙන් අඩු වී වර්ණය අඩු ව ගියේය. **මහාප්‍රතාප** රජුගේ පුත්‍රයෙක්වූ **පනාද** රජ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍රවූ **මහාපනාද** රජ සක්දෙව් රජහුගේ නියොගයෙන් මිනිස්ලොව ඉපද සත්රුවන් මහපායක දස දහසක් නළුවන් හා සමඟ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යයකෙළේය. ඒ මහාපනාද රජුගේ පුත්‍රවූ **සුදස්සි** නම් රජ චක්‍රවර්ති රජව සත්රුවන්පාය සමාතවූ දෙලොස් යොදුන් බරණැස් නුවර අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍රවූ **නෙරු** නම් රජ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. ඔහුගේ පුත්‍රවූ **මහානෙරු** නම් රජ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. ඔහු ගේ පුත්‍රවූ **අර්චිස්මත්** රජ අසංඛ්‍යයක් අවුරුදු රාජ්‍යය කෙළේය. මේ අටවිසි රජහු මහාසම්මත රජයාගේ පටන් අසංඛ්‍යායුෂ්කව රාජ්‍යයකළ රජදරුවන් බැව් දතයුතුයි. **අර්චිස්මත්** රජුගේ දරු මුනුබුරෝ අසංඛ්‍යයක් ආයු නොලදින් කෙළගණන් ආයුවළඳා මියුලුනුවර රාජ්‍යය කළාහ. එහි රාජ්‍යයකරන **මඛාදෙව** රජ ඉස නරකෙසක්දැක එය කපුවාලවා උදුරුවා කපුවාට මහත් තනතුරුද **මඛාදෙව** පුතුට රාජ්‍යයද පාවාදී මඛාදෙව නම් අඹඋයනෙහි සුවාසූදහසක් හවුරුදු තපස්කොට[1] ආයුකෙළවර බ්‍රහ්මලොකයෙහි උපන්හ. ඒ රජහු පටන් මහාසම්මත **යන** නම පෙරළී. **මඛාදෙවවංශය** විය. ඒවංශයෙහි සුවාසූදහසක් දරු මුනුබුරු රජදරුවෝ පළමු නරකෙස දැකීමෙන් පෙරරජුන් කළ සිරිත් නොවරදවා රාජ්‍යය හැර තපස්කොට· බ්‍රහ්මලොක යෙහි උපන්නෝයි. ඒ මියුලුනුවර එක එක රජ තුන්ලක්ෂ තිස් දහසක් හවුරුදු බැගින් ආයුවළඳා රාජ්‍යය කෙළේය. පසුව ජරා විලි පිළි දැක බොහෝ රජහු තපසට නොගියාහ. * ඒ මඛාදෙව වංශය පෙරළී කෙළවර රාජ්‍යය කළ රජතෙමේ **අශොක** නම් විය. ඔහුගේ පුත්‍රතෙමේ **ප්‍රතාප** යන නමින් රජවිය. ඔහුගේ පුත්‍රතෙමේ **ඔක්කාක** යන නමින් රජවිය. ඒ වංශය **කුශරාජ** වංශයයිද ව්‍යවහාර කළහ. මේ ඔක්කාක වංශයෙහි **අජස**, **දශරථස**, **රාමස**, යනාදී වූ **ලක්ෂයක්** රජදරුවන් අතුරෙන්

---

1 අඹඋයන නොසිට හිමවනට ගියබැව් පෙනේ.

* (මිළගට] කාලාර ජනකාදී අසූසාරදහසකැයි මහාවංශයෙහි කියනලදී.

සමහර කෙනෙක් පනස්දහසක් හවුරුදුය, සමහර කෙනෙක් සතලිස් දහසක් හවුරුදුය, සමහර කෙනෙක් තිස්දහසක් හවුරුදුය. සමහර කෙනෙක් විසිදහසක් හවුරුදුය සමහර කෙනෙක් පසළොස්දහසක් හවුරුදුය, සමහර කෙනෙක් දසදහසක් හවුරුදුය, සමහර කෙනෙක් පන්දහසක් හවුරුදුයයි මෙසේ ක්‍රමයෙන් බැසබැස ආයු වැළඳුවාහ. තවද එක්ලක්‍ෂයක් රජුන් අතුරෙන් කෙළවර විතීය **ඔක්කාක** නම් රජෙක්විය. * ඔහුගේ පුත්‍ර පරම්පරාවෙන් **උදය භද්දය, ධනංජයය, කොරව්‍යය, වෙස්සානරය, සිංහවාහනය** යනාදිවූ ලක්‍ෂයක් රජදරුවන් රාජ්‍යය කරන කල්හි දසදහසක් අවුරුද්දෙහි පටන් ක්‍රමක්‍රමයෙන් ආයු බසින්නටවන. එයින් ඇතැම් රජදරුවෝ සවල්පවූ ආයුවළඳ රාජ්‍යය කළාහ. ඒ වංශයෙහි කෙළවර **සුත** නම් රජුගේ පුත්‍රවූ **අභිමස** යන නම්ඇති **තෘතීය ඔක්කාක** නම් රජෙක්විය. ඒරජහු පන්සියයක් බිසෝවරුන් අතුරෙන් **සොභාවතී** නම් බිසව අගමෙහෙසුන්කොට ගත්හ. ඒ අග්‍රමහිෂිකාවට දරුවන් නැතිහෙයින් අගමෙහෙසුන්කොට ගත් **හස්තපාලා** නම් බිසව පිරිමින් පුතුන් සතරදෙනකු හා දූන් පස්දෙනකු වදා කාලක්‍රියාකළාය. එකල අනික් බිසවක් අගමෙහෙසුන් කෙළේය. ඒබිසව තෘතීය ඔක්කාක රජහටවදාකොට **ජන්තු** නම් පුත්‍රයකු වැදූවාය. ඒ කුමරු පස්මැසි වයසෙහි නහවා සුවඳමල් පලඳවා ගෙනගොස් "හිමි තොපපුතු රූසිරු බලව"යි කියා රජුඅතට මල්දමක්සේකුමරු දූතින් ඔසවා වැඩූ කල්හි ඒරජකුමාරයා මහත්වූ ප්‍රෙමයෙන් සිඹ සනසා පෙම් පතුරුවා **දසන** මුවරඳ විසර්ජනය කෙරෙමින් සිනාසෙන බිසවුන් මුහුණබලා මෙවැනි පුත්රුවනක් වදාදුන් නුඹට සිත්සේ කැමැති වරයක් ගනුවයි බිසවට කීහ. එසඳ බිසව හිමි මටදුන්වරය මා කැමැති දවසෙක ගනිමියි කියා කුමාරයන් වැඩීගියසඳ රජ්ජුරුවන් සමීපයට පැමිණ, හිමි මටදෙමියිකී වරය දෙන් නෙහිනම් මපුතුට රාජ්‍යය දෙව,යි කීවාය. එබසට රජ කිපී "කොළ චණ්ඩාලදුව කල්පවෘක්‍ෂයන් වැනිවූ මපුතුන් සතර දෙනෙකු ඉන්දදී තීපුතුට රාජ්‍යය ඉල්වයිද"? කියා සිරියහන් ගෙට වන. තවද කීපදිනක් ගියකල රජහු ප්‍රියවාසයෙන් වසනසඳ බිසව කියන්නී "මහරජ තොපවැනි ධර්මිෂ්ට රජුන්ට බොරු කීම සුදුසු නො වෙයි. පෙර බොරු කී රජ පොළොව

* ද්විතීය ඔක්කාක රජතුමා සම්බන්ධව මහාවංශයෙහි කිසිවක් නොපෙනේ.

පළාගෙන ගියා තැසූද, තොපවැනි රජුන්ට බොරුකීම සුදුසු නොවෙයි. ධර්මිෂ්ටරජ නොවෙයි කැමතිවර දෙමැයි පළමුව කියා දූන් මා ඉල්ලූවිට නොදෙමියි කිය"යි මෙසේ නොයෙක් වර තිස්‍යබැණ රාජ්‍යය ඉල්වයි. මෙසේකල ඒරජ බොරුකී බසට ලජ්ජාඇතිව පිළිකුලක්සේ සිතාගෙන පළමුපුතුන් සතර දෙනා කැඳවා කියන්නාහු "මාගේ දරුවෙනි, සැතිරි මායම්දනී ජනතු කුමාරයාට මා ඉන්දදීම රාජ්‍යය පාවාදීපිමි. එබැවින් තෙපි මාගේ වල්විදුනාව හා තළල්පට හා මගුල්කඩුව හා රුවන් මිරිවැඩි හා දළපුඩු සේසත හා මෙපමණක් තිබියදී තොප කැමැති රන්රුවන් ඇරගෙන කැමැති සෙනග කැමැති පිරිසගෙන මෙනුවර නොසිට කැමැති තැනකට යව"යි කියා පුතුන් සතරදෙන සිඹ සනහා තුරුලුකරගෙන කඳුළුවගුරුවා යන්ට සමුදුන්හ. එකල ඒ කුමාරවරු සතරදෙන පියරජනු වැඳ අවසරගෙන කැමැති පමණ රන්රුවන්ගෙන කැමැති පිරිස ගෙන නුවරින් නික්මුණාහ ඒ රජහුගේ දූවරු පස්දෙනාද එපවත්අසා අප මල්බෑකුමරුවෝ රටින් යෙත්නම් අපි කවුරුන් බලා ඉඳුමෝදැයිකියා වැඩිමහලු කුමරිය හා බාලකුමාරිකාවෝද කැමැති ස්ත්‍රීන් පිරිවරාගෙන නික්මුණාහ. එකල නුවර අසුරයන් වන් ශක්‍රපුරය සේද අලපත දියත්තක් සේද ඇලෑළී ගියේය. අපගේ රජදරුවෝ රටින් යෙත්නම් අපි කවුරුන්බලා ඉඳිමෝදැයි කියා සුවහස් ගණන් ඇමැතියෝ නික්මුණාහ. බ්‍රාහම ණයන් හා මහාධනසිටුවරුද නික්මුණාහ. වෙළෙඳජනයෝද දහස්ගණන් නික්මුණාහ. පළමුවන දවස සතරගව්වක් පිරීසිටි පිරිසවිය. දෙවනදවස අටගව්වක් පිරීසිටි පිරිසවිය. තුන්වන දවස දොළොස්ගව්වක් පමණ පිරීසිටි පිරිසවිය. ඒ තුන්වන දවස් රජකුමරුවෝ බරණැසට අගනිදිග්භාගයෙහි වනමැද යොදුන්ගණන් ඇවිද ඔවුනොවුන්හා සමග කථාකොට ඇපි දඹදිවින් කැමැති නුවරක් බලෙන් ගත්තෙමුනම් ඒ අපට සුදුසු නොවෙයි, ඒ අපට පිළිකුලෙකැයි සිතා අපේ ඔක්කාකවංස යට නුවරක් කරවන්නට සුදුසු බිමක් බලම්හයි කියා එක්තැ නෙක සෙනෙගසිටුවා මහවනයමැද කපා එළිකර වැව් අමුණු බඳවා කොත්වත් සාධවා නුවරක්කරන්නට බිම් පරීක්‍ෂා කරමින් ඇවිදිනාකල්හි ඒ වනමැද විලකට නුදුරුතෙන බෝධිසත්ත්වයෝ කපිල නම් තාපසව රුකක්මුල උග්‍රතපස් කරන්නාහු ඒ වනමැද ඔබිමොබ බලමින් ඇවිදිනා කුමාරයන් දැක: "කුමාර වරුනි මේ වනමැද කුමක්සොයා ඇවිදින්නෙහිද?"යි විචාළහ,

එබසට කුමාරවරු රටින්අා කරුණුත් නුවරක් කරවනඅටියෙන් බිමක් බලා ඇවිදිනාබවත් තාපසයන්ට කීවුය. එකල මහා බෝධිසත්ත්වයෝ ඒ රාජකුමාරයන් කී බසට උඩින් අසූරියනක් හා භූමිය යටින් අසූරියනක් පමණ ලක්ෂණ බලා ඒ කුමාර වරුන්ට කියන්නාහු කුමාරවරුනි 'ඉදින් නුවරක් කෙරෙත්නම් මාගේ පන්සල් භූමිය ගනුව'යි කියා එහි අගය කියන්නාහු 'කුමාරවරුනි ! සාවුන් පසු පස්සේ කැනැහිලුන් එළවාගෙනවුත් මේ භූමියට වන්කල්හි ආපසු සාවෝ කැනහිලුන් පසුපස්සේ එළවාගෙනයෙති, මීයන් මැඩියන් පසුපස්සේ නයින්එළවාගෙන වුත් මේ භූමියට වන්කල්හි ආපසු නයින්පසුපස්සේ මීයෝ මැඩියෝ එළවා යෙති, මුවන් පසුපස්සේ දිවියන් එලවාගෙනවුත් මාගේ පන්සල්භූමියට වන්කල්හි මුවෝ දිවියන් ලුහුබැඳ එළවති. මතු මේ භූමියෙහි වසන පුරුෂයෙක් දිව්‍යබ්‍රහ්මයන්ගෙන් සත්කාර ලබති, මේ මාගේ පන්සල්භූමිය ගනුව, චක්‍රවර්තිපිරිසක් යුද පිණිස මෙහි පැමිණියේනමුදු ඔහු පරාජයවෙති. මේ පන් සල් භූමිය ගෙන නුවරකරව. මට තොප කරන උපකාරයනම් මේ නුවර කොට නිමවා මාගේ නමින් **කපිලවස්තුපුරය**යි කියා නම් තබව'යි කීහ. ඒ කුමාරවරු සතරදෙනා සතුටුව නුවර කරවා නිමීකල කපිලවස්තුපුරයයි කියා නම් තුබූහ. ඒ රජ කුම රුවෝ 'අපට අනික් රජකුගෙන් සරණගන්නට සුදුසුනොවේ'යි අප රජකුලයට කිලුටෙන,අප නගුන් දෙන්නටත් සුදුසු රජෙක් නැත,යි නගුන් සතරදෙනා සතරදෙනාට පාවාගෙන වැඩිමහලු බිසව මව්තනතුරෙහි තබා රාජ්‍යයකළහ. එකල පියරජතෙමෙ මෙපවත්අසා 'මාදරුවෝ රටින්ගොසිනුත් ජාතිසම්භේදයක් නො කළෝය'යි සාධුනාද පවත්වා ශාක්‍යවංශයෙහි රාජකුමාරයෝ යයි කියා තුන්යලක් සාධුනාද පවත්වමින් ගායනාකෙළේය[1] ඒ ඔක්කාකරජ ප්‍රීතිවාක්‍ය කීතැන් පටන් ඔක්කාක වංශය පෙරළී **ශාක්‍යවංශය** වියයි දතයුතුයි. මෙසේ ශාක්‍ය වංශයෙහි රජහු **කිඹුල්වත්පුර නුවර** දෙලක්ෂසතලිස් දහස් සත්සිය සැත්තෑදෙනෙක් රාජ්‍යය කළාහුය.

පළමු කපිලවස්තුපුර නුවර කරවූ රජු සතර දෙන මව්තන තුරෙහි තබා ආරක්ෂා කළ වැඩිමහලු බිසවට කුෂ්ඨරෝගයක් වැළඳුණේය. ඒ රජදරුවෝ ඒ ආබාධය දැක අපට මෙය

1. "සක්‍යාවතභො රාජකුමාරා පරමසක්‍යාවතභො රාජකුමාරා"යි. දැන් උදන කෙළේ එයින් ඔහු ශාක්‍ය වූහ.

බෝවෙයි සිතා සහොදරිය රථයක තංවා ගෙන සතර දෙනම
වනාන්තරයෙහි යොදුන් ගණනක් ගොස් බිම වළක් කැණ වළ
යට පෝරු අතුට බොහෝ අවධි ගණනකට කන්නට කෑම තබා
දරදිය ගිනිකබල් වලන් ආදිවූ උපකරණ සපයා තබා බිසව වළ
යට ඉඳුවා මතුපිටින් පෝරුව ඇද ඒ පෝරුව පසින් වසා ආපසු
තමන්ගේ නුවරට ගියාහ එකල බරණැස රජ කළ **රාමරජද**
තමහට කුෂ්ඨරෝගයක් වැළැඳී පුත්‍රයාට රාජ්‍යය දී මියම් සිතා
වල්වැද මහහිමයට ගොස් රෝගය ඉවසාගත නොහී ගසක
පොතු කොළ මල් කා ඇවිද ඒ රෝගය සුවකරගෙන වනාන්තර
යෙහි වැද එක් කොලොම් ගසක බිලාඹුවක් දැක දෙලොස් රිය
නක් ගසළඩ පෝරුවක පාමැස්ස බැඳ ගිනිකබල් තබා ගෙන
සිංහ ව්‍යාඝ්‍රාදීන් විසින් සිවුපාවුන් මරාකා ඉතිරිව තුබුණ මස්
සොයා අනුභව කොට එහි අවුත් උන්නේය. මෙසේ වසන
කල එක් දවසක් බිසව හිඳිනා වළ මතුපිට එක්තරා ව්‍යාඝ්‍රයෙක්
ඇවිද මිනිස්ගඳ අසා පස්ඇර අතුරාතුබූ පෝරුව උගුළාපුව—
එකල බිසව හයින් තැතිගෙන මුරගෑසුවාය. ඒ ශබ්දය ඇසූ
ව්‍යාඝ්‍ර තෙමේ හයින් පලාගියේය. රාම රජු කොලොම්ගස ඉඳ ඒ
රාත්‍රියේ අඬගෑ හඬ මිනිසෙක් මුරගෑ හඬයයි සිතා උදෑසන ගසින්
බැස වනාන්තරයෙහි ඇවිද දමාතුබූ පෝරුව දැක පෝරුව
ඉවත් කොට වළඋන් මිනිසා දැක තෙපි කවරියක් දැයි ඇසූහ-
මම මිනිස් දුවක්මි කීසඳ. මමත් මිනිසෙක ගොඩට වරෙවයි
කීහ. මම **ඔක්කාක රජුගේ** දරුවෙක ජීවිතය නසිතත් වංශය,
කුලය නොනසමියයි කීවාය. එවිට රජතෙමේ කියනුයේ මමත්
බරණැස් නුවර **රාමරජය** ගොඩට වරෙවයි කීය. ස්වාමීනි! මම
කුෂ්ඨ පිළිකුල් ලෙඩෙකැයි කීවාය. මමත් එලෙසම කුෂ්ඨයක්
වැළැඳී වනාන්තරයෙහි වැද සුවකර ගතිමි, ඖෂධ දතිමි කියා
ගොඩට ගෙන කොලොම්ගස ඉඳුවා පෙර තමාකෑ ඖෂධ දී අනු
භව කරවා ඒ කුෂ්ඨරෝගය සන්සිඳුවා ගෙන ඒ බිසව කෙරෙහි
ප්‍රේමයෙන් වසන සඳ ඒ බිසව සොලොස් වාරයෙක නිඹුලුන්
දෙන්නා බැගින් කුමාරයන් තිස්දෙන්නකු වැදූවාය. මෙසේ
එරජ කොලොම්ගස ඉඳිනා සඳ බරණැස් නුවර වැද්දෙක් වන
යෙහි ඇවිදිනා කල රජු දැක රජ්ජුරුවන් වැඳ මම අසවල් ගම
වැදියයි කියා රජ්ජුරුවන්ට කීසඳ ඔහුගේ බස් අසා රජ පුතණු
වන්ගේ සුවදුක් විමසා සනොතාෂව උන්නේය. එරජහුගේ දෙතී
සූක් කුමරුවෝ රජ වටකොට උන්සඳ ඒ වැදිපුත් කුමාරයන්

දැක මේ කාගේ දරුවෝදැයි ඇසීය, මාගේ කුමරුවෝයයි රජ තෙමෙ කීය. වැදිපුත්‍රතෙමෙ ඒ අසා බරණැස් රජ්ජුරුවන් සමීපයට පැමිණ නුඹවහන්සේගේ පිය රජ්ජුරුවෝ වනාන්තරයෙහි ඉඳිනාහයි තමාදත් ප්‍රවෘත්තිය කීය-ඒ අසා බරණැස් රජ සිවුරඟ සෙනඟ ගෙන වනාන්තරයට ගොස් පිය රජු දැක වැඳ නුවරට යන්නට ආරාධනා කෙළේය-**රාමරජ** තමපුත්‍රවූ බරණැස් රජුගේ ආරාධනාව නොපිළිගත්හ-එවිට බරණැස් රජ නුවරට පණිවුඩ කාරයන් එවා උදැලු, කැති, යහුල්, පොරෝ, ආදි සියල්ල ගෙන්වා කොලොම්ගස කප්පවා මුල් උදුරුවා නුවර කරවා වැව් අමුණු බඳවා කෙත් වත් තනා සෙනාව එහි ඉඳුවා රකවල්ලවා එරජ බරණැසට ගියේය. ඒ නුවර කොලොම්ගස නමින් **කොලිය** නුවරයයි නම් තුබූහ. **දෙව්දැහැ** නුවරයයි ප්‍රසිඬ වූයේ මෙම කෝලිය නුවර බැව් දතයුතුයි-ඒ දෙව්දැහැ නුවර කුමාරයන් දෙතිස්දෙනාට කපිලවස්තුපුර ඒ බිසවගේ මල්කුමාරයන් සතරදෙනාගේ අට අට දෙනා බැගින් සතරදෙනාගේ දූන් ගන්නට ඇසූකල බරණැස්රජුගේ කොලොම් ගස්සිදුරේ උපන් දරුවන්ට සරණ නොදෙමුව අපගේ වංශයට කිලුටුවයයි කියා මැළිකාර කීසඳ ඒ කුමාරයෝ දිය කෙළියට එන්නටකියා ඒ කුමාරිකාවන්ට රහසින් පත් යැවූවෝය. ඒ කුමාරිකාවෝ ගඟ දිය කෙළියට පැමිණියෝ සතුටින් දියකෙළිනා අතර ඔවුනොවුන් අත අල්ලාගෙන කොලිය නුවරට ගෙන ගියෝය, ඒ බිෂෝවරුන්ගේ පියරජහු. 'අපබෑනාවරු සුරුවෝය බැඳ බිසවුන් ගෙන ගියෝය'යි කියා සිතාසී උන්නාහ-එදාපටන් **කිඹුල්වත්** නුවර හා **කොලිය** නුවර රජදරුවන්ගේ සරණ මඟුල් ගනු දෙනුව පැවැත්තේය. දෙව්දැහැ නම් නුවරත් කිඹුල්වත් පුර නුවරත් එකමාගීයයි දතයුතුයි-මහාසම්මත රජුපටන් සුදෙවුන් රජුට සත්ලක්‍ෂ සත්දහස් සත්සිය සත්අනූවක් රජදරුවෝ රාජ්‍යය කළාහ-ඉන් වොටුනු පැලැඳි රජවරු තුන්ලක්‍ෂතිස්සතර දස් පන්සිය තුන් අනූවක් බව දත යුතුයි. * ශුඬොදන රජුගේ එකකුස උපන් මල් අමිතොදනය,පුෂ්පොදනයයි දැනගත යුතුයි. මේ සිරිලකට ආ රාජවංශය මෙයින් දැනගත යුතුයි.

* ශුඬොදනරජුහා එකකුසඋපන් ධොතොදනය. සුක්කොදනය, අමිතොදනය, යන කුමරුන්හා අමිතාය ප්‍රමිතායයි-දියණී දෙදෙනෙක්ද-මහාවංශයෙහි දක්නාලැබෙත්-. සටිතොදන යනනමින් තවත් කුමාරයෙක් ඇතිබැව් පූජාවලියෙන් පෙනේ.

කාලිඟුරජු සක්විති රජකරන අවධියට ඔහුගේ දුව **වඟුරට** රජුට දුන්නේය, ඔතොමෝ ඒ **වඟු** රජුට දකොට දුවක් වැදූවාය, ඒ කුමරිය බිහිවූ නකත බලා යකඩගෙයක ලූවත් මෝ සිංහයාට දකොට දරුවන්වද ඉදිනී කියා නකත දුටුහැටි රජුටකීහ. රජු එපවත් අසා ඇ එක්ටැඹ[1] ප්‍රාසාදය කලා රකවල්ලවා ඇතිකරන සඳ-ඒ කුමරිය වැඩිවිය පැමිණ මදනොන්මාද බැවින් රාත්‍රියෙක මතුමහල් තලයෙන් පැන රකවලුන්ට නොපෙනී සැඟවී මගධරටසිට ආ වෙළෙඳුන්ට එකතුවී ගොස් **ලාඩදෙශ**යෙහි වනයේදී සිංහයකුට අසුව ඔහුට අඹු ව ඉඳ නිඹුලුන් දෙන්නකු වැදූවාය. එකෙක් පිරිමිනියාය. එකෙක් ගැහැනියයි දැනගතයුතුයි.

සිංහයාගේ පුත් වැඩිවියපැමිණ තොපදෙදෙන එකකු සැටියේ නැත්තේ කුමක් නිසාදැයි මෑණියන්අතින් අසා ආගිය තොරතුරු විමසා පසුවද සිංහයා පාර සරස්කරපු දොරඇර පස්ගොදුනක්පමණ පාරේ ගොසින් දුරගියබවදැන ආපසු අවුත් මවුන්හා නැගැණියන් දෙදෙන දෙඋරඉඳුවාගෙන වඟුරට දසාවට ඉස්නබාගෙන අවුත් වඟුරටට බැසපීය. එකලට වඟුරට රජකරන රජ එබිසව මයිල් රජුගේ පුත්විය, ඒ බිසව හා දරුවෝ දෙමදනා ගොසින් ඒ රජුදැක එනුවර උන්නාහ. සිංහයා ගොදුරට ගොස් පැමිණ ගල්ලෙණඋන් අඹුදරුවන් නොදැක ශොකයෙන් හිඳ පසුදින පා සලකුණෙන් අවුත් වඟුරට පසල් ගමකින් මිනිසුන් ඇල්ලූයේය. එපවත් වඟුරජු අසා සෙනඟ රැස් කරවා සිංහයා විද හෙළා අල්ලන්නට ගියහ. සිංහයා උන් වනාන්තරය වටකරපුවිට සිංහයා නාදකර පැනපීය. එවිට සෙනඟ බියවැද බිදී දසඅතගියහ. සමහරු අල්ලා මරාපීය. සෙනඟ ආපසු අවුත් රජුට එපවත්කීහු, එපවත් ඇසූ රජතෙමේ සිංහයා මැරූකෙනෙකුන්ට රාජ්‍යයෙන් පළාතක් දෙන්නේයයි කියා බෙරලූහ. තුන්වරක් බෙරලූවිට සිංහයාගේ පුත් බෙර නවත්වා සිංහයා විදිනට දුනු හී ගෙන සිංහයාඋන් වනයටගොස් මෙහි එවකියා අඬගෑවිට සිංහයා සිය පුතුගේ කටහඬ අසා අමා පැන් කන වත්කළාක්මෙන් දිවගෙන ආකල්හි **සිංහබා** කුමරු ඒ දැක හීය විදිවිට මූණ කරකැවී වැටුණේය. දෙවනු තුන්වනුත් හීමූණ කරකැවී වැටුණේය. සතරවැනි හීය දැනින් වෙරලාපුවිට මා මරන්නට යයි සිතා සිංහරජ කිපී කා දමමී රොස්ව බැලූ කල්හි ඒ සරය කෙසරිඳුගේ ණළලනවැද බිම වැටුණේය.

1 එක්මහල්.

එවිට පුතණුවන් ළඟට කැඳවා හිස උකුලේතබා මව හා දුවණි යන් මතක්කළබව කියන්ටකියා මළේය. එවිට සිංහබා කුමර සිංහයාගේ හිස කපා ගෙනවුත් රජුට දී ලාඪදෙශයේ සිංහබා පුර නුවරකරවා සිංහවල්ලි කුමරිය අගබිසෝකොට ගෙන එහිම වසනකල්හි ඕතොමෝ සිංහබා කුමාරයාට ද කොට තිඹුළුන් දෙදෙනකු වැදුවාය. මෙලෙස සොළොස්වාරයක දෙදෙනා බැගින් තිස්දෙන්නකු වැදූවාය. ඉන් පළමුව උපන් පින්වත්වූ විජය කුමාරයා බිහිවුණ නකත මුවසිරිසය- ගුරුගේ හෝරාවෙන් ගුරුදින මීනරාශියෙන් උපන් පින්බලයෙන් ඒ කුමර සිරිලක යකුන් වනසා රජකමට පැමිණෙනනිසා ඒ නුවර සත්සියයක්පිරිමින් විජයරජු උපදිනද උපන්හයි දූනගනයුතුයි. ඒ සත්සියය පිරිවරාගෙන එනුවර ඝනහට කරනවධ මෙතෙකැයි කියනු බැරිනිසා සතහැම එක්ව සිංහබාරජහට ''හිමි! තොපගේ කුමාරයාත් ඔබවහන්සේත් ඉඳිනු මිස අපි නොසිටිමුව. අපට කරනවධ බොහෝය''යි කීවෝය. ඒ නුවරවාසීන්ගේ උගහටින් විජයකුමාරයන්ට සිංහබාරජ උදහස්ව අපතිලෝගුරු බුදුරජාණන්වහන්සේ පිරිනිවන් පෑ * සත්වැනිදින විජයකුමාරයා හා එකදඋපන් සත්සියක් යොධ පිරිවරත් නැවක නංවා මුහුදට දමාඇරිය නැත නැව රුහුණුදෙසට ගොඩබලා උන්කල සමනනකූට පර්වතය මහමුහුද මැදදී දූත අප ඉඳිනට දිවයිනකැයි සිතාගෙන ගොඩකරේදූත තම්මැන්නාතොටින් ගොඩබැස නුගගස සෙවණේ උන්නාහ.

එකලට යක්පිසස් රකුස්සන් මිස මිනිස්පදවියක් සිරිලක නැත්තේය- අප තිලෝගුරු බුදුන් බුදුවන්ට පළමු සිරිලක රාවණාගේ යුඩයෙන් පසු ව යකුන්ට අත්ඇරී එක්දහස් අට සිය සූසාලිස් අවුරුද්දක් ගියහ. සව්සතට මොක්පුර දොරහැරලූ අප බුදුන් බුදුවූද සක්වළ එක මඟුල්ගෙයක්සේවිය, ඒබුදුහු අනුක්‍රමයෙන් සත්සතී යවා රජගහානුවර වෙළුවනාරාමයෙහි වැඩ ඉඳිනා දිනයෙහි සිරිලක යකුන් ඉඳිනාබව දිවැසින් බලා පෙරබුදුවූ තුන්දෙනා වහන්සේගේ ශාසනය පිහිටුවා දුගබ් බඳවා සතුන් උන්බව දිවැසින් දැකලා වෙළුවනාරාමයෙන් අහසට පැනනැගී බුදුවූ නවමස පිරීගිය දුරුතු පුර ගුරුදින පුසේ නකතින් පොහොදින සිරිලකට වැඩමවා මහියංගණයට

* තථාගතයන්වහන්සේ පිරිනිවන්පෑම පිණිස සැතපුණු දවස විජය කුමාරතෙමෙ ලක්දිවට ගොඩබැස්සේයයි මහාවංශයෙහි කියනලදී.

වැඩ එහි අහසෙහි වැඩසිට යකුන්ගෙන් අවකාශ ඉල්වාගෙන ජයකොනාතය සිටුවන්ට බිමගෙන මහත් අන්ධකාරයක් මවා බුදු රස් දසදහසක් සක්වළ ද බඹලොව ද නාලොව ද එකපැහැර රතින් සුදින් නිලින් විහිදුවා සිට ගිනිකඳ මවා පෑසේක, එකල යක්සෙනඟ මුහුදුවෙරළට වැද බියපත් ව අඩා විලාපකියා සිටිසඳ තමන්වහන්සේගේ ආනුභාවයෙන් යක්ගිරිදිවයින ගෙන්වා යක්ෂයන් එහි පිහිටුවා පෙර තුබූතෙනම යන්ට අධිෂ්ඨාන කළසේක. යක්ගිරිදිවයින පෙර තුබූ තැනට ගියේය. බුදුවූ සවන හවුරුදු වෙසග පුර පසළොස්වකින් කැලණි පුර යට වැඩමවා කැලණිපුර නාගයුද්ධය සමන්වා*මිණිපලඟ බුදුන්ට පිදූවිට තුන්දවසක් වැඩඉඳ කැලණියැ නසින්ට බණ වදාරා දෙව්රම්වෙහෙර වැඩිසේක. තුන්වැනිවර බුදුවූ නවවන අවුරුදු පිරිගිය විට ඇසළ මස පුරපසළොස්වක්ලත්දින උතුරු සළ නකතින් සොළොස් මහාස්ථානයේ මොහොතක් මොහොතක් කල් (සොළොස්තැනක) වැඩසිට ජේතවනාරාමයට වැඩිසේක.

පිරිනිවී පොහොදින කුසිනාරානුවරදී දසදහසක් සක්වළ දෙව්බඹුන්ට බණ වදාරා මාගේ ශාසනය පන්දහසක් අවුරුදු පවත්නා අනුසස් ඇත්තේය. පෙරබුදුවූ කකුසඳ බුදුන්ගේ මහරී බොධිය පිහිටුවා සිරිලක ශාසනය පැවැත්වූයේය, කොනාගමන නම් බුදුන් පිටදුන් උදුම්බරබෝධිය පිහිටුවා ශාසනය පැවැත්වූයේය, කාශ්‍යප බුදුන්ගේ නිග්‍රොධබොධිය පිහිටුවා, ශාසනය පැවැත්වූයේය,දැන් මාගේ ඇසතු මහාබොධිය පිහිටුවා භික්ෂුනම්හෙර කෙනෙක් මාගේ ශාසනය පන්දහසක් හවුරුදු පවත්වන්නේයයි වදාරා දසදහසක් සක්වළ ශක්‍රයන් අතුරෙන් මේ මඟුල්සක්වළ බලන ශක්‍රයා ළඟට කැඳවා ශ්‍රීලඞ්කාවීපය

* සම්‍යක් සම්බොධියෙන් පස්වන වර්‍ෂයෙහි චූළොදර, මහොදර දෙමසිල් නාරජුන්ගේ යුද්ධය සමන්වීම පිණිස නාගදිවයිනට වැඩමකළ ලක්දිව් වැඩි දෙවනවාරයද-සමීඥ තෙමේ සම්‍යක්සම්බොධියෙන් අටවන වර්‍ෂයෙහි මණිඅක්ඛික නම් නාගරජයාගේ ආරාධනායෙන් පන්සීයක් භික්ෂූන් සමඟ කැලැණියට වැඩ දහම්දෙසා සමන්කූළ මතුයෙහි පාසටහන දක්වා මහමෙවුනා උයන ආදි ස්ථානයන්හි සමවතින් වැඩසිටීමට ලක්දිව් වැඩි තුන්වන වාරයයි කියා මහාවංශ දළාවංශාදියෙහි කියනලදී-

හාරකරදී විජයකුමාරයාට ආරක්‍ෂාවපිණිස පිරිත්නූල් හා පිරිත්
පැන්දී උපුල්වන් දෙවිඳුටද ලංකාව භාරකරදී පිරිනිවන් පෑ
වදළසේක-*

විජය රජ නුගගස සෙවණ උන්විට උපුල්වන් දෙවිඳු තපස්
වෙස්ගෙන කසාවතින් අවුත් විජය කුමාරයාගේතර පිරිත්නූල්
ලා සත්සියක් යොධයන්ට පිරිත්පැන් ඉසා දෙව්ලොවට
ගියේය. එදා යකුන් යක්ගිරිදිඹසිනට ඇරියදා ඉතිරිවූණ යක්කු
තම්මැන්නා වනය මැද සැඟවීසිට ලක්ගල ලොන්ගල උන්
නාග,කුවේණියගේ ලැමදතනතුනින් මැදතනය මැකුණුවිට හිමි
කෙනෙකුන් ඇතිවනබව ඉසිවරුන් කීවාට ලැමදතනය මැකු
ණේය,හිමියෙකු ආබව දත් කුවේණී තොමෝ නුගගසමුලට පස්
පාවකින් වණීය මවාගෙන බැලිවෙසින් අවුත් තිරිඳුගේපය ඉඹලා
වෙණියසලා නොසිටගියා, මෙපුර ගමක් ඇත කියා සෙබළුන්
ඇරියවිට කුවේණී ගියගියවුන් අල්ලා තෙළුම්විලපත්යට සඟවා
උන්නීය, සෙබළුන් නාබව දැක රජ පිරිත්හුය තරලමින් කගය
අතට ගෙන විල්තෙරට බැස සිටිවිට බටපියම්ස ගොඩනැඟි පිය
වර නුදුටුවෙන් තිරිඳුසිත දුක්බියවැද උන්විට නුගසෙවණ කපු
කටින රන්ලියක්සේ යකින්න දැකලා මාගේ යොධයෝ මැ
විසින් කනලදහයි සිතා ඇළුහටගොස් මාගේ යොධයෝ කොයි
දැයි කියා හිසකෙස් වැටිය අල්ලා මාගේ යොධයන් දෙවයි කී
විට මා නොමරා බිසෝ කොට ඉඳිතොත් සත්සියක් යොධයන්
දෙමැයිකීව. දිවුරුම් දෙවයිකීය. ලැමදතකදිවුටදුන්සඳ: මේ ශ්‍රී
ලංකාවේ ඉසි බිජුවට යන්ටත් සඬුවිල්වයන්ටත්, බඩුපලදුව
ඇට ආදිය බොල්ව යන්ටත්, මේ බස් තුන කියා නුඹ ඇර අන්
බිසවක නොගනිම්යි කියා දිවුරුම් දුන්සඳ, සත්සියක් යොධ
යන් ගෙන රජුටපාවාදී තම්මැන්නාඅඩවිය විමනකරවා වනයේ
තිබුණ වී සාල් ගෙන යොධයන්ටත් රජුටත් කවා රෑ එවිමන
සැතපි උන්නීය, එදා රෑ ලක්ගල යකකුට ලොන්ගල යකින්
නක් ගෙනෙන මඟුල් නිසා රාත්‍රියේ කොලහලවිය, රජු පිබිද
මෙපුර කොලහල කිමෙක්දැයි කුවේණියා අතින් ඇසූවිට ලක්

* පිරිනිවන් පිණිස සැතපුණු බුදුරජාණන් වහන්සේ ශක්‍රයාට ආමන්ත්‍ර
ණයකොට මාගේ සස්න ලක්දිව පිහිටස්නේය. පිරිවර සහිත විජය
කුමාරයාද ලංකාවද රකුවයි වදළසේක, දෙවෙන්ද්‍රතෙමෙ තථාගතයන්
බස ගෞරවයෙන් ඇසූයේම. උපුල්වන් දෙව්රජහට ලංකාරක්‍ෂාව භාර
කොළේයයි-මහාවංශයෙහි කියනලදි.

ගල යකකුට ලොත්ගලින් යකින්නක් ගෙනෙන මගුලකැයි කී සඳ විජයරජ (කියන්නේ): මෙසේ යකුන් ඇති රට අපට ඉඳිනු බැරියයි කීකල්හි කුවේණිය කියන්නී: මම වෙළඹවෙස් මවා ගෙන රජු මා පිට ඉඳුවාගෙන යකුන් කොටා මරමියි කියා උදෑසන වෙළඹවෙස් මවාගෙන නිරිඳු පිට ඉඳුවාගෙන සත්සියක් යොධයන් පිරිවරා නික්ම මගුලට රැස්වූ යකුන් කොටා මරමින් සිරිවත්පුර උරිරු වතුරෑවමින් යකුන් වනසා තම්මැන්නානුවර වැද ඉන්නාසඳ යොධයන් සත්සියය රැස්ව රජුට වැඳ වොටුනු පළඳින්නට කිසඳ යකිනිය සමග ඉඳ බැරිය කියා පඬිරජුට මිණිපඬුරු ඇර බිසෝ කෙනකුන් හා සත්සියක් ගෑනු පිරිවර ද පසළොස්කර්මාන්ත වැඩකාරයන් ද ගෙන්වා කුවේණිය පලවා පඬි බිසව අගමෙහෙසුන් කොට සත්සියක් ගෑනු පිරිවර යොධයන්ට පාවාදී රජ වොටුනු ධරා උන්සඳ කුවේණිය විදුරුදිව මවා විජයරජු මරන්නට පැමිණිවිට බුදුන් ලක්දිව දෙවියන්ට භාරකර දුන්බැවින් ශක්‍ර බ්‍රහ්ම මහෙශ්වර කිහිරැළි උපුල්වන් සමන් බොක්සැල් විජයරජුට අරක් ගෙන විදුරුදිව කඩමින් කුවේණිය හල් කරමින් විජයිඳුට සැප සාධා දුන්නාහ*

විජයරජ තිස්අට අවුරුද්දක් රාජ්‍යය කොට දෙව්පුර පදවිලද්දේය.

විජයරජුගේ බිසව බඩ වඳහෙයින් සිරිලක රජකු නැති බැවින් උපතිස්ස අමාත්‍යයා මහාජනයා විසින් රජකමට පමුණුවා තම්මැන්නා නුවර හැර තමන් නමින් (උපතිස්ස නම්) නුවරක් කරවා රජකරනසඳ විජය රජුගේ එකකුසඋපන් සුමිත් රජුගේ පුත් පඬුවස්දෙව් කුමර සාගල් නුවරින් දෙතිස්දෙනෙකු ඇමතියන්ගෙන නැව්නැගී තම්මැන්නා තොටින් ගොඩබැස උපතිස්නුවරට වන්සඳ එහි රජකරන අමාත්‍යයාණෝ පඬුවස්දෙව්කුමරු (පඬුවස් යන නමින්) රජකමට තබාගත්හ. අප තිලෝගුරු බුදුරජාණන් වහන්සේගේ පියරජවූ ශුද්ධොදන මහ රජහුගේ සහොදරවූ අමිතොදන රජු කුමාරවරුන් සදෙනකු හා

* විජය රජුට දූ ඒ කුවෙණියගේ පුතෙක්ද දුවක්දවූහ. විජයකුමාරතෙමේ මධුරාපුරයෙන් රාජකන්‍යාව ආබැවී අසා යකිනියට "සොඳුර දරුවන් දෙදෙනා තබා නී දූන් යා, මනුෂ්‍යයෝ හැමකල්හිම අමනුෂ්‍යයන්ට බානහයි කීය. භයවූ ඕතොමෝ මහත් දුකට පැමිණ දරුදෙන්නා ඉල්වාහැරගෙන-යායුතු අතක් නැතිබැවින් දරු දෙදෙනා බැහැර සිඳුවා ලඞකාපුරයට ගියාය, ලඞකාපුර යක්ෂයෝ භයට පැමිණ එක්යක්ෂයෙක් අතුල් පහරකින්ම යක්ෂිණිය මැරුවේයයි මහාවංශයෙහි කියනලදී-

කුමාරියක ලැබගෙන ඉන්නා අවධියට කුමාරිය කාෂායවස්ත්‍ර හැඳ ගෑනු පිරිවර තිස්දෙනකු හා සමඟ කිඹුල්වත්පුරයෙන් නික්ම මහමුහුදට වැද නැව්නැඟී ලක්දිවට ගොඩබැස **පඬුවස් දෙව් රජ** දක්මින් සිටිසඳ ඒ රජ ආගිය තතු විමසා කාෂාය වස්ත්‍ර හරවා අගබිසෝකමටගෙන කැටුව පැමිණි පිරිවර දෙතිස් දෙන ඇමතියන්ට පාවාදී වොටුනුපැලඳ රජකරනසඳ ඒ බිසව ගේ සහෝදර කුමාරවරු සදෙන කිඹුල්වතින් නික්ම කතර ගෙවා නැව්නැඟී ලක්දිවට ගොඩබැස පඬුවස්දෙව්රජු දැක කථා බස්කොට නැගෙණියන්ගේ සුවදුක් විචාරා තමන්තමන්ගේ පිරි වරට හිඳීමට ඒ ඒ තැන් විමසා උන්නාහ. රාමගොත් ශාක්‍ය කුමාරයා උන්තැන **රාමගොණ්** පුරනුවරවිය, **උරුවෙල් නම්** ශාක්‍යකුමාරයා උන් තැන **විල්බා** නම් නුවර විය. විජිත ශාක්‍යකුමාරයා උන් තැන **විජිතපුර** නුවර විය, **අනුරාධ නම්** ශාක්‍යකුමාරයා උන් තැන **අනුරාධපුර** විය, ශුද්ධොදන ශාක්‍ය කුමාරයා උන්තැන ගම්පලනුවරවිය; සවැනි ශාක්‍යකුමාරයා උන්තැන මාගම් නුවරවිය* ඒ කුමාරවරුන්ගේ නැගෙණි තෝමෝ පඬුවස්දෙව් රජහට දාකොට කුමාරයකු හා කුමාරි යකු වැදූවාය, වැඩිමහලු කුමාරයා **අභයකුමාර** නම්විය බාල කුමරිය **උමතුසිත්** බිසවවිය.

**පඬුවස්දෙව් රජු** රජකරන අවධියට **විජය** රජුට බොරු දිවුරුමෙන් පැමිණි දෙස් පඬුවස් රජුට වැද සිත දැක මූර්ඡාව නැගීනොසිට වැදහොත්කල්හි පුරඳරට ලක භාරකළ තිසා සිරි ලකට පැමිණි පඬුවස්දෙව්රජුට පැමිණි දිව්දෙස් දැක **මලරජු** සිරිලකට ගෙනඑන්ට මායමක් කරවයි ඊශ්වරයා කැඳවා කීකල්හි **ඊශ්වර රාහු** කැඳවාකීය. රාහු ඖරුවෙස් මවාගෙන මලරජුගේ උයන පාළුකරන්නටවන, ඒ මලරජ මොනොරයතුරුපැදගිය බිසව ඇතිකළ කුමාරතෙමේය-නොහොත් මලරට රජතෙමේ යයි දැනගතයුතුයි, තවද මෙතෙමෙ මහානුභාව ඇති තපස්වී වරනෙනෙක් මාණෙල් මලෙන් උපදවාගත් කුමාරයායයි දන

* රාම කුමරහු විසූතෙන රාමගොණයයි, කියනුලැබේ-උරුවෙලය, අනු රාධය යන දෙදෙනාගේ නිවාසයෝද එසේම උරුවෙලය. අනුරාධයයි කියනුලැබෙති, එසේම-විජිතය, දීඝායුය, රොහණය, යන මොවුන් ගේ වාසස්ථානද, විජිතග්‍රාම-දීඝායුග්‍රාම-රොහණයයි කියනුලැබෙති- යනු මහාවංශයෙහි පෙනෙන පිළිවෙළයි-

සුතුයි * ඒ මලරජ උරුවෙල්දනව්වෙහි නුවරකරවා උන්නේය. ඌරකුවිසින් උයන පාළුකරන්නේයයි අසා සෙනගවට රක්ක වාගෙන බැදිගැසූකල්හි ඌරු මලරජුගේ කොටුපතට අවුත් පැන්නේය. එකල මලරජ සරයක් විදපිය, ඌරු තෙමේ රජු විසින් විදිනලද සරය වළකා රජුමුදුනතින් පැනදුවන්නට වන්ග. පැනදුවන ඌරු පසුපස්සේ එලවන්නට වන්කල මල රජුගේ නුවරට ඌරුවැද මාලිගාබිඳ දුවන්නටවිය. එකල්හි මල රජුගේ මල් කිත්සිරු, සඳසිරු, මලසිරු යන තුන්දෙන දඹු පත්ගෙන ඌරු පසුපස්සේ එලවමින් ලුහුබඳවාගෙන අවුත් තුත්තුකුඩියම වන්කල්හි එතැනින් ඌරු මුහුදට පැන්නේය. සෑඩිබලලත් මලරජහා කිත්සිරු සඳසිරු මලසිරු යන තුන්දෙනත් මුහුදදියට පැන පිහිනන්ට පටන්ගත්තෝය. පෙර තුත්තුකුඩියට හා සිරිලකාට අතර මුහුද නැත්තේය, ඒ අතරතුර පළමු රාවණාගේ නුවරවිය, රාවණාගේ අධර්මයෙන් රාවණාගේ කෝට්ටයත් මාලිගා පස්විස්සත් වීදි සාරලක්ෂයත් මුහුදට ගිලීගියබව දනසුතුයි. ඒ මුහුදුතලාවෙන් (හෙවත්) මහත්ප්‍රදෙශයෙන් මේ සිරිලකාට ගොඩනැගී ආතොට ඌරාතොට නම්විය; මලරජු ඌරු පසුපස්සෙහි එලවමින් සිරිලකා මුළුල්ලක් දිවපුකල්හි රුහු ගල්කුළක් මවා දමාගියේය, මලරජු ඒ ගල්කුලට කොටා කුමන කාරණයක්දැයි බලාසිටිකල්හි සක්දෙව්රජුමපෙනී මලරජුට පඬුවස්දෙව්රජුගේ දිව්දෙස්මුදු සිසන්න කර යන්නට කීසඳ ඒ මලරජ බමුණුවෙස් ගෙන යාග කොට† දිව්දෙස් මුදු රජු සිසන්න කරවා ගියේය, පඬුවස්දෙව්රජු තිස්දෙකක් අවුරුදු රාජ්‍යයකෙළේය, ‡

ඔහුපිත් අභයරජ විසිදෙකක් අවුරුදු රාජ්‍යයකෙළේය, **

---

* මෙසි කියනලද මේ ප්‍රවෘත්තියමහාවංශාදියෙහි දක්නට නොමැත්තේය.

† බමුණුවෙස් මවා-යාගකරවා-

‡ පඬුවස්දෙව්රජු තිස්දෙකක් අවුරුදු රජකළබව මෙහිහැර අන්කිසි පොතක දක්නට නොලැබේ-මහාවංශයෙහි අවුරුදුතිසක් රජකළබව කියාතිබේ.

** අභයරජුද විසිඅවුරුද්දක් රජකළබව මහාවංශාදියෙන් පෙනේ-

ඔහු නෑගෑණිය* තම මයිල්කුමරකෙරේ ඉඳ පණ්ඩුකාභය කුමාරයා වැදූවාය, ඒ කුමාරයා වැඩිවිය පැමිණ ඇවෑස්ස මයිල් නවදෙනකු මරා ගිරිකණ්ඩරජුගේ † දුව පලලවතී ‡ බිසවගෙන රජකරන අවධියේදී දිගින් සතරගව්වක් පුලුලින් සතරගව්වක් මුල්උදුරා වීදි ආදිවූ සියල්ලක් කරවා සොළොස්ගව්වක් පවුර කරවා සිංහ ලකුණු කොටා තිසාවැව බඳවා නුවර සිංහයාගේ ආකාර කොටවනලද ගල්ටැඹ ඉඳුවා සැත්තෑඅවුරුද්දක් රාජ්‍ය යකොළේය.**

ඔහු පුත් ගණතිස්ස රජ සතලිස්අවුරුද්දක් රාජ්‍ය කොළේය††

ඔහු පිත් මුටසීව රජ මහමෙවුනා උයන කරවා සැටඅවුරුද්දක් රාජ්‍යයකොළේය,‡‡

ඔහු පුත් දෙවනපෑතිස් රජු රජ කරන අවධියට අගරජ කමට පැමිණි ධර්මාශොක රජ්ජුරුවෝ දඹදිවනායක චක්‍රවර්ති රජු මෙන් දඹදිවට තමා ආඥව පවත්වා උන්නාහ.

යටකපකදී මේ දෙවන පෑතිස් රජ්ජුරුවෝත් ධර්මාශොක රජ්ජුරුවෝත් [නිග්‍රොධ සාමණෙරයන් වහන්සේත්] එකමව කුස ඉපැද මීපැණි වෙළෙඳම්කොට රැකෙනකල්හි පසේබුදු කෙනෙක්නට මීපැණි පාත්‍රයක් දන් දුන්නාහ, බාල මලණුවෝ දඹ දිවට අගරජවෙමැයි පතා දන් දුන්හෙයින් දඹදිවට නායකවැ ඉපැද සැපවිඳිනා සඳ මද්දුමාඅයියා දෙවනපෑතිස්ව උපන්නේය, වැඩිමහලු අයියා නිග්‍රොධ සාමණෙරව උපන්නේය, මේ ධර්මාශොකරජ සුවාසූදහසක් දාගබ් කරවා දඹදිව මුළුල්ලෙහි හැමදෙශවලම බුදුසසුන් ඇතිකරවා ඒ ඇර තමාගේ මිහිඳුකුමා

---

* ඔහුනං. † හරිකණ්ඩරජුගේ. ‡. පාලි-සවණ්ණපාලි.

** අභයරජුගේ නෑගෑණියනොමෝ තම මයිල්කුමරහුකෙරේඉඳ පණ්ඩුකාභය කුමාරයා වැදූවාය, ඒ කුමාරයා වැඩිවිය පැමිණ ඇවෑස්ස මයිල් නව දෙන කුමරා හරිකණ්ඩරජුගේ දුව පලලවතී බිසවගෙන "තිස්අවුරුද්දක් රාජ්‍යය කොළේය," යන මේ තිස්අවුරුද්දයන්න පිළිගතනොහේ. ඇතැම් රාජාවලිපොත්හි නොපෙනේ-

†† විජයරජ වර්ෂ 38. යි-පඬුවස්දෙව්-30. යි-අභය-20. යි-දමරිකකාලය-17.-පණ්ඩුකාභය-70. යි-මුටසීව-60 යි-යන මේ වර්ෂ පිළිවෙළට රජ වරුන් සිටිබව පෙනේ. ගණතිස්ස කියා රජකෙනෙක් සිටිබව මහාවංශාදි යෙහි නොපෙනේ-විජයරජුගේ අනතිමකාලයෙහි රජුවෙනුවෙන් උපතිස් ඇමතියා රට ආණ්ඩුකල නිසා තිස්අට වර්ෂයටම එය ඇතුළත්වේ,

‡‡, මහාවංශයෙහි-මුටසීව කියාතිබේ,

රයා අටළොස් අවුරුද්දෙන් මහණ කරවිය, ඒ මිහිඳුහිමියාණන් තුන්පිටකය ඉගෙන රහත් බවට පැමිණ දඹදිවින් නික්ම අහසට පැන නැගී මේ ශ්‍රීලඞකාවට වැඩමවා **මිහින්තලේදී දෙවනපෑතිස්** රජුට පෙනී සිරිලක වැසියනට දහම් දෙසා **දෙවනපෑතිස්** රජු සරණ පිහිටුවා බුඞශාසනය ලක්දිව පිහිටුවූහ, අප බුදුන්ගේ දකුණු අකුධාතුව ශක්‍රභවනයෙහි තිබී ගෙන්වාගෙන **ථූපාරාමයේ** තබා බැඳවිය, දඹදිව ධර්මාශොක රජු සමීපයෙහි තුබූ පාත්‍රයක් පමණ ධාතූන් ගෙන්වා ගව්වෙන් ගව්වට දාගැබ් බඳවා එහි පිහිටුවිය. **තිස්සමහාවිහාරය** බැඳවිය. බුදුන් පිටදුන් ශ්‍රීමහාබොධීන් වහන්සේගේ දකුණු ශාඛාව රන්තෙල්ලෙන් සිරියෙල් අඳවා ලක්දිවට වඩින්නට ආරාධනා කරවා සිටිසඳ එය කියනකින් කැපුවාක්මෙන් සිඳී අහසට පැන නැග සෑඞියෙන් මේ ලක්දිවට බැස පෙර බුදුතුමන් තුන්දෙනා වහන්සේගේ බොධි පිහිටි තැනට අහසින් වැඩමවා සිටිසඳ රන්කලස අල්ලවා, ඒ බිම ශ්‍රීමහාබොධිය පිහිටුවිය.

**මිහින්තලාගල**වට අටසැටලෙණක් ගල්කටාරම් කොටවිය, **මිහිඳු මාහිමියාණන්** ප්‍රමුඛ කොට ඇති මහාසඞඝයා වැඩහිඳුවා මහදන්දී ඒ **දෙවනපෑතිස්** රජ බොහෝ කුසල් කොට දැහැමින් සතලිස් අවුරුද්දක් රාජ්‍යයකර දෙව්ලොව ගියේය. දෙවනපෑතිස් රජුගේ මල් දෙවනපෑතිස් රජ්ජුරුවන් ඉන්නාඅවධියේම වැව් බඳින්ට ගියේය. වැව්බඳිනා තැනට දෙවනපෑතිස් රජුගේ කුමාරයා ගියේය, කුමාරයාට රාජ්‍යය හිමිකර දෙන්ට ඕනෑනිසා මවුබිසව අඹ ගෙන්වාලා සැළියක ලා මතුපිට විෂ යොදතබා සැළිය වැසුම් බැඳ ඇරියාය; වැවබඳිනාතැනට එවූයේ කුමක් නිසාදැයි කීවහොත් පළමු සැළිය මුදා රජ්ජුරුවෝ කනී පසුව කුමාරයාට දෙනී සිතාගෙනය, ඒ සැළිය ගෙනගොස් වැවබඳිනා තැන තුබුයේය, ඒ බිසවගේ කුමාරයා සැළිය වැසුම් කඩාදමා මතුපිට විෂයොදතුබු අඹ කාලා එවේලේම මළේය. **මානාරජ** ඒ බව දැක බැදෑබිසවකෙරේ ආශාව සන්සිඳී * රුහුණුගොස් **මාගම** නුවර කරවා රුණ ගම් වතු කුඹුරු කරවා එහිම රාජ්‍යය කෙළේය, ඔහුපුත් **ගමාලතිස්රජ** **කැලැණි**නුවර කරවා එහි

* පණ්ඩුකාභය රජහටද-අභය රජහටද අතර රජුන් නැති සතළොස් අවුරුද්දක් රාජශූන්‍යකාලය තිබුණු බව මහාවංශාදියෙන් පෙනේ- මෙහිරාජවංශී ගණන වැරදිවශයෙන් වැටීතිබෙන බව පෙනේ-

වෙහෙර ද කරවා රාජ්‍යය කෙළේය, ඔහු පුත් **ගොඨාභයරජ** දෙවැනිව රුණ මාගම රාජ්‍යය කෙළේය, ගොඨාභය රජුගේ පුත් **කාවන්තිස්රජ** එහිම රාජ්‍යය කෙළේය, කැලැණිතිස්රජ කැලැණියේ රාජ්‍යය කෙළේය, **දෙවනපෑතිස්** රජුගේ දෙවන මල් **සූරතිස්ස** රජ දස අවුරුද්දක් රාජ්‍යයකෙළේය,* ඔහුමල් **උතතිය** රජ දස අවුරුද්දක් රාජ්‍යය කෙළේය,† **රුණ මාගම කැලැණිය** යන නුවරවල රජදරුවෝ **අනුරාධපුර** නුවරට (තිතිපතා) අවුරුද්දක් පාසා කප්පම් දෙන්නාහ. **උතතිය** රජු රජකරන අවධියට ලක්දිවට අසුන් ගෙන ආ **අසරු** දෙබෑ කෙනෙක් **උතතිය**රජු මරා රාජ්‍යය ගෙන විසිදෑවුරුද්දක් රාජ්‍යය කළාහ, ඒ දෙමළුන් දෙන්නා ලුහුබඳවා අල්ලා මරාදමා **දෙවනපෑතිස්** රජුගේ මල් **අසේල**රජ දස අවුරුද්දක් රාජ්‍යය කෙළේය,‡

මෙසේ **අසේල**රජු රාජ්‍යකරනඅවධියට සොළීරටින් **එළාර** නම් දෙමළ රජෙක් බොහෝ දෙමළසෙන් ගෙන **මාවැලිගඟ** මුහුදටවැටුණු ගංමෝදර තොටින් ගොඩබැස්සේය, ගොඩබැසපු තොට **මහවටුතොට**යයි නම්විය, **එළාර** රජ **අනුරාධපුර**නුවර කොටා අසේලරජු අල්වා මරාදමා රාජ්‍යය ගෙන දෙතිස්දෙමළ කඳවුරුබැඳ කෝට්ටය බැඳගෙන විසිමහයෝධයන් ඇතිකරවා ගෙන දශලක්‍ෂ අසූදහසක් දෙමළසෙනඟ ගෙන අනුරාධපුර නුවර **දෙවනපෑතිස්** රජුබැඳි බොහෝ දාගැබ් බිඳ අධර්මයෙන් සූසාලිස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය,

එකලට **කාවන්තිස්රජ** රුණ මාගම ඉඳ දෙමළරජුට කප්පන් දුන්නේය, මේරාජාවලියේ කැලැණියත් රුණමාගමත් නොනැසී සිරිලකට රාජබීජයන්සේ තිබුණයි දතයුතුයි. **කැලැණිතිස්**රජහට මලණු කෙනෙක් ඇත්තේවිය, ඒකුමාරයා කැලැණිතිස් රජුගේ බිසව හා සංයොගයෙන් දවස් යවනසඳ, කැලැණිතිස් රජුහට ඒබව සැලුව ගියේය, කැලැණිතිස් රජ රහසේ රෙඩියා ගෙන්වා කියන්නේ: මා රජසෙනඟ ගෙන්වා මල්බෑකුමාරයනුත් ගෙන්වා තට වඩා අඩුකුල ඇත්දැයි ඇසූවිට එකගෙයි ඉන්නා බාල බෑයන් මට වඩා අඩුකුලයයි කියවයි

---

* සූරතිස්සට-පළමුව "මහාසිව" රජකළ බව මහාවංශ, නිකායසංග්‍රහාදී යෙන් පෙනෙ-

† උපතිස්ස, කියා කෙනෙකුත්, ඇතැම් පොතක පෙනේ-

‡ අසේලරජ මුටසිව රජුගේ නවවැනි පුත්‍රයායි-මහාවංශයෙහි කියාතිබේ-

උගන්වා ඒසැටියට ඇසූවිට සෙනගමැද්දේදී ඒසැටි කීය. ඒ කියාපු වචනයට කුමාරයා ලජ්ජායෙන් කැලැණියේ නොසිට පලාගොස් උඩුගංපළ උන්නෝය, එකලට කැලැණිතිස් රජුගෙන් දන් වළඳන එක්තෙරකෙනෙකුන් හා පිරිවරපන්සියයක් කැලැණි වෙහෙරට මල් පුද නිරන්තරයෙන් පිරිත් පිරුවා රජගෙන් දන් වළඳ කැලැණියේ වැඩඉන්නාහ, කැලැණිතිස්රජුගේ මල් මේ තෙරුන්වහන්සේගෙන් ශාස්ත්‍ර ඉගෙන ඒ තෙරුන්වහන්සේගේ අකුරුසමානව අකුරු ලිවීමටද ඉගෙනගත්තෝය, මෙසේඇතිඒ කැලැණිතිස් රජුගේ මල් උඩුගංපළ ඉඳගෙන එකපුරුෂයෙකු කාෂායවස්ත්‍ර පොරවා බිසවට බොහෝ දුක්මුසුබස් කියා පතක් ලියා එය කාෂායවස්ත්‍ර ඇඳි සොරුඅතට දී අරිමින් කියන්නේ "රහතුන්වහන්සේත්* පන්සියයක් පිරිවරත් රජගෙට දන්වළ දන්නට යනවිට ඒ මැදට වැද කොළුවර අස්නෙක ඉඳ දන්වළඳව දන්වළඳ යන තෙරුන්වහන්සේට පසුගමන් පිණිස බිසව මාලිගාවෙන් දොරට සත්පියවරක් එනවා ඇත, † රජ්ජුරුවෝ මාලිගාවෙන් පිටතට එනවාඇත, එකල්හි නුඹ මේපත බිසව ළඟට දමව"යි කියා හැරියේය. ඒ සොරු දන් වළඳන හැටියට ගොසින් සැඟවී සිට බිසව සමීපයට පත දැමීය, ඒ පත බිම වැටුණු හඬ රජුට ඇසී පිටිපස බලා බිසව ගත් පත දැක රජ අවුත් බිසව අතින් පත ගෙන බලා මේ අකුරු අනිකකුගේ නො වෙයි මේ සොරා මාගේබිසවට පත් එවන්නේය යි සිතා රහතුන්වහන්සේ අල්වා තෙල්කටාරමේ දමා උණු කරන්නට වන, පතගෙනාසොරු අල්වා මරා ගඟට දමාපීය, බිසව බැඳ ගඟට දමාපීය, අනුවණකම් කළ ඒ කැලැණිතිස් රජ තමාගේ මලණුවන්ගේ අකුරු නො දැන මඳනුවණින් ඒ තෙරුන් වහන්සේ තෙල්කටාරමේ ලා උණුකරනවිට ඇල් පැන් සේ තෙල් තිබෙන්නේය, යටජාතියක ඒ තෙරුන්වහන්සේ ගොපළු දරුව ඉපද කිරි උණුකරනවිට මැස්සා මැරූ පව පලදෙන බව ඒ තෙරුන්වහන්සේ දිව්‍යනෙතින් බලා පෙර කළ පව්නැයි සිනා සී මේ අත්බැව් බුදුබවට කිලුටකැයි එළිකොට සතහට අඬගසා කීවිට ද අළුව ගියේය,

---

* මේකියන්නේ කැලැණිතිස් තෙරුන්වහන්සේ සඳහා වියයුතුයි- මුන්වහන්සේ රහත්වී වදාලේ තෙල්කටාරමේදීයයි ඇසූමු.

† තෙරුන්වහන්සේට ගමන්පසුවට බිසෝඅදහසින් මාලිගාවෙන් දොරට හත් අඩියක් එනවාඇත---ඇතැම්-

එදාට මුහුද කැලැණියට සත් ගව්වක් පමණයයි දතගත යුතුයි.

ලංකාව අරක්ගත් දෙවියෝ කලකිරී මුහුද ගලන්නට වන, ද්වාපර යුගයේදී රාවණාගේ කෝට්ටයත් මාලිගා පස්විස්සත් වීදි සාරලක්‍ෂයත් මුහුදට ගිලීගියාහ, දැන් මේ කැලැණිතිස් රජුගේ අධර්මයෙන් ලක්‍ෂයක් පටුනුගම් හා නවසිය සැත්තෑවක් කෙවුලන්ගේ ගම්හා සාරසිය සැත්තෑවක් මුතු කිම්දිනා ගම් ඇතුළුව ලංකාවේ දොළොසෙන් එකළොසක් මුහුදට ගිලීගියාහ, * මන්නාරම ඉතිරිව තිබුණේය, පටුනුගම් අතුරෙන් කටුපිටිමාදම්පේ ඉතිරිව තිබුණේය,

මුහුද ගලනවා අසා කැලැණිතිස් රජ තමාගේ කන්‍යාකුමාරිය ඉස්සෝධා නනවා කොඉඳුල් දුහුල් සළු අඳවා ආභරණ පළඳවා ඔරුවක් ගෙන රාජකුමාරිය ඔරුව ඇතුළ ඉඳුවා පියන් පත වසා ඔරුව මතුපිට පතබැඳ මුහුදට ඔරුවඇර කැලණිතිස් රජ මුහුද ගලනවා බලන්ට ඇතුපිටට නැගීගියේය,එකල ඒ ඇතු හා රජු පොළොවගල්වා එරජු අවීචිමහ නරකයෙහි ගිනිදලින් වෙළා වසාගෙන නිරයටම ඇදගත්තාහ, † මුහුදට බිලිදුන් කුමාරිය මහපින් ඇතිහෙයින්ද මෛත්‍රෙයබුදුන්ට මවුව උපදනා හෙයින්ද වලාහකයෝද මුහුද මණිමෙඛලාවෝද වාතවේගයෙන් දකුණුදිග දුවමින් ඒ ඔරුව රුහුණුමාගමටපාකලාහ, කාවන්තිස් රජ්ජුරුවන්ට මස්දෙනකෙවුලෝ අවුත් මුහුද තුබූ ඔරුව පියන් පත වසා මතුපිටබැඳි අකුරු දැකලා රජ්ජුරුවන්ට කිවුය, කාවන්තිස්රජ ඒ බවඅසා ගොසින් මුහුද තිබූ ඔරුව ගෙන්වා මතුපිට තුබූ අකුරුබලා කැලැණිතිස්රජුගේ දුව මුහුදට බිලිදුන්නයයි කියා තිබුණා කියවා ඔරුව පියන්පතඇර ඒ කුමරිය රුවන්රුසක් පිට සිටුවා අනපැන් වත්කොට අගබිසෝකමට ගෙන එතන විහාරයක් කරවා **විහාරමහාදේවිය,යි** නම්තබා පෙරහරින් මාගම් නුවරටගෙනගියේය,

---

* එකල ලක්දිවට පිරිවරවූ ක්‍ෂුද්‍රාදිවයින් නවයක් හා සතරක් උතුරු කොටඇති පන්තිස්දහස් පන්සියයක් පමණ මහපටුනුගම් වැව්අමුණු කෙත්වත් ආදිවූසියල්ලම මුහුදගිලූයේයයි-කැලැණිතිස් රජුගේ කථාවස්තුයෙහි කියාතිබේ—

† ඔහු පොළොව ගැලී අවීචියට ගිය ස්ථානයට කෙරගෙ පොකුණ(හෙවත්) කිරිගිය පොකුණයයි මෙකල ව්‍යවහාරකෙරේ. කිරිගිය පොකුණ යන්න කෙරඟෙ පොකුණයයි වීතිබේ.

කාවන්තිස් රජුකෙරේ ඉඳ ඒ බිසවට දරුඋපතෙහි මෙසේ දොළෙක් උපන. කෙසේවූදොළෙක්ද? සැටරියන් මීවදයක් ගෙන මහාසංඝයාට දන්දීඉතිරි වූදෑ කන්ටත් එළාරරජහුගේ විසිමහා යොධයන්අතුරෙන් පළමුවැනි යොධයාගේ කඩුව පිට සිට සනා නය කරන්ටත් අනුරාධපුර මහනෙල්මල්කෙතේ මල් පලඳින් ටත් මෙසේ දොළෙක් උපන්නේය, කාවන්තිස් රජ්ජුරු වන්ට වෙළුසුමන යොධයා හැර එකලට වෙනයොධයෝ නැත්තාහ.

කාවන්තිස් රජු වෙළුසුමන යොධයා කැඳවා දොළඋපනකීහ වෙළුසුමන යොධයා මී බලාඇවිද මීගමු තොටමුණේ කෙවුලෙක් ගොඩඇදපු මකලුඹරුවක බැඳි සැටරියන්මීවදය ගෙනගොස් දොළ පසිඳලීය, ඒ මීය දුටුදිනපටන් මීගමුව නම්විය, වෙළුසුමන යොධයා දෙවැනිදොළ සන්සිඳවන්ට අනුරාධපුරනුවරට ගොසින් ඇවිද බලා දෙමළුන්ගේ රකාවල් දැක දෙමළරජුගේ මාලිගාවට ගොස්බලා නැවත අසුන්ගේ අස්හලටද ගොස් මෙසේ නොයෙක් තැන් බලා සිඟාඇවිදින ලෙසට ඇවිදගෙන අදරැ මාගම්නුවරට යෙමි සිතා මානෙල්විලට වැද මල්කඩාගෙන අස්හලටගොස් අසකු මුදාගෙන අසුපිටට නැඟී මම වෙළුසුමන යොධයෙමි පිළි වන්වීනම් අල්වවයි කියා හඬගසා දුවන්ටවන. අසුවිහිදුවා එන හඬ දෙමළරජු අසා විසිමහායොධයන්අතුරෙන් පළමුවැනි යොධයා කැඳවා වෙළුසුමනයොධයා අල්ලන්ට කීවිට දෙමළ යොධයා අසුපිටනැඟී එළවන්ට වන්කල්හි දෙදෙනා අසුන්විහිදු වන සවියෙන් දෙරණ ධූලිනැඟී පසුවයන දෙමළයොධයාට ඉස් සර යන වෙළුසුමන යොධයා නොපෙනෙන්නේය, ඒබව වෙළු සුමනයා දැක මඟඅතුරෙදට මුවාවඅසුපිටම හිඳගෙන කඩුව මඟ හරහටඅල්ලාගෙනසිටියේය, දෙමළයොධයාගේ අසු දිවන සවි යෙන් මඟට පැසිටි කඩුවේ වැදී දෙපළු කොට කපාවැටුණේය, වෙළුසුමනයොධයා දෙමළයොධයාගේ ඉස කපාගෙන * අතනුබු කඩුවත් ගෙන රුහුණමාගම්නුවර කාවන්තිස්ස රජ්ජුරුවන්ට දොළ ගෙන දුන්නේය.

මෙසේ බිසව දසමස පිරී කුමාරයකුවැදූසඳ ඒකුමාරයාට ගැමුණුකුමාරයයි නම්තුබූහ,

ඒකුමාරයා උපන්දවසෙහිම ඡද්දන්තකුලෙන් ඇතින්නක් මහහිමය ගෙවාගෙන(දඹදිවින්)තුත්තුකුඹියට වැද මේලක්දිවට

* දෙමළයොධයන්දෙදෙනෙකුන්ගේසිස්යයි, සද්ධර්මාලඞ්කාරයෙන් පෙනේ—

ගොඩනැගී රුණුමුහුදළඟ කඩොල්කැලේ වදදමා ආපසු ඡද්දන්තවිලට ගියාය, බිළිබා ඇවිදිනා කෙවුලෝ කඩොල්කැලේ ඉන්නා ඇත්පැටියා දැක රජ්ජුරුවන්ට සැලකළාහ, ඒ ඇත්පැටියා ගෙන්වාගෙන නුවර ඇතිකරලා ගැමුණුකුමාරයාට පාවා දුන්නෝය,

විහාරමහාදේවී දෙවැනි වර ද කුමාරයකු වැදුවාය, ඒ කුමාරයාට **තිස්ස**කුමාරයෝයයි නම් තුබුවාහ.

මෙසේ ඒ කුමාරයන් වැඩිවිය පැමිණිවිට රන්තළියෙක බත් ලා තුන්කොටසක් කොට මේ බත්කොටස මහාසඞ්ඝයාට විමතියක් නැතිව ඉදිම්හයි කියා කවයි පියරජ්ජු දරුදෙදෙනාහට කීසඳ ඒබත්කොටස කෑවාහ, දෙවැනිකොටස තොපිදෙදෙන උරණ නොවම්හයි කියා කව යි කීසඳ ඒකොටසද කෑවාහ, තුන්වැනිකොටස මා සේ ම සැඩිදෙමළුන්ට උරණ නොව ඉඳුම්හයි කියා කව යි කියාදුන්සඳ **තිස්ස**කුමාරයා ගත් බත්පිඩ හිත්තියට ගසා පිය, ගැමුණුකුමාරයාගත් බත්පිඩ තළිය හෙළා අතපය වකගසාගෙන වැද හොත්තේය, විහාරමහාදේවී ගැමුණුකුමාරයා ළඟට අවුත් අතපය වකගසා ගෙන ඉන්නේ කිම්ද? ගැමුණුකුමාරයෙනියි! ඇසුවාය, මෑණියෙනි! ගොළුමහතිල්මුහුද දකුණුදිගය මහවැලිගඟින් එපිට සැඩිදෙමළෝය, මමකොතනඅතපයදිග අරිම්දැයිකීය, මෙසේ ඒගැමුණුකුමාරයාමහත්වික්‍රමයෙන්වැඩෙනසඳ අනුරාධපුරනුවර දකුණුදිග කඩරොද යනගම * කෙළෙඹිකුලයක කෙළෙඹිදරුවෙක්ව ඉපද වැලිකෙළිනාවයසටපැමිණි ළමයාගේ ඉඟවරපටබැඳඅනෙක්කොණ දෑගලේබැඳ ළමයා ගෙයි ඉඳුවා මෑණියෝළිඳටගියාහ, දණ ගා ගෙන දොරට එන විට එළිපත පඩියේ දෑගල රැඳුණේය, ළමයා එය ඇදපුකල වරපට බිඳී ගියේය, ඒසවියදැකලා මෑණියෝ **නන්දිමිත්‍රයෝ**යයි නම්තුබූවාහ,

නන්දිමිත්‍රයාවැඩිවිය පැමිණ බලසම්පන්නපිරිමියෙක්විය යි දැනගතයුතුයි.

නන්දිමිත්‍රයාඅනුරාධපුර නුවරට ගොස් ශ්‍රීමහාබොධීන්වහන්සේට මල්පහන් පුදා ථූපාරාමයටත් එම සැටි පුදා ගෙදරට ගියේය; එදා පුදාපු මල්පහන් දෙමළු කඩාදමාපූහ, උදෑසන නන්දිමිත්‍රයා ගොසින් බලා අවුත් ඉඳ මේසැඩිදෙමළුන් මරමැ'යිසිතා රාත්‍රියේ අනුරාධපුරනුවරට වැද දෙමළුන් අල්ලා සීමාපවුරෙන් පිට වැටෙන්ට ගසන්නේය, මෙ සේම රාත්‍රිභාගවල වැද නැතක්

* කඩරෙද්ද යන ගමය යි-සද්ධම්මාලඞ්කාරයෙහි කියා තිබේ—

දෙමළුන් මැරූයේය,මෙසේ මරනවිට නැතක් දෙමළෝ අඩුවූහ, දෙමළ ඇමතියන් එක්වෙලා රජුට කීවිට තොපිහැමදෙනාඑක්ව රාත්‍රියේ බලවයි කීසඳ ඒසැටිමුරසිටියෝය, ඒඅවස්ථායෙහි නන්දිමිත්‍රයා දැක අල්ලන්ටදිවආවෝ නමුත් බැරිවිය,නන්දිමිත්‍රයාදෙමළුන් කීපදෙනෙකුමරාදමා ගමට ගියේය, ගමටගොස් නන්දිමිත්‍රයා මෙසේ සිතන්නේ මට දෙමළුන් මරා එතෙක්කරන්ට බැරිය රුහුණුමාගමටගොස්පින්වත් රජකුමාරයකුටඑක්ව පස්වාදහසක් පවත්නා ශාසනය එළිකරමි යි සතිටුහන්කොට, උදසනම පිටත්ව ඉරමුදුනට එන්ට පළමුවෙන් කාවන්තිස්රජ්ජුරුවන්දැක්කාහ, රජ්ජුරුවෝ නන්දිමිත්‍රයාට බොහෝ තෑගි දී සිටුවා ගෙන ගැමුණුකුමාරයාට භාර කළාහ,

නන්දිමිත්‍රයා මේ බලේ ලබන්ට සටජාතියේ කවර පිනක් කෙළේද යත්? **කකුසඳ කොනාගම කාශ්‍යප ගෞතම බුදුන් සමයේදී** * කිරිපිඬු දන් දී මේ බලය ලද්දේයයි දතයුතු;

කසාතොට සැඬිදෙමළුන් එළවනු පිණිස දිගාබලකුමාරයා මුරසිටියේය,කාවන්තිස්රජ්ජුරුවන්ගේමෙහෙවරින් ඒකුමාරයා එකී එකී කුලවලින් සෙවකයන් ලියාගත්තෝය, ගොඩිගමුව යන ගම † කෙළෙඹිකුලයක සත් දෙනෙක්ඇත්තාහයි ඒකුමාරයාට සැළව ඉන් එකෙකු ලියාගත්තෝය, සත්දෙනා අතුරෙන් බාලවූනිමිලයාකියන පුරුෂයා කිසි වැඩක් නැතිව ගෙයි කාලා ඉන්නේය, අනෙක් සදෙන කිසි කර්මාන්තයක් නොකර ඉන්නා මලයා දිගාබල කුමාරයන් ළඟටයවන්ට කියා මවුපිය දෙදෙනාට කීහ, මේසදෙන කොතෙක් කීවත් නිමිලයාට මාතා පිතාගේ මහා ශ්‍රද්ධා ඇත්තීය නිමිලයාඋදසන නැඟිට මවඅතින් හීල්බත්ඉල්වා ගෙන කා පසුම්බියට හාල්පතක් ගෙන මවුපියන්ගෙන් අවසර ගෙන නික්මුණේය, නිමිලයන්ගේ බලේ මවුපියදෙදෙනා දනිති, ගොඩිගමුවේසිට කසාතොටට තිස්ගව්වක්ය, ඒදිගාබල කුමාරයා උදසන අත්මුවසෝධාඅවුත් ‡ බත්කනවේලාවට-පාන්වූසත් පැයට නිමිලයාගොසින් දිගාබල කුමාරයාදැක්කෝය, ඒකුමාරයා

---

* කකුසඳ-කාශ්‍යප-යන බුදුවරයන් දෙදෙනාවහන්සේගේ කාලයෙහි පින්කළබව-සද්ධම්මාලඞ්කාරයෙන් පෙනේ—

† කොටසර- කීලවාපිජනපදයෙහි කාඩවිටි නම් ගමයයි සද්ධම්මාලඞ්කාරයෙහි පෙනේ—

‡ අතුගෙට ගොස් ඇවිත්-ඇතැම්.

කවදැනුඹ පිටත්වූයෙහිදැ'යි ඇසිය, මමඋදෑසනපිටත්ව ආමි කීය, ඔහුගේබස රාජකුමාරයාට සැබෑබොරු නොදැනෙන නිසා ඉන් විමසමිසිතා පතක්ලියාදී හිල්බත්කන්ටදී පාන්වූඅටපැයට පිටත් කොළේය, පතලියාදී මෙතැනසිට තිස්ගවුදුර දැම්පිගමඉන්නා මාගේ යහළු බමුණාට මේ පත දී ඔහුවිසින් දෙනලද බෙහෙත් ගෙනෙවයි කියා පිටත්කොළේය, ඒ බමුණු පතබලාගෙන අද ආවාදකියා විමසූසඳ දූත් ආවාය කියා: මට ග්‍රීෂ්ම තදය පැන්ඇති නෙතක් කියවයි කීසඳ: මෙතනසිට සතරගවුදුර අනුරාධපුර නුවර සතරවාසල්කඩ සතරපළින් වෙනවෙනම බෙහෙත් බඩු සතරක් ඇරගෙන නැවත තිසාවැවට ගොස් නාලා ඒබෙහෙත්බඩු ගෙනෙව'යි කියා නුඹට කන්ට බත් මාළු උදවු කරනවායකියා යන්ටහැරියේය, නිමිලයා තිසාවැවට ගොස් නාලා මාණෙල් කඩා ගෙන සතරදෙරටුවෙහි කී බෙහෙත්බඩුගෙන නුවර මුළුල්ලේම බලා ඇවිද නැවත බමුණුගෙදරට බත්වේලාවට අවුත් බෙහෙත් බඩු බමුණාට දීලා සිටිසඳ උගේබලය ඒබමුණා දැනලා බොහෝ විසමයටපැමිණ ඔහුට මසුරන් සියයක් දී දිගාබලකුමාරයාට පත ලියන්නේ: මේපුරුෂයා උතුම්පිරිමිනියෙක දෙමළුන්ට අසුවීනම් නපුරැය, නොපසමීපයේ ඉදීම සුදුසුනොවෙයි කාවන්තිස්රජ්ජු රුවන්ළඟට ඇරියමැනවැ'යි පතලියාදී හැරියේය, මීකෙළිනා වේලාවට(දවහල්ම)කාසාතොටට අවුත් ඒ පතහා ගෙනාබෙහෙත් බඩු හා මහණෙල්මල්සමඟ දිගාබලකුමාරයාට දී සිටිසඳ ඒකුමා රයා ඔහුගේ බලේ දැකලා මසුරන් දහසක් දී නුඹ ගමටගොස් මවු පියන්හට කියා රුණමාගමට යනසැටියට සෙට එවයි කියා හැරි යේය, ඒමසුරන් ගෙනගොස් මවුපියන්ට දී සිටිවිට වැඩිමහලු බෑයෝ ගෙට අවුත් සිට නිමිලයාගේ බලේ නොදැන මේ සොරා කාසාතොටටනොගොස් මඟසිට ආවා'ය කියා උරණ තෙපුල් කීවිට, මවුපියෝ: එසේනොකියව් යයි ඔවුන්සදෙනාට කියා පසුවද නිමිලයාට යන්ට බත්මාළු උදව්කොට දීලා යන්ටසමු දුන්න, එකල නිමිලයා කාසාතොටටගොස් දිගාබලකුමාරයාදුන් පත ගෙන ගොස් කාවන්තිස් රජ්ජුරුවන් අතටදී වැඳසිටිසඳ එරජ ඒ පතබලා ඔහුගේ බලේ ලියාතුබුවාදැක මසුරන් ලක්ෂ යක් දී ගැමුණුකුමාරයාට පාවාදුන්නේය,

කොනාගම කාශ්‍යපබුදුවරුන්ගේ * ශාසනවලදී කිරිපිඩු දන්දී බලේඇතිව උපනැයි මෙසේ අනෙක් යොධයෝ අටදෙ නත් සෙසු පින්කම් කොට බලේ ලද්දැහයි දැනගතයුතුයි,

---

* කාශ්‍යපබුදුන්සමයෙහියයි-සද්ධර්මාලඞ්කාරයෙහි පෙනේ

කාවන්තිස් රජ දශමහා යොධයන් හා කඩොල්ඇතත් ගැමුණුකුමාරයාට භාරදී උන්නේය, තිසසකුමාරයන්ට දීඝාමඩුල්ලදුන්නේය,කාවන්තිස්රජ මේ දෙබෑ කුමාරයෝ රටලොභයෙන් වස්තුලොභයෙන් ඩබරකාරගෙන සටන්වූ නම් දශමහායොධයෝ එක්කුමාරයකුටවූනම් අනෙක් කුමාරයා නසී සිතා දශමහායොධයන් ගෙන්වා මේදෙබෑයන්කාරන සටනක් ඇත් නම් නොපිදසදෙන දෙදෙනාට එක්නොවීසිටුවයිකියා බුඩශාසනයට අනතගාදිවූරන්ට කීසඳ ඒදසදෙන ඒසැටියේ දිවුරුම් දුන්නාහ,

මෙසේ ගැමුණුකුමාරයා සෙනාවත් ගෙනගොස් කසාතොට සිටිසඳ මහවැලිගඟින් එගොඩයන්නට පියාණන් අතින්අවසර ඉල්ලාඑවීය, එසඳ මේ කුමාරයා සැණෙකින් නැසීයෙයි සිතා දරුවන්රකින පිණිස යන්ට එපා යයි කියාපත් අරින්නේ: දශලක්‍ෂඅසූදහසක් දෙමළසෙනාවය, විසිමහායොධයෝය, ගඟින් මෙගොඩ අපට ඇත කියා වළකා පත ලියා ඇරියේය, මෙසේම තුන්වාරයෙක පියාණන් අතින් අවසරඉල්වාඑවූකල්හි මහවැලිගඟින් එගොඩ යන්ට අවසර නොදී කුමාරයන් රැකගන්ටඕනෑ නිසා තුන්වරම එපාය කියා පත්ලියා පුතණුවන්ළඟට ඇරියේය, කුමාරයා සතරවැනිවර මපියරජ ගෑනිය පිරිමියානොවේයයි කියා ගැහැනුන්පලඳින ආභරණ එවූයේය,

පියාණෝ ඊට සිත කෝපව සැණෙකින් මේ කුමාරයා නසී සිතා රන්හැකිල්ල ගස්වා හිර කරමි කිය, පිය රජ කී බසට උදහස්ව ගිලිමලයට ගොස් සැඟවී කිපදවසක්සිට කොත්මලයට ගියේය, කාවන්තිස්රජ චොටුනු පැලඳ සැටඅවුරුද්දක් රාජ්‍යය කොට * තුෂිතපුර ගියේය,

කාවන්තිස්රජ්ජුරුවන් ඉකුත්වුණාම තිසසකුමාරයාඅවුත් පියරජු දෙණක ලා කඩොල්ඇතත් මෑණියන් විහාර මහාදෙවිත් කැඳවාගෙන දීඝාමඩුල්ලටගියේය, ගැමුණුකුමාරයා පියාණන් ඉකුත්වූ බව අසා කොත්මලයෙන් පිටත්ව මාගම්නුවරට අවුත් තිසසකුමාරයන්ට පත් ලියාඇර මෑණියනුත් මාළපත්දළපත් කඩොල්ඇතත්එවයිකීසඳ තිසසකුමාරයානෝවා උන්නේය. තුන්වරක් පත්ලියාඇර නේවූ විට සටනටනික්ම ගැමුණු රජසෙනඟ ගෙන යුදඟනාපිටියේදී දෙබෑයෝ යුඩ පුණ්ඩුව මූනගැසී ගැමුණු

* සැටහතර අවුරුද්දක්යයි-සද්ධම්මාලඞ්කාර සුලුරාජාවලි ලඞ්කාකථා ආදියෙන් පෙනෙ.

කුමාරයාගෙන් තිස්දහසක්සෙනඟවැටී යුද්ධපරාජයව බිඳීදුවන
විට තිස්සකුමාරයා ගැමුණුකුමාරයා පසුපස්සේ එලවාගෙන
එනවිට මහාසංඝයාඅවුත් මඟසරස්කොට සිටියාදැක තිස්ස කුමා
රයා ආපසුදීගාමඩුල්ලට ගියේය, නැවතබලපිරිස් එක්කරගෙන
ගැමුණුකුමාරයා සටනට නික්මුණේය, මෙසේම සේනාව නසා
යුද්ධකර මතු දෙමළසටන් බැරිය, කියාසිතාගෙන අප දෙදෙනා
කොටා දිනූකෙනෙකුන්ට රටයයි කියා පත් ලියා යැවූවිට තිස්ස
කුමාරයා කඩුල්ඇතාපිට නැගී ගියේය, ගැමුණුරජ අසුපිටනැග
ගොසින් යුද්ධගණාපිටියේදී දෙදෙනා සම්මුඛව අසුවිහිදුවා කඩුල්
ඇතාට උඩින්පන්වා කඩු පිටින් තිස්සකුමාරයාට ගැසීය, එවිට
කඩුල්ඇතා කිපී මාපිට උන්නේ ගැහැනියෙක අශ්වයා පිටඋන්
නේ පිරිමියෙකැයි කියා සිතාගෙන කඩුල්ඇතාතිස්සකුමාරයා
බිමටහෙළාපීය, ඒකුමාරයා දුවනවිට ගැමුණුකුමාරයා මොහු
අල්ලා සිරකරවී නැතහොත් නැවත සෙනඟගෙන ආපසු සටන්
කරයි සිතා මොහුපසුපස්සේ අල්වන්ට එලවාගෙනගියේය,
තිස්සකුමාරයාඒදැක ගණපනතියට වන්නේය, ගැමුණුකුමාරයා
ඔහුපසුපස්සේ එලවාගෙනගොසින්විහාරයේ දොරකඩරැකගත්
තේය, තිස්සකුමාරයා ගණපනතියට වදිනකොට ගැමුණුකුමා
රයා පාරේඑනබැව්දැක එහි උන් සඞ්ඝයා සිටියාහ, සිටිසඞ්ඝයා
උන්නාහ, මෙහිදූන්ආ තිස්සකුමාරයා කොයිදස්වාමීනියි ඇසූ
විට අපි උන්තෙක් සිටිතෙක් දුටුවේ නැතැයි කීවාහ, අපවත්වූ
සඞ්ඝයානමක් සිවුරුවසා බැඳගෙන යනමෙන් විහාරයෙන් පිට
තට තිස්සකුමාරයන් ගෙනගියාහ. ගැමුණුකුමාරයා කියන්නේ
කිරනැතිකයට තිස්සයාසඞ්ඝයාගේ කරපිටින් යන්නවූවකියා
කඩොල්ඇතත් මැණියන් විහාරමහාදේවීත් කැඳවාගෙන මාගම්
නුවරටගියේය, තිස්සකුමාරයා මහාසංඝයා වහන්සේට කියාලා
බෑයන් සතනානකරවනුපිණිස ගණපනතියට අවුත් මහාසඞ්ඝයා
පිටත්කර එවූයේය. මාගම්නුවරට අවුත් සංඝයා ගැමුණුකුමා
රයාදැක එපවත් කියා තිස්සකුමාරයා ගෙන්වා ගැමුණුකුමාර
යන්ට භාරකර දුන්නාහ, ගැමුණුකුමාරයා කුමක්නිසා වැඩියාද
ස්වාමීනියි කියා මාගේ අත වරද නොවෙයි තිස්සකුමාරයන්අත
වරදය දහස්ගණන් සේනාව නසාපිය කියා මහාසඞ්ඝයාට වැඳ
අවසරගෙන සිටියේය. පසුවදා පියාණන්ගේ මළකඳ සරසා දවා

දෙදෙනා ඔවුනොවුන් බදාගෙන අඬා පියාණන් දුක් සන්සිඳුවා උන්නාහ. දශමහායොධයෝ අවුත් ගැමුණු කුමාරයන්දුකාලා පියාණන්වහන්සේ දෙබෑයෝ සටන්කෙරෙති කියා අප දස දෙනා ගෙන්වා දිවුරුම් ගත්සේක, අපි දසදෙන අහක උන්න මුය, යි කීහ. ගැමුණු රජ එබසට සතොසාෂව විහාරයට ගොස් මහාසඞ්ඝයා වැඳ ස්වාමිනි මම මාවැලිගඟින් එගොඩයන්ට ඕනෑය, අවසරගන්ට ආමි කියා අවසරගෙන නුවරටගොස් මල ණුවන් කැඳවා තුරුළුකොට සිපසනාහා මම දෙමළ සටනට යෙමි, නුඹ ගොයම් කරවයි කියා මලණුවන් නැවත සිඹ සනාහා සිව්රඟසෙනඟ ගෙන කසාතොටින් එගොඩ ව තුන්ගම්කටු පිටියේ වාඩිලාගත්තෝය.

අපබුදුන් පළමු යකුන් දුරු කරමින් මහියඞ්ගණයෙහි වැඩ සිටිදා සමන්දෙව්රජ බුදුන් වැඳ සිට ආරාධනා කළවිට බුදුරජා ණන්වහන්සේ කෙශධාතුමිටක් දී සමන්දෙව්රජහට වදාරන සේක්: සමන්දෙව්රජ පන්දහසක් පවතිනාසේ දාගබක් කරවයි කී සේක. සමන්දෙව්රජ ඒ කෙශධාතුවගෙන බුදුන්වැඳ මොහොතක් බුදුන් වැඩසිටි බිම සත්රියන් ඉන්ද්‍රනීල මාණික්‍යයෙන් නිම්මිත කරවා දාගබ බැඳ පූජා කරන්නාහ. බුදුන් පිරිනිවන් පා වදාළ කුසිනාරා නුවරදී දරසෑයට මහසුප් මහතෙරුන්වහන්සේ ගිනි දුන්විට * සරභූනම් රහත්තෙර කෙනකුන්වහන්සේ දරසෑය ගිනි නිවෙන්ට පළමුවෙන් රක්‍ෂපදමයට හෘඩගයෙක් වදනාසේ වැද ග්‍රීවාධාතුව ගෙන ඒ මියුගුණුවෙහෙර දාගබෙහි තබා වැඩි සේක. ඊට පසු මිහිඳු මහතෙරුන් වහන්සේ දෙවනපෑතිස් රජ්ජුරුවන්ට කියා සත්රියන් මැණික් දාගබ වසා සතළිස්රියන් දාගබක් බැන්දවූසේක. එතැන රත්රන් ඇතුවා දැන මේ සෑඩි දෙමළු රත්රන් ගන්ට අවුත් රූකාගෙන සිට සමන්දෙව්රජ බැඳි දාගබින් ගිනිරස් ඇවිලී බුදුරස් පිටතට ගියා දැක භයපත්වූහ. පන්දහසක් පවතිනා ශාසනයෙහි අනුහසින් අදවනතුරු හැම දින ම රතින් සුදින් නිලින් බුදුරස් පිටත් වෙයි. දැනගතයුතුයි. මේ සෑඩිදෙමළු පෙර නෙත්තියට කඳවුරු බැඳගෙන එතන උන්නාහ.

---

*අප බුදුරජාණන් වහන්සේගේ සෑය මහසුප් මහ තෙරුන්වහන් සේගේ සම්ප්‍රාප්තියෙන් පසු තෙමෙ ම ගිනි ඇවිළීගියබව සතුපවංශාදී ධම්මකථාවන්හි පෙනෙ.

දූන් මේ ගැමුණු රජ සිවුරඟසෙනඟ ගෙන මියුඟුණු මවෙහෙර කඳවුර වටලාගෙන තුන්මසක් සටන් කොට එහි කෝට්ටය අරවා ගෙන මහත් පෙරහරින් ගොස් මානෙල් නුවර කෝට්ටය වටලා තුන්මසකින් සටන් කොට ජයගෙන නෙසියාඩම් කෙළ එතනින් ගොස් අඹමුවා කෝට්ටය වටලා දෙමසකින් අරවමින් මහපෙරහරින් ගොස් මහත් බලඇති සත්බෑ කෝට්ටය වටලා සත්බෑ දෙමළුන් අතුරෙන් බොහෝ දෙමළුන් මරා සාරමසකින් ජය ගෙන එතනින් ගොස් අතුරුබා කෝට්ටය වට ලා සටන් කොට සමසකින් අරවමින් මහත් සන්තොෂයෙන් නෙසියාඩම් කෙළ එතැනින් පිටත් ව දෙනගමු කෝට්ටය වටලා දෙමසකින් සටන් කොට අරවා ජයගෙන එතැනින් ගොස් හලාකොළ නුවර කෝට්ටය වට ලා දෙමසක් සටන් කොට අරවා ජයගෙන එතැනින් ගොස් පොහොවතු කෝට්ටය වටලා තුන්මසකින් අරවා ජයගෙන ගැමුණුරජ මහ සෙනගට රන්රුවන් පඩිදී එතැනින් ගොස් දිගාබය ගොල්ල කෝට්ටය සාරමසකින් සාධා ජය ගෙන මහත් කොට ප්‍රීති ශබ්ද පවත්වා නෙසියාඩම් කෙලිකෙළ එතැනින් ගොස් කසානොම කෝට්ටය වට ලා දෙමසක් සටන්කර අරවමින් එතැනින් ගොස් මහාවෙට්ට නුවර කෝට්ටය වට ලා සාරමසක් සටන් කොට ජයගෙන එතැනින්ගොස් බානාගම්කෝට්ටය වටලා දෙමසකින් සටන්කොට අරවමින් එතැනින්ගොස් නීලාගම්කෝට්ටය වටලා සටන්කොට අරවමින්, කුඹගම් කෝට්ටය වටලා අරවමින්, නන්දි ගම් කෝට්ටය වට ලා අරවමින්, විල්බාගම් කෝට්ටය වටලා අරවමින්, කඹගම් කෝට්ටය වටලා අරවමින්, මෙ හැම සාර මසකින් සාධාගෙන මහත් පෙරහරින් ගොස් මුහුණ්නාරුවේ කඳවුරුලා කොටනවිට දෙමළසෙනඟත් ගැමුණු රජුගේ සෙනගත් කලබැගෑනි ව දෙගොල්ල තොරා ගන්නට බැරි ව සිටිවිට ගැමුණු රජු සිතට දුක් වැද මම රාජ්‍යයට ලොභයෙන් නොවෙයි පස්වාදහසක් කල් මුළුල්ලෙහි පවත්නා බුදුසසුන එළිකරම් සිතා පරසතුරන් නැසීම පිණිස කොටම් මාගේ සෙනාව හැඳිවසන හා ආයුධත් ගිනිසේ දිලිහි දිලිහී තිබේව'යි යන වගට සත්‍ය ක්‍රියා කොට අඬගැසීය. ඒ සැටියට ඇඳිවසන හා ආයුධ ගිනිසේ බබලා සිටිතල සේනාව තුරන්නු කරගෙන දෙමළුන් මරා ජය ගෙන මහත් සන්තොෂයෙන් ගැමුණුරජ ප්‍රීතිව සෙනඟට රන් රුවන් පඩිදී එතැනසිට විජිතපුර සටනට වැඩිලූහ, විජිතපුර කෝට්ටය කෙසේද කිවහොත්: අගලතුන

කපා වටකර දිය පුරවා තිබෙන්නේය, වටකර ලෝ පවුරක් ද තිබෙන්නේය, දසඅටරියන් දොරකින් වසා තිබෙන්නේය, අරවාපුවාසින් සෙසුකෝට්ටයක් මේ සැටියේ නැත, අනුරාධපුර නුවර හැර මෙයට සරි සෙසු කෝට්ටයක් නැත, මේ පසුවුණු කෝට්ටවල් අරවනකල් දශමහායොධයන් බොහෝසේ කොටු මට නැර මහසෙනගලවා කොටවූවාහ. දුටුගැමුණු රජ දශමහා යොධයන්ගේ බල විමසනවිට රජ්ජුරුවන් දකින්නට එන නන්දිමිත්‍රයාගේ ඉස්සරට කඩුල්ඇතා කොපකරවා තරහ වන්නට බස් කියා පිට ගල් හෙලනාකලට කඩුල්ඇතා අවිචිමහා නිරයේ ගිනි වෙවුලුවාක්මෙන් ගුගුරමින් නන්දිමිත්‍රයාගේ ඉදිරියට දුවන්නටවන. නන්දිමිත්‍රයා තමාගේ ඉදිරියට එන ඇතු දැක මාවැනි යොධයෙකුට ඉසකේ පිට හෙළාගෙන දිවීම සුදුසු නොවෙයි. ඇත්රජුට මම කියවියක් දනිමියි සිතා වමත හකු එවාගෙන දකුණතින් ඇතු සොඬ හයා දැතින් දෙදළ අල්ලා ඔබා බල්ලෙකුසේ උක්කුටුකයෙන් බිමඉඳුවාපිය.

එවේලෙහි නන්දිමිත්‍රයාගේ බලය මහසෙනග දැකලා ඔල්වරහඬ ගසමින් මහත් කෝලාහල ශබ්ද පවත්වා හඬගැසූහ. මේ කඩුල්ඇතා දසකුල ඇතුන්ට *වැඩියෙන් උතුම් බලඇති ඡද්දන්ත කුලයෙහි උපන්හෙයින් මේ ශ්‍රී ලඞ්කාවේ දැන් ඉන්නා ඇතුන් සියක්කෙළක බල ධරන්නේය. නන්දිමිත්‍රයාගේ බලය දැකලා ගැමුණු රජ්ජුරුවෝ විජිතපුරනුවර සටනට භයනැත කියා විජිතපුර කෝට්ටය වටලාගෙන දිය අගලතුන පැන ගෙන ගොස් දකුණු වහසල් දොරට කඩොල්ඇතා සටන් පිණිස යැවීය. නැගෙනහිර වාසලට වේළුසුමන යොධයා අසුපිටට නැගී ගොස් බොහෝ දෙමළුන් මැරීය. එවේලෙහි දෙමළු වේළුසුමන යොධයාට භයින් නැති ගෙන ආයුධ දමා ඇතුළුනුවරට වැදී අට්ටාලවල දොරවල් වසා ගෙන උන්නාහ. ගැමුණුරජ බලාසිටියේය. නන්දිමිත්‍ර යොධයාද නිමිල යොධයාද කඩුල් ඇතාද මේතුන් දෙන දකුණුවාසල සටන්කළහ. සේන නම් යොධයාද ගොඨඉම්බර නම් යොධයාද ථෙරපුත්ත යොධයාද නැඟෙනහිරවාසල

* 1 කාලාවක, 2 ගඞ්ගෙය්‍ය, 3 පණ්ඩර 4 තම්බ, 5 පිඞ්ගල, 6 ගන්ධ, 7 මඞ්ගල, 8 හෙම, 9 උපොසථ, 10 ඡද්දන්ත, යනු දශ ඇත්කුලයයි. කාලාවක ඇතුන් දශදෙනෙකුගේ බලය (ශක්තිය) ගඞ්ගෙය්‍ය කුලයෙහි එකඇතකුට ඇත්තේය, ගඞ්ගෙය්‍ය කුලයෙහි ඇතුන් දශදෙනෙකුගේ බලය පණ්ඩරකුලයෙහි උපන් එක ඇතකුට ඇත්තේයයි-මෙම ක්‍රමයෙන් ඉතිරි ඇත්කුලවලද දතයුතුයි.

සටන් කළාහ. බස්නාහිර වාසලද උතුරුදිග වාසලද අනිකුත් යොධයො සටන් කළාහ. කඩුල් ඇතා තුඤවනාද කොට ගුගුරා මහදොර බිඳින්නට වන අට්ටාල වල සිටි දෙමළසෙනඟ අනෙක ප්‍රකාර ආයුධ ගෙන විදිමින් සිටිවිට ඇත් පසුනොබැස සිටී කල්හි හුණුකරපු යබොර (ඊයම්) ගෙන ඇතුපිට වත්කළහ, එවිට ඇත් මුරගා වෙදනාව ඉවසාගත නො හී දිය අගල වැටී ගිලී උන්නේය. ඇතුපිට ඇළුණු යබොර උගුළුවා ඇතුගේ වණයට වෙදකම් කරගෙන ගැමුණුරජු අඳින සළුපිළි වලින් ඇතුපිට වසා ඊපිට තඹපට අතුට මා උපන්දා උපන් ඇත්රජ සියලු ලක්දිව තුඹට දෙමි" කියා දොර බිඳින්නට කීවිට ඇත්රජ සෙනහඬින් ගුගුරා ගොස් අත් බිම ඔබා.දොර දෙදළින් උගුළුවාපිය. එවිට දොර මුලින් ඉගිළ ඇතු යටවෙන්නට එන විට එතැන සිටි නන්දිමිත්‍ර යොධයා මාගේ රජ්ජුරුවන් වහන්සේගේ ඇත් වාහනය නසී යි සිතා උරහිසින් එය අට ඉස්බක් පමණ ඈත දමාපිය. එදා නන්දිමිත්‍රයොධයා බිම අල්ලා හිඳුවාපු වෛරය හැර පිටට නැගෙන්නට මුහුණබැලීය. දශමහා යොධයො ඇත් වස්සා ගියතැනින් අපි නො යමුව, කියා දස දෙන අට ඉස්බක් පමණ ලෝපවුර බිඳ විජිතකොට්ටයට වැද දෙමළුන්ට කොටා මැරුවාහ. කඩුල්ඇතා රථ සකාක් ගෙන දෙමළුන් මැරිය. විජිතපුර සටන් සාරමසක් කර බොහෝ දෙමළුන් මරා එතැනින් නික්ම ගොස් ගිරිතිල්ලන්කඩ වාඩිලා ගෙන සෙනඟට පඩිදී පන්සියක් රහතුන් වැඳ පුදා ගිරිතිල් ලන්කඩ අරවමින් අනුරාධපුර සටනට පිටත්ව ගොස් කසාගලු ගම කෝට්ට බැඳ උන්හේය එළාර රජ ගැමුණු රජු කසාගලු ගම කඳවුරු බැඳ ඉඳිනබව අසා දෙමළ නුවර ඉන්නා සිංහල ඇමතියන් ගෙන්වා කිමෙක්ද? ඇමතියෙනි දුටුගැමුණු රජ මියුගුණ පටන් තිස්දෙකක් කොටු අරවමින් විජිතපුර කොටා නුවර අරවා කසාගලුගම කඳවුරු බැඳ ඉඳිනේය, සටනට ගොස් කෙසේ කරමුදැයි? ඇමතියන් අතින් ඇසීය, එබසට ඇමතියෝ "සිවුරඟ සෙනඟ ගෙන සෙට සටන් කරමුව" කීවාහ, එළාර රජ පත්ලියා අරිනේ "ගැමුණුරජ කසාගලුගම ඉඳ කම් කිම්ද? සෙට සටනට එව'සි කියා ලියා ඇරියේය, එළාර රජු එවූ පත ගැමුණු රජහට ගෙනවුත් දුන්සඳ ගැමුණු රජ පත බලා දෙවැනි පත ලියා අරින්නේ "අපි එමින් සිටියම්හ: නෙපි එව සි" කියා පතට පත ලියා ඇර දශමහා යොධයන් ගෙන්වා කියන්නේ "එළාර මහරජුගේ විසිමහායොධයන් හා

මරසෙනඟක් වැනි සෙනඟ සමඟ සෙට සටන් කරමුද? පස්සට
යමුදැයි" කියා දශමහ යෝධයන් අතින් ඇසූයේය, දශමහා
යෝධයෝ කියන්නාහු: "එක එළාර රජුගේ සෙනඟ තබා මුළු
දඹදිව රජ පිරිස් ආවත් අපි දසදෙනා ජයගන්නට නොදෙමුව'
කියා භය නොවව මහරජයි සැලකළාහ.

ඊට පසුවද එළාර රජ මාරසෙනඟමෙන් සිවුරඟසෙනඟ
පිරිවරාගෙන දීඝජන්තුයෝධයා ආදි කොට ඇති විසිමහයෝධ
යන් හා සමඟ අනුරාධපුරනුවරින්පිටත සටනට ආයේය,ගැමුණු
රජ කොටුවමැද සිට මුතුකුඩය නංවාගෙන සක්පලිහදෙක දැල
වරට අල්ලවාගෙන සූසැටක් භෙරිනාද කරවා යුගන්ධරපර්වතය
සෙනඟඩමෙන් ගුගුරුවා නාද පවත්වා දකුණුභාගයෙහි නන්දි
මිත්‍රයෝධයා සිටුවා වම්භාගයෙහි නිමිලයෝධයා සිටුවා අනෙ
කුත් යෝධයන් කොටුමට සිටුවා සිවුරඟසෙනඟ සාධාගෙන සිටි
යේය, එළාර රජ මහාපර්වතයා කියන ඇතා පිට නැඟී කසාගලු
ගම කඳවුරු දැක සිටි විට විසිමහයෝධයන්ට මූල්ලීන දීඝජන්තු
වා කියන පනාකයෝධයා ගැමුණුරජු සිටි තැන මුතුකුඩය දැක
ලා පළමුවෙන් රජුට කොටා දෙවනුව සෙනඟට කොටමි සිතා
අසූරියනක් අහසට පැන ගැමුණුරජුට කොටන්නට එනවිට
නිමිලයෝධයා කඩුවත් පලිහත් අතට ගෙන (නිවට දෙමළ
කොයි යෙහිද)යි කියා අඬගසාගෙන එළියට පැන්නේය, ඒ
අසා රජුළඟට නොගොස් නිමිලයෝධයා ළඟට දිවඅවුත් කෙටීයා
නිමිලයෝධයාට කෙටූවිට තම පලිහ පෑය, පලිහ පෑවිට පලිහේ
කෙටුම වැදී දීඝජන්තුවාගේ අත දෙදරා උගේ කඩුව බිමවැටු
ණේය, කඩුවගන්ට නැමුරුවූ විට නිමිලයෝධයා දීඝජන්තුවාට
කොටා දෙපලුකර දැමීය, එදා දශමහයෝධයෝ ද ගැමුණුරජුගේ
සෙනඟ ද දෙමළ සෙනඟ මැදට වැද කොටා මැරූහ, ඒ කොටා
මැරූ දෙමළුන්ගේ ලෙයින් වැවක් පිරීගියේය. ගැමුණුරජ එළාර
රජු මරන්නට එපාය කියා කඹුල්ඇතා පිට නැඟී එළවාගෙන
ගොස් ඇත්දෙදෙන දළින් දළ අන්වා එළාර රජහට තෝමරය
දමා ඇන මැරීය, ගැමුණුරජ: එනදවස රජදරුවෝ මෙතැනදී
ඡේලා කැණමින් ගේවිසියෙන් නොයත්වයි එළාර රජුමැරූතැන
ගල්ටැඹ අකුරුලියා පිහිටුවා එළාර රජු දවා ශක්‍රදෙවේන්ද්‍රයා
මෙන් අනුරාධපුර නුවරටවන.

විජිතපුරකෝට්ටය වටලා ඉදිනාඅවධියට එළාර රජ දඹ
දිවට පත් ලියාඇර උන්නේය. එළාරරජුගේ භල්ලූකයා කියන
මලණුවන්ද තිස්දහසක් දෙමළසෙනාව ගෙන දඹදිවින් නැව්

නැඟී මාවටුතොටින් ගොඩ බැස්සේය. තම සහෝදර එළාර රජු නැතිබව අසා (ආයේ දඹදිවට නොයමි, බෑයන් මලසැටියට මමත් මියමි) සිතා ගැමුණුරජුට පත් ලියා එවා සටනට උන්නේය, ඒ පතගෙනගොස් ගැමුණුරජ්ජුරුවන්ට දුන්සඳ පත බලා ගැමුණුරජ දශමහයොධයන් ගෙන්වා හල්ලුකයාගේ සටනට සිවුරඟසෙනඟ ගෙන්වා පිරිවරාගෙන කඬුල්ඇතුපිට නැඟී යුඬයට සැරහී සුසැටක් හෙරිනාද පවත්වමින් යුගක්‍ෂරපර්‍ව්තය සෙනහඬසේ ගුගුරුවා පොළොව දෙදරවමින් අනුරාධපුරයෙන් නික්ම හල්ලුකයාගේ සටනට පටන්ගත්තේය. ඒ යුඬයට යන කල කඬුල්ඇතා ඉදිරියට නොගොස් පසුබැසබැස ගියේය. එළාර රජු සමග අටවිසි සටනක්කරන කල්හි මේ ඇතු පසුබැස්සේ නැත, දුන් හල්ලුකයාගේ සටනට පසුබසින්නේය, අපට පරාජයයි සිතා ගැමුණුරජ දශමහයොධයන් අතින් විමසා ඇසූසඳ දශමහයොධයො කියන්නාහු (දේවයන් වහන්ස අපට පරාජය නොවෙයි, මේ ඇතා පසුබසින්නේ ජයබිමක් බලන්නටය ඇතුසිටි බිම ඈර නොයමුය) කීවාහ, ඇතා ගොසින් හල්ලුකයා ඉන්නාභූමියට ලං නොවී සිටියේය. ගැමුණුරජුසිටිනවාඩියට හල්ලුකයා අවුත් රජුට විදිමැයි කියා අඬගැසීය, ඒ හඬට කථා කළවිට කටට විදිමැයි සිතා විදිනට දක්‍ෂකම් ඇති ඒ හල්ලුකයා එසේ අඬගැසීය, ගැමුණු රජු අඬගැසීම අසා ඇතුපිට ඉඳ ඇතු පස්සේ වූසසදෙවයොධයා ඉඳුවා හල්ලුකයාට විදින්ට උන්නේය, රජ හල්ලුකයාගේ බසට පලිහෙන් මුව වසාගෙන: ඇයි නිවට දෙමළ කියා අඬගැසූඅඬට හල්ලුකයා ශරය ඈද විද්දේය, ගැමුණුරජු මූඛය වසා තුබූපලිහේ වැදී ශරය බිමවැටුණේය, ගැමුණුරජු කටපුරාතුබූ බුලත් සප බිමට දැමීය, හල්ලුකයා ඒ දැකලා ගැමුණුරජුගේ කටටවිද පීමි, කියා මහත්ඔල්වරහඬ ගැසීය, ඒ හඬට වූසසදේවයොධයා හල්ලුකයාගේ කටට සැරය හෙළීය, ඔහු වැටුණු පසුව තිස්දහසක් දෙමළසේනාව මැදට දශමහයොධයො වැද කොටා දෙමළුන් විනාශකොට යුදජය ගෙන ආපසුඅවුත් මහපෙරහරින් අසුර යුද ජයගත් ශක්‍රදෙවෙන්ද්‍රයාමෙන් අනුරාධපුරනුවරට වන්හ.

මියුගුණ සිට හල්ලුකයාගේ සටන නිමවනතුරු මැරූදෙමළ සෙන් ඇවොම දසලක්‍ෂ අසූදහසක් සෙනඟය යි දැනගතයුතුයි.

මේ රජ බුඬශාසනය හෙළි කරන පිණිස මහපින් ඇති ව උපන්නාහයි දැනගතයුතුයි, තිස්සකුමාරයා මෛත්‍රෙය බුදුන් වමත්සව්ව උපදිනාබව දැනගතයුතුයි, බුදුසසුන් හෙළිකරත්

නට සැඩිදෙමළුන් නසා ජයගත් ගැමුණුරජු එකාසංඛෙය්‍ය කප්ලක්‍ෂයක් පැරුම් පුරා එන්නේය. එසේහෙයින් මෛත්‍රෙය බුදුන්ට දකුණත්සව්වන බව දැනගතයුතුයි.

සිරිලක පරසතුරන් නසා මිරිසවැටිදාගබකරවා ඉක්බිති ලෝවාමහපාය කරන්නේ ගල්ටැම් කප්පවා පෙළකට සතලිසක් බැගින් සිටුවා මේ සැටියේ සතලිස් පෙළක් ඉඳුවා බිම්මාල නව ලක්‍ෂයක්හා උඩුමාල අනූලක්‍ෂයක්හා සෙවිල්ලට උඩලෝපට තව්වුව ද කරවීය, දඹදිව දෙශවලින් බුදුන්ගේ ධාතු පිහිටුවන පූජාවට ඒ ඒ රටින් අහසින් වැඩිය සෑඩිමත් සානූකෙළක් මහ රහතන් වහන්සේලා වඩාහිඳුවා ලෝවා මහපායෙහි සිවුරු පිරිකරසහිත ව මහදන් දී නාගභවනයෙහි තුබූ ධාතුගෙන්වා රුවන්මැලි මහදාගබ පිහිටුවා බඳවා සතුන් පව් කරන්නට නො දී පින් රැස් කර සූවිසි අවුරුද්දක් රාජ්‍යය කර දෙව්ලොව ගියේය.

ගැමුණුරජුගේ මල් සැදැතිස්රජ රාජ්‍යයට පැමිණ දිඝානක වෙහෙර කරවා විහාරය කරවා දස අටක් වැව් බඳවා සත්තිස් අවුරුද්දක් රාජ්‍යයකර තුසීපුර ගියේය. *

ඔහුපුත් තුල්නාරජ එක්අවුරුදුඅටමසක් රාජ්‍යය කෙළේය. † ඔහු අනුරාධපුරයෙහි වෙහෙරකරවා සිටිනවිට ඔහු මරා ලැමණිතිස්රජ තිස්නව අවුරුද්දක් රාජ්‍යය කෙළේය, ‡

ඔහුමල් වළගම්බාරජ රාජ්‍යයට පැමිණ පස්මසක් රාජ්‍යය කරනකල සොළී රටින් දෙමළෝ සත්දෙනෙක් සත්දහසක් සෙනඟ ගෙන මේ ලක්දිවට ගොඩබැස වළගම්බාරජු එලවා ලුහු බඳවාගෙන ගොස් එකදෙමළෙක් රජුගේ අගබිසව ගෙන ගියේය, එකදෙමළෙක් අප බුදුන් වැළඳූ පාත්‍රාධාතුව ගෙනගියේය,

* මේරජුගේ වශ්‍රී මෙසි වැරදිවශයෙන් වැටී තිබේ, මහවංශසුලුරාජා ලි ආදියෙහි වශ් 18 ක් රාජ්‍යය කළබව පෙනේ.

† ඔහුපුත් එක්අවුරුදුඅටමසක්යයි, වැරදි වශයෙන් වැටී තිබේ. මහාවංශයෙහි එක් මාසයක් කියාද සුලුරාජාවලියෙහි එක්මස්දසදවසක් කියාද පෙනේ.

‡ ලැමණීතිස්රජද තිස්නව අවුරුද්දක් රජකෙළේයයි මෙහිපෙනේ එව වැරදීමක් වියයුතුයි-අවුරුදු 9-මාස 8-රජකළබව—මහවංශයෙන් පෙනේ—සුලුරාජාවලියෙහි නවහව්රුද්දක්යයි කියා තිබේ—

අනෙක් දෙමළෝපස්දෙන වෙන වෙන ම පිළිවෙළින් තුදුස්අවුරුද්දක් රාජ්‍යය කළාහ. *

පසුව වළගම්බාරජ ගල්ලෙනවල ඉඳ සෙනග ගෙන අනුරාධපුර නුවරට වැද රජකරන දෙමළුන් මරා රාජ්‍යය ගෙන පෙර තමන් වල්වැද ඉඳිනා අවධියේ ගල්ලෙන දැකලා ඒ ගල්ලෙන කටාරම් කොටවා දොළොස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. †

මහදැළිතිස්සරජ රාජ්‍යයට පැමිණ පන්සියයක් රහතුන් වැඩඉඳුවා පොත්ගුල් කරවා දැහැමෙන් පසළොස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ‡

පසුව වළගම්බා රජුගේ පුත් චොරනාගරජු රාජ්‍යයට පැමිණ අටළොස්වෙහෙරක් මුලින් කඩා දමා රාජ්‍යය කරනසඳ ලක්දිව තියංසායක් ගැසීය. කෙසේදයත්? දඹදිව සාගල්නුවර රජකරන මිළිඳුරජුගේ අධර්මයෙන් එරජ එක් ස්ත්‍රියක් කෙරේ ලෝභසිත් උපදවා ඇගේ නිවරදි පුරුෂයාට වරද තබා මරා දමන්ට සිතන්නේ: ඒ බැමිණියගේ පුරුෂයාට මොනවරදක් දමාලාවත් මට කියවයි සෙවකයන්ට කිය, එවිට සෙවකයෝ ඒ බමුණා වෙළඳාමට යන මග රැකසිට බමුණු දුදුරුකඩකට බටුවිට අධිකාරම්ගේ සාපු ගොනා බමුණාගේ ඉස්සරහට දක්කා ගෙනවුත් සැඟවීසිටියාහ, ගොනාට මග අරින්ට ඉඩ නැතිව ආපසු සාරකැවී යනවිට පස්සේ එන බමුණා දැක මේ ගොනා සඟවාගෙන කොයි යෙයිදැයි කියා බමුණාඅල්ලා ගෙනගොස් රජ්ජුරුවන්ට දුන්නාහ. රජද බමුණා මරා දැමීය.

ඒ වග බැමිණියට සැළව: මම පතිව්‍රතාධර්මය රක්‍ෂාකරනවා සැබෑනම් මේ රජුගේ රට නසින්ට ඕනෑය කියා යටිපතුලේ අඳුන් අඟුරු ගාගෙන දිය තුන් ඇල්ලක් අහසට ඉස කුන්විටක්

---

* තුදුස්අවුරුදු සත්මසක්යයි මහාවංශාදියෙන් පෙණේ—

† **මල්ලාටනාග** රජුගැන රාජාවලියෙහි අත්හැරී තිබේ—ඒ රජු සැදැතිස්රජතුගේ තුන්වෙනි පුත්‍රතෙමේයි—මේ තෙම රුවන්මැලි සෑ දාගබ වටේ ප්‍රාකාරයක්ද බඳවා ලෝවාමහාපාය වටේ ප්‍රාසාද දෙතිසක්ද කරවා ලෝවැඩ සඟුන් වැඩකොට අනුරාධපුරයෙහි සාවුරුද්දක් රාජ්‍යය කෙළේය—මහාරත්තක නම් සෙනෙවියෙක් මේ රජු මැරවියයි මහාවංශයෙහි කියනලදී—

‡ මහදැළියාතිස්ස තුදුස්අවුරුද්ද් රජකළබව සුලුරාජාවලියෙන් පෙනේ—මහාවංශාදියෙහි—මහසිලුමහතිස්සයයි—නම වෙනස්වී තිබේ—

අත්පොළසන් ගසා ගෙට වැද දෙරවසාගෙන මළාය. එවිට දෙවියෝ කලකිරී වැසි නැවතුවාහ, එබැවින් දඹදිවට දොළොස් හවුරුද්දක් නියංසාය වැදුණේය; ලඹකාවේ රජ කරන චෝර නාගරජ වෙහෙරවල් නැසූහෙයින් එකඅවධියටම සිරිලකටත් තුන්අවුරුද්දක් වැසි නැතිව සාය වැදුණේයයි දැනගත යුතුයි.*

එදාපටන් බැමිණියගේ සාය හා ශකවර්ෂය පැමුණුණයි දැන ගතයුතුයි, පසුව ලක්වැසියෝ චෝරනාගරජු මරා දමාපූහ, එක ලට අපබුදුන් පිරිනිවි බුඞවර්ෂයෙන් සසියවිසිතුන්අවුරුද්දක් ගියේයයි දැනගතයුතුයි. †

ඔහුට පසුව මහදැළියාතිස්රජුගේ පුත් **කූඩාතිස්රජ** තුන් අවුරුද්දක් රාජ්‍යය කෙළේය

අගබිසව එරජු වසදී මරා සුරතිස් නම් ඇමතියා ලවා එක අවුරුද්දක් රාජ්‍යය කරවිය.

ඔහු සදි කර මරා මූකවෙට්ටි දෙමළා ලවා අවුරද්දක් රාජ්‍ය ය කරවිය.

ඔහු සදි කර මරා පුරොහිතබමුණා ලවා එක අවුරුද්දක් රාජ්‍යය කරවිය.

පුරෝහිතයා මරා තොමෝ ම සාරමසක් රාජ්‍යය කළාය.

පෙරකී සූර්‍ය්‍යවංශයෙන් ආ කූඩාතිස් රජුගේ පුත් **මකලංතිස්රජ** පියරජුරුවන් මැරූ බිසව මරා දෙවිසිඅවුරුද්දක් රාජ්‍යය කෙළේය.

ඔහු පුත් **භාතියරජු** i රජ කරන අවධියේ රුවන්මැලිදාගබ රහතුන් පිරිත් කියනවා අසා දාගබ ඇතුළට වැද මිස නොයමි, සිතා රුවන්මැලිදාගබ්මළුවේ නිරාහාර ව උන්විට ශක්‍රභවනය උණු ව ගියෙන් සක්දෙව් ඒ දැකලා සහායවූ නිසා භාතියරජු සිත්සේ දාගබඇතුළට වැද බණ අසා නැවත අවුත් උයන්වතු කර මල්වලින් රුවන්මැලිදාගබ වසා නොයෙක්වාරයෙහි පූජා කොට අටළොස්අවුරුද්දක් රජසිරිවිඳ දෙව්පුර ගියේය. ‡

---

* මෙහි කියනලද සාය වළගම්බාරජදවසයයි සුලුරාජාවලියෙහි කිය තිබේ—

† චෝරනාගරජු රජ කෙළේ ශ්‍රී. බු. ව. 455 වත් 497 වත් අතර බව මහාවංශාදියෙන් පෙණේ—

‡ භාතියරජු අටවිසිවර්ෂයක් රාජ්‍යයකළබව මහාවංශාදියෙන් පෙණේ

ඔහුමල් **මහදැළිසා** රජ සෑගිරියේ අම්බුළු දාගැබ කරවා තොලොම්හොය සිට සෑගිරි දාගැබට පියවිළිපිටින් ගොස් වැඳ ලක්දිව් වැසියන් විසින් දෙන අයබදු නොගෙන අනුරාධපුර නුවර සතරදිගින් සතරගවු උයන් කරවා සීනිද්ද, බොලිද්ද, හෝපලු, දුනුකේ, වැටකේ, දෑසමන්, සපු, නා, උයන් වතු කරවා නොයෙක්වර රුවන්මැලි දාගැබට පූජාකොට එකුන්සියක් ඔරු ලක්දිව හාත්පස්හි මුහුදපිට බැඳ යොදුනක්තැන් පටන් ඔරු වට කර පිළිබැඳ නානාප්‍රකාරයෙන් සරහා සුවිසිදහසක් සංඝයා මුහුද පිට ඉඳුවා පෙරවරු ශීල තුලාභාර (තමාබරට සමබර ඇති වස්තුව)දන්දී පෙරවරු දාවාල මහදන්දී* තුන්යම්රාත්‍රිය ලක්දිව මුළුල්ලෙහි ගිතෙලින් පහන් පූජාකර මෙසේ ම තවත් බොහෝ කුසල් කොට දොළොස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය.

ඔහුපුත් **අඩගැමුණු** රජ ලක්දිව බෙරලවා සතුන් නොම රන පරිද්දෙන් සතට මිහිරි බස්දී සතුන් පව්කරන්ට නොහැර පින්රැස්කරවා නව අවුරුද්දක් රාජ්‍යයකර දෙව්ලොව ගියේය.

**මහදැළිසා** රජුගේ දෙවෙනි පුත්‍රවූ **කිණිහිරිදල** කුමාරයා දෙටුබෑ අඩගැමුණු රජු මරා රාජ්‍යය පැහැරගෙන තුන් අවුරුද්දක් රාජ්‍යය කෙළේය, මෙතෙම ඉතා ක්‍රෑර රජෙක්විය, සෑගිරි පොහෝගෙහි හඬුඅසා රාජාපරාධ යෙහි යෙදුණු දුශ්ශීල ශ්‍රමණයන් හැටනමක් අල්වා කණිර නම් ගල්ලෙනක සිරකර තැබූයේය, ඒ **කිණිහිරිදල** රජු ඇවෑමෙන් අඩගැමුණු රජුගේ පුත් **චූලාභයතිස්ස** කුමරතෙමේ රාජ්‍යයට පැමිණියේය, හෙතෙම දූරුහොය බඩ සුළුගලු නම් වෙහෙරක් කරවිය, මේ රජ එක් අවුරුද්දක් දූහැමෙන් රාජ්‍යයකොට පරලොකප්‍රාප්තවූයේය, **චූලාභයතිස්ස** රජුගේ මරනින් පසු ඒ රජුගේ නැගණිවූ **සිවලි** නම් කුමාරිකාව රාජ්‍යශ්‍රියට පැමිණ සාරමසක් රාජ්‍යයකළපසු **අඩගැමුණු** රජුගේ බෑනණු කෙනෙක්වූ **ඉළනාග** කුමාරයා රාජ්‍යය අත්පත්කොටගත්තේය, ඒ සිවලි තොමෝ ලඞකා රාජ්‍යය කළ දෙවෙනි බිසව්වූවාය, ඉළනාග රජු රාජ්‍යශ්‍රියට පැමිණි පළමුවෙනි අවුරුද්දෙහිම ඔහුගේ නොකටයුත්තක් නිසා කෝපවූ ලම්බකණ්ණවංශයේ ජනයෝ කැරලිගසා රජුඅල්වා සිරකළෝය, රජ තෙමේ සිරගෙසින් පිටවී මඟුලැතුපිට නැගී පලාගොස් මාතොටින් නැව්නැගී දඹදිවට ගියේය, තුන් අවුරුද්දක් පරතෙරවැස සේනාවක් සමඟ අවුත් රුහුණට පැමිණ ඒ ජනපදයෙන්ද පිරිස රැස්කොටගෙන අනුරාධපුරයට ගොස්

* පෙරවරු තුලාභාරදන්දී-පස්වරු මහදන්දී-ඇතම්-

යුද්ධකොට යුද්ධයෙන් සතුරන් පරාජයකොට නැවතත් රාජ්‍යය ලබාගත්තේය, මේ රජු දඹදිව විසූ තුන්අවුරුද්ද අතරතුර ලම්බකර්ණගොත්‍රයේ ප්‍රධානීහු රට ආණ්ඩුකළෝය, එහෙයින් ඉලනාග රජ ලඞ්කාරාජ්‍යයකෙළේ සය අවුරුද්දක් පමණෙකි, ඉළනාග රජු ඇවෑමෙන් ඔහුගේ පුත්‍රවූ සඳමුහුණු කුමාරතෙම රාජපදප්‍රාප්තවිය,මේ රජතෙමේ මිණිගිරිනම් වැවක්බඳවා ඉසුරුමුණි විහාරයට පිදූයේය, රජහුගේ දෙමළදේවියයි ප්‍රසිඬවූ බිසව වද මණිකාර නම් ගමින් තමහට උපදනා ලාභය එම වෙහෙරට පිදුවාය, මේ රජු අටවසකට පසු තිසාවැවේ දියකෙළියට ගොස් සිටියදී ඔහුගේ මලණුවූ යසලාලකතිස්ස කුමාරයා විසින් මරන ලද්දේය, ඉළනාග රජුගේ බාල පුත්‍රවූ යසලාලකතිස්ස නම් කුමාරයා වැඩිමහල් සහෝදරවූ සඳමුහුණු රජු මරා රාජ්‍යය පැහැරගත්තේය, මේ රජු සත්අවුරුදු අටමසක් රාජ්‍යය කළපසු සුභනම් දොරටු පාලයකු විසින් මරවනලද්දෙය. ඔහුගේ මරනය කෙසේ සිදුවිද? යසලාලක රජු ස්වරූපයෙන් තමා හා සමානවූ දොරටුපාලයා කෙළි පිණිස රාජාභරණයෙන් සරසා පය්‍යඞ්කයෙහි හිඳුවා දොරටුපාලයාගේ හිස්වෙළුම තමාගේ හිසලාගෙන අතින් යෂ්ටියගෙන දොරසමීපයේ සිටින සිරිතක් පැවැත්තේය. මෙසේ සිටිනා එක් දිනෙක රාජාසනයෙහි උන් දොරටුපාලයාට ඇමතියකු වැන්දකල රජු සිනාසුණා බලා මේ දොරටුපාලයා කවරහෙයකින් මා හමුයෙහි සිනාසේද'යි කියා දොරටුපාලයාගේ වෙස් ගත් ඒ රජු මරණයට පමුණුවා සුභනම් ඒ ද්වාරපාල තෙමේ රාජ්‍යය අත්පත්කොට ගත්තේය, ශුභරජ තෙමේ යසසිළු රජු මරවා රාජ්‍යය පැහැරගෙන සාවුරුද්දක් රාජ්‍යය කෙළේය, මේ රජහුගේ සෙනෙවියා යටතේ ලම්බකර්ණගොත්‍රයට ඇතුළත් වසභ නම් බෑනණු කුමාරයෙක් සිටියේය, වසභ යන නම් ඇතියෙක් රජවන්නේයයි ශාස්ත්‍රකාරයකු විසින් කියන ලද බව අසා රජතෙමේ වසභ නම් ඇති සියල්ලන් මරවන්ට පටන්ගත්තේය, සෙනෙවි තෙමේ තමා වෙත සිටි තරුණයාත් රජහට දියයුතුයයි සිතා භාර්‍යාවට පමණක් එපවත් දන්වා කුමාරයා හා කැටිව මාලිගාවට යන්ට නික්මුණේය, සෙනෙවියාගේ මෙත්තා නම් භාර්‍යාතොමෝ කුමාරයා ගලවන්ට කල්පනා කොට ස්වාමියාට මඟදී කන පිණිස හුණු නැතිව බුලත් පුවක් දුන්නීය, ස්වාමියා හුණු නැති බැවි රජවාසලදී දැන ඒ ගෙනඑනු පිණිස කුමාරයා යැවූයේය, එවිට සෙනෙවියාගේ භාර්‍යාව කුමාරයාට කටයුතු හඟවා රන් දහසක්දී පලායන්ට

සැලැස්සුවාය, හෙතෙම පලාගොස් මහාවිහාරයට පැමිණියේය. ඉක්බිති ඒ කුමාරතෙමේ සේනාවක් රැස්කරගෙන බලවාහන ඇතිව සටන්කොට ශුභ රජු මරා රාජ්‍යය අත්පත්කොට ගත්තේය, වසභ කුමරු රජපදප්‍රාප්තව තමන් දිවි ගලවාදුන් **මෙත්තා** නම් ස්ත්‍රිය මෙහෙසිකොට ගෙන සතලිස්හතර අවුරුද්දක් දැහැමින් රාජ්‍යය කෙළේය, ලැමැණිවංශයෙන් ආ ඒ වැහැප් රජ අනුරාධ පුරයෙහි එකිඑකී දිසාවෙන් යොදුනක් වට සිසාරා දෙළොස් රියන් උස මහපවුරක් ලවා බොහෝ විහාර හා මහ වැව් එකොළොසක්ද කරවූයේය,*

ඔහුපුත් **වණ්නැසිනම්බප** රජ තුන් අවුරුද්දක් රාජ්‍යය කෙළේය, ඒ වඞ්කනාසික තිස්ස රජ රජකරන අවධියට **සොළී** රටින් දෙමළසෙන් ගෙන සොළීරජ මේ ලඞ්කාවට ගොඩබැසලා බොහෝ වස්තුව හා සිංහල වැසියන් දොළොස්දහසක් අල්වා ගෙන ගියේය,† (දෙමළ සතුරුසෙනග ලඞ්කාවට ගොඩබැස්ස මේ තුන්වෙනිවාරයයි,) වඞ්කනාසිකතිස්ස රජ්ජුගේ පුත් **ගජබා** i රජ රජකමට පැමිණඉන්නා අවධියට රජු රාත්‍රියේ නුවර ඇවිදින කල්හි එක් කනවැන්දුම් ගැහැනියක් තමාගේ දරුවන් සොළීරජ අල්ලාගෙන ගියාට අඬනවා ඒ ගජබා රජ අසා මේ නුවර අනඩුවක් ඇත කියා දොර සුණුගා මාලිගාවට ගියේය, එරජ උදෑසන ඇමතියන් ගෙන්වා මෙනුවර නඩු අනඩු කිම්දැයි ඇමතියන් අතින් ඇසූසඳ මහරජ අපගේ නුවර මඟුල්ගෙයසේ තිබෙන්නේයයි සැළකළහ, රජ තෙමේ ඇමතියන්ට උදහස් වදාරා දොර සුණුගැගෙයි ස්ත්‍රිය ගෙන්නවා ඇසූවිට කාරිකාල් නම් සොළී රජ සිංහල වැසියන් දොළොස්දහසක් අල්ලනවිට මාගේ දරු දෙදෙනාද අල්ලාගෙන ගියාට ඇඬුවාය කියා ඒ දුප්පත් ස්ත්‍රිය කීසඳ පියරජහට උදහස් වදාරා සොළීපුර සෙටයෙමි කියාලා සෙනඟ එක්කරගෙන **සාපාපමුනට** ගොස් සොළීරජු බලපාගෙන ගිය සෙනඟ ගෙනෙම්යි සිතා නැවූවගිය සෙනඟ එහි නවතා **නීලමහ යොධයා** කැටුව ගෙනගොස් යගදාව ගෙන

---

* මේ කථා ප්‍රවෘත්ති මහාවංශයෙන් හා ලඞ්කාකථාවෙන් ගත්කාලදී මේ රජවරු අටදෙනාගේ ප්‍රවෘත්තිය රාජාවලියේ අත්හැරියාම නිසා විස්තර යක් නොපෙනේ-වසභ රජතුමා නීතුපත්පාන, කොබගලුරෙරු-මානිකවැටිය-කැලැණිකොලොන්නය- කාලිවාසමය, මඟුන්නාය- අලවඩුන්නා-රදුපල්ලය, කළුසිඑබලය, මකුල්ලය, වඩුන්නාය, අබිවඩුන්ය යි යනමේ වැව් දොළස බඳවනලදැයි වන්නි රාජාවලියෙහි කියා තිබේ.

† සිරදොළොස්දහසක් අල්ලාගෙන ගියේය යි ඇතැම්.

මූහුදට ගසා දිය දෙබෙකොට සිට සිට ගොස් සොළීපුරයට වැද සොළීරජ හයගන්වා සක්රජමෙන් සිංහාසන මැද වැඩහිඳගත, නීලමහයොධයාද එනුවර ඇතුන් අල්ලා එකකු ගෙන අනිකකු ඇඟ ගසා මරාදමන්නේය,මෙසේ සොළීපුර පාළුකරනවිට සොළීරජහට ඇමති සැළකළාහ. සොළීරජ එබසට සිංහල සේනාව මෙපුර නසන්ට ආවාද කියා ගජබාරජු අතින් ඇසීය,එබසට ගජබා රජ කියන්නේ මා කැටුව ආ කුඩා කොළු මිස වෙන හමුදුවක් නැත කියා නීලමහයොධයා ගෙන්නවා * ගජබා රජ ළඟ සිට විය එබසට සේනාව නැතිව රජ තනිව ආවේ මන්දැයි ඇසූවිට නුඹගේ පියරජ අපගේ පියාණන් අවධියේ දොළොස්දහසක් සිංහල මිනිසුන් ගෙනාවේය ඔවුන් ගෙනයාම පිණිස ආමි කියා ගජබා රජ කීසඳ 'දෙව්පුර ගොස් අසුරයුද ජයගත්තේ පළමු අප කුලයේ රජෙක' කියා සෙනඟ ගෙන්වා දෙන්ට බැරියකීය, එබස් ඇසූ ගජබාරජ කෝපව මෙනුවර නසා අළුකරදමමි පමා නැතුව මාගේ සේනාවට සූවිසිදහසක් දෙවයි කියා වැලිමැඩ දියමිරිකා පාමින් යගදාවෙන් දිය මිරිකා පාමින් සොළීරජ හයගන්වා ගෙන සූවිසි දහසක් පොළීලා මිනිසුන්ගෙන පත්තිනි දෙවියන්ගේ රුවන්සලඹත් ගෙන සිව්දේවාලේ දෙවියන්ගේ ආවුධත් ගෙන්වාගෙන **වලගම්බා** රජ අවධියේ ගෙනගිය පාත්‍රා ධාතුවත් ගෙන † මතු මෙවැන්නක් නොකරව යි තරවටුකර පිටත්ව අවුත් සූවිසිදහසක් සේනාව ලංකාවට ගොඩබස්වා ගෙන ඒ ඒ ප්‍රවෙණිවල මිනිසුන් ඒ ඒ ප්‍රවේණිවලටම ඇර පුර වැඩි මිනිසුන් ගෙන **අළුත්කුරුව, සාරසියපත්තුව, යටිනුවර, උඩුනුවර, තුම්පනේ, හේවාහැට, පන්සියපත්තුව, එගොඩතිහ, මෙගොඩතිහ,** යනමෙකී රටවල බෙදාඇර ඉන්ට සලස්සාදී සූවිසි අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඒ ගජබාරජු ඇවෑමෙන් ඔහුගේ බිසවුන් පියවූ මහලු නාරජ රාජ්‍යශ්‍රියට පැමිණියේය, මොහු මහලුව සිටිබැවින් ඔහට මහලුනා යන නම විය. මේ රජු විසින් අබතුර, කොටගල්, උදපහන්, ඇල්ගිරි ආදී විහාරකරවා සාවුරුද්දක් දැහැමෙන් රාජ්‍යය කරනලද්දේය. ‡ මහලු නාරජු ඇවෑමෙන් ඔහු පුත් භාතියතිස්ස කුමර තෙමේ රාජ්‍යශ්‍රියට

---

* නීලමහයොධයා සම්බන්ධවූ මහාවංශයෙහි කිසිම ප්‍රවෘත්තියක් පෙනෙන්ට නැත.

† පාත්‍රාධාතුව වලගම්බා රජ අවධියේම ගෙනායේයයි. ඇතම්

‡ මොහු නැකමින් ගජබා රජුගේ ඇවැස්ස සුහුරු කෙනෙකැයි සමහර පොතක පෙනේ.

පැමිණියේ මේ රජ මාමිණියාවැව ගැමුණුවැව ආදී වැව්ද කිරි
පළුගසමුල පළුදගබ රජමහා විහාරය ගවරතිස්ස විහාරය
භාතියතිස්ස විහාරය ආදී විහාරද වෙනත් නොයෙක් පින්
කම්ද කරවා සූවිසිඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. **භාතියතිස්ස** ii
රජු ඇවෑමෙන් ඔහු මල් **කණිට්ඨතිස්**කුමර තෙමේ රාජ්‍යයෙහි
පිහිටා අටවිසිවසක් රාජ්‍යය කෙළේය. * මේ රජතෙම අභය
ගිරි විහාරයෙහි රතන ප්‍රාසාදයද මිහින්තලෙහි දාගෙයද අම්බ
ත්ථල චෛත්‍ය ගෘහයද අභයගිරි මිහින්තලා විහාරයන්හි මහ
පිරිවෙන් සහ කුක්කුටගිරි පිරිවෙනද භූතාරාම, රාමගොණක,
අනුලතිස්සපබ්බත ආදී විහාරද කරවිය. ඔහුගේ ඇවෑමෙන්
ඔහු පුත් **සූළුනා** හෙවත් චූලනාග කුමාරයා රාජ්‍යශ්‍රියට පැමිණි
යේය. මෙතෙම පඤ්චභූමක කොට ලෝවාමහපාය කරවී,
රජපැමිණි දෙවසකින් සොහොයුරු කුඩ්ඩනාග කුමරු විසින්
මරනුලැබීය. † කණිට්ඨතිස් රජුගේ දෙවෙනිපුත් **කුඩ්ඩනාග**
කුමාරතෙමේ දෙටුබෑ සුළුනාරජු මරා රාජ්‍යය පැහැරගත්තේය.
මේ රජු විසින් මහාපාළි නම් බත්ගෙය කරවනලදී. රජ
පැමිණි එක්වසකදී බිසව් සොහොයුරු සිරිනාග සෙනෙවියා
විසින් මරවනලදී. **සිරිනාග** i කුමරතෙමේ තමන් සහෝදරි
යගේ ස්වාමිපුරුෂවූ කුඩ්ඩනාග රජු මරා රාජ්‍යය පැහැර
ගත්තේය. මේ තෙමේ ඡත්‍රප්‍රාසාදය කරවා රුවන්මැලිසෑගේ
ඡත්‍රය හා රන්කම්ද කරවී. මේ රජ එකුන්විසි වසකින්
කාලක්‍රියා කෙළේයි. සිරිනාග රජු ඇවෑමෙන් ඔහු පුත්
**වොහාරතිස්ස** නම් කුමාරයා රාජාභිෂෙකලැබ දෙවිසිහවුරුද්
දක් රාජ්‍යය කෙළේය. ඔහු රජකරන සමයෙහි (එනම්) ක්‍රි: ව:
219 දී බුද්ධ ධර්මය පෙරළා විපරීතකොට ලියනලද වෛතුල්‍ය
වාද නම් මිථ්‍යා ධර්මයක් අභයගිරි විහාරයෙහි විසූ තෙරුන්
වහන්සේලා විසින් බුද්ධ ධර්මය මෙන් පිළිගන්නා ලද්දේය.
**වොහාරතිස්සරජ** ඒ දුලීබධි ගත් භික්ෂූන්ට නිග්‍රහකොට කපිල
නම් අමාත්‍යයකුගේ ආධාරයෙන් ඒ වෛතුල්‍යවාදය ලියවූ
පොත් ගෙන්වා දවා හළුකෙළේය. ඒ තිස්සරජහුගේ සහෝ
දරවූ අභයනාග නම් කුමාරයා රජහට භයින් නැව්නැඟී පර
තෙර ගොස් බොහෝ දෙමළසේනාව ගෙන යුදපිණිය අනුරාධ
පුරයට පැමිණියේය. රජතෙමේ දේවිය සමඟ පලාගොස්

* අටළොස් අවුරුද්දක් රාජ්‍යය කෙළේයයි සමහර පොතක පෙනේ.

† කුඩ්ඩනාග සුළුනාරජුගේ බෑනාකෙනෙකැයි ඇතැම් පොතක කියාතිබේ.

මලයරටට ගියේය. අභයනාගතෙමේ ලුහුබැඳගොස් රජු අල්වා මරා බිසව් ගෙන නුවරට අවුත් රාජ්‍යපද ප්‍රාප්තවිය. අභයනාග රජ වොහාරතිස්සරජු මරා රාජාභිෂෙකලැබ අටඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඒ රජු විසින් ලොවාමහාපාය ඉදිරිපිට මණ්ඩපයක්ද කරවන ලද්දේය. අභයනාග රජු ඇවෑමෙන් වොහාහරතිස්ස රජුගේ පුත්‍රවූ **සිරිනාග** ii කුමාරයා රාජ්‍යපද ප්‍රාප්තව දෑවුරුද්දක් රාජ්‍යයකෙළේය. මොහු විසින් ශ්‍රී මහා බොධිය හාත්පස සිත්කලුවූ මහා මණ්ඩපයක් කරවනලද්දේය. දෙවෙනි සිරිනාග රජුගේ මරනින්පසු ඔහුගේ පුත්‍රවූ **විජසිඳු** හෙවත් (විජය) කුමාරයා එක්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. * ලැමැණිවංශයෙන් ආ **සඞ්ඝතිස්ස** i **සඞ්ඝබොධිය** i **ගොඨාභය** යන කුමාරයෝ තුන්දෙනෙක් මහියංගණ වෙහෙර සමීප රටින් අනුරාධපුරයට අවුත් විජයිඳු රජහට සේවයකරමින් සිටියේය. මඳකලකින් සඞ්ඝතිස්සතෙම සෙනෙවිරත්වූයේ එක් දවසෙක ලබනලද අවකාශ ඇතිව විජසිදුරජු රජගෙහිදීම ගොඨාභය කුමරුලවා මැරවිය. ඒ සඞ්ඝතිස්ස කුමාරතෙම ඉතිරි කුමාරයන් දෙදෙනා විසින් රාජ්‍යයෙහි අභිෂෙක කරන ලදුව සතරඅවුරුද්දක් රාජ්‍යයකලපසු විෂයෙඳු දඹපල අනුභව කොට මළේය. ඔහු ඉක්බිති **සිරිසඟබෝ** රජ දැහැමින් රජ කරන අවධියේදී වැසිනොවැස දුර්භික්‍ෂව තිබෙණබැව් දැක තමාගේ "ශීලතේජසින් වැසි වස්ස වා රුණුජනපදයෙහි රතැසි නම් දළරාක්‍ෂසයාට හසින් තැතිගෙන ඇස් රතුව තසිති යි අසා ඔහු දැකමුත් නොයම් සිතා පෙහෙවස් ඉවා වැදහෙව තමාගේ ශීලතේජසින් ඔහු ගෙන්නවා කුමක් පිණිස මාගේ රාජ්‍යයට පීඩාකෙරෙහිද යි විචාළේය. එකගමක මිනිසුන් දුනමෑනව තෙසූ සතුන්ට පීඩානොකරමි රාක්‍ෂසතෙම කීකල්හි ක්‍රමයෙන් ඔහු ගිවිස්වා එසේවීනම් එකෙකු දුනමෑනවයි කීහ. එබස්ඇසූ රජතෙම අනෙකෙකු නොදෙමි මා ගනුව යි කීකලට සඬම්ම රජකු තන්ට මාවැනි රාක්‍ෂසයින් සියයකාටත් බැරිය යි කීය. එරජ ඔහු කෙරේ පැහැද ගිවිස්සා එසේ රාක්‍ෂසයාට බලි දෙන නියමයෙන් ඔහුගේ උවදුරු සන්හිඳුවා බලි දීම ව්‍යවහාර කොට මෙසේ දැහැමින් දෑවුරුද්දක් රාජ්‍යය කළසඳ ගොඨාභය

* හාතියතිස්ස ඔහු මල් කුඩානාරජ ඔහු පුත් වේරතිස්ස ඔහු පුත් අබෘසෙන් වේරතිස්ස රජුගේ පුත් සිරිනාරජ ඔහුට පසු විජ්සිදු–යන මේ රජ වරුන්ගේ පිළිවෙළ ඇතැම් පොතක පෙනේ. මෙය අංකුලබැව් වැටහේ.

කුමාරයා පැමිණ රාජ්‍යය පැහැරගත්තේය. සිරිසඟබෝරජ රාජ්‍යලෝභයෙන් සටන් නොකරමි සිතා තමා දුම්ව්වූයේ පැවිදි වෙස්ගෙන කැලැණි මහවෙහෙරට ඊශාන දිග්භාගයෙහි **අත්තනගලුවෙහෙර** කරවූතැන සැඟවී උන්නේය. ගොළු අබාරජ මොහු නැවත බලසෙන් රැගෙනවුත් මාසමඟ සටන් කොට රාජ්‍යය පැහැරගැනීමට පුලුවන. එබැවින් මොහුගේ ඉස සිඳවමි යි සිතා සිරිසඟබෝරජුගේ ඉස ගෙනා කෙනකුන්ට බොහෝ සැපත් දෙමිකියා රට හැමතැනම බෙරලැවීය. රට වාසීහු වස්තුලොභයෙන් නැතක් මිනිසුන්ගේ හිස් කපා ගෙන යන්ටවන. ගෙනගිය ගෙනගිය හිස් සිරිසඟබෝ රජුගේ නොවෙයි කියා බැහැරලූහ. එක් දුප්පත් ස්ත්‍රියක් මාවීසාලින් පිසනලද බත් හා මලවනලද හාල්මැස්සන් ව්‍යඤ්ජනයක්ද තම සවාමිපුරුෂයාට මාර්ගයේදී අනුභවයට යොග්‍යවනසේ මුලක්බැඳ අතට දී මාගේ සවාමිපුරුෂයාණෙනි! සිරිසඟබෝ රජ්ජුරුවන්ගේ ඉස ගෙනාවොත් අපට සැපත් දෙති කියා තමාගේ පුරුෂයා අත්තනගල්ලට පිටත්කරවූවාය.

ඒ දුගීමිනිසා වල්වැද අවුත් අත්තනගල්ලේ ගල්පොත්තට පැමිණ එරජ සම්මුඛවී රජබව නොදැන දෙදෙන එකතුවී කථාකරමින් සිටිනාතර එරජ තොපි කොයියෙද්දැයි දුගියා අතින් ඇසූකල්හි තමං ආ නතු රජහටකියා සිරිසඟබෝ රජු නිසානැතක් මිනිසුන් නැසුනාහයි කීසඳ රජු සිතට දුක්වැද ඒ දිළිඳුහට සැපත් ඉල්වා දෙමිසිතා තුඹ ගෙනා බත් කමුව කියා ඒ දුගියා හට කීහ, ඊට දුගියාද සතුටුව ඒ බත්මුල මුදා දෙන්නා බත් බෙදාගෙන කන්ට ඉඳ එ රජ මට බුදුබව සිදුවේනම් මේ හාල්මැස්සෝ පොකුණ දියකෙළිත්වයි කියා සත්‍යක්‍රියාකොට පොකුණට දැමූහ, එවිට ඒ දැමූ හාල්මැස්සෝ පොකුණ දියකෙළඇවිද්දැහ, එසේම සත්‍යක්‍රියා කොට මේබත්ද පැලැවී ගොයම්ගස් සැදී කරල් ඇතිවේවයි කියා දැමූහ දැමූබත් වහාපැලැව කරල්සැදී සිටගත මෙසේ බුදුබව ලබන නිමිති දැක එ රජ බත්කා සිරිසඟබෝරජ නම් මමය ඉස කපා යව යි කිය, ඒ දිළිඳුහට කීසඳ ඔහුනයින් නැතිගෙන දිවීය, ඒ රජ ඔහුටකථා කොට ලඟට ගෙන්වා කියනුයේ භයනොවෙ'ව මාගේ බුඬලාභයද තොපගේ වස්තු ලාභයද මෙයින් සිදුවන්නේය එනිසා මාගේ හිස රැගෙනයව මාගේ හිස නොවෙයි කිවහොත් සඳුන් කිරිපැන් ඉස සුවඳ දමා උසස්තක්පිට තබව එවිට දෙවියන්ගේ බලයෙන්

මාගේ හිස දෙන්කියයි ඒ දුගියාහටකියා සලුපට ගසන බැඳ කරකාවා ඒ දුගියාහට ඉස කාඩා දන්දුන් සඳ ඒ දිළිඳු මිනිසා ඉස ගෙනවුත් ගොළුඅබා රජ හට දුන්නෝය. ඒ දුටු රජ සිරිසඟබෝ රජුගේ ඉස නොවෙයි කීසඳ ඒ දිළිඳු තමහට පළමු කීසැටි කළවිට දෙවියන්ගේ බලයෙන් තුන්යළක් අහසටපැන සිරිසඟබෝ රජ මමය කියා කැපූහිසින් දෙස්කීසඳ ඒ දිළිඳුහට බොහෝ සැපත් ලැබුණේය. [1] ගොළුඅබා රජ සිරිසඟබෝ රජු හිස දන්දුන් තැනට අවුත් සිරුර ආදාහනකරවා අත්තන ගල්ලේ චෛත්‍යයක්ද වටදාගෙයක්ද කරවා මහත්පූජාපවත්වා නැවත අනුරාධපුරයට ගොස් ලෝවාමහපාය පස්මාල්කරවා තෙළෙස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුපුත් **කලකැන් දෙටතිස්රජ** i පියරජු සාධාගත නුහුනුලැමණීන් කැලැවැස්සන් හැමදෙනා අල්වාගෙන උල ඉඳුවා මරාදමා රාජ්‍යය ගෙන ඒකාතපත්‍රකොට පියාණන්කරවූ ලෝවාමහපායෙහි තුබූ සතරමාල් නිමවා කොත් පළඳවා මහත්පූජාකොට වැවුසයක් බඳවා පැලන්ගිරිය, මූලංගිරිය, ගලමුන්තරුවෙහෙර, එළුගල් වෙහෙර යන විහාර සතර කරවා මහාපූජාකොට දසඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුමල් **මහසෙන් රජ** යකුන් අතින් මෙහෙවර ගෙන මින්නේරි වැව බඳවා කරගඟ මින්නේරියට දිය එනලෙසට අමුණු බඳවා දෙවීයන් පැලකුණෙන් තලවතු ඔය බඳවා ඒ දියෙන් විසිදහසක් කුඹුරුකරවා නැවත මූව ගමුව, සුරල්ලකුර, දීදෙර, මහමිතිය, පොන්නාම, පුස්කුඹුර, රත්ගල, මහඑව, සුගුළුව, කලලවාන, කිඹුල්වාන, සොරගල්ල, බෙලිපිටිය, වඩුන්නාව, සිරුවැලය, රන්නිය, මිනිහිරිය ඇතුළුවූ සතළොසක් වැවු යකුන්අතින් රාත්‍රියෙහි මෙහෙගෙන දවාල මනිසුන්ලවා මෙහෙගෙන බඳවා දෙනාතබ මහසැය බඳවා ධාතු නැත්තෙන් දෙවියන්ට යැද ආකාසය බැලීය. එකෙණෙහි දෙවියෝ අප බුදුන් බැඳි පටිධාතුව ගෙන එල්ලූවාහ. පටිධාතුව ගන්ට රජ්ජුරුවෝ අත දික්කළවිට දෙවියෝ මදක් ඔසවාපූහ. රජ නැවතත් ඊටවඩා අත දිගුකළවිට ඔහු වෙහෙසනු නිසා දෙවියෝ අත එසවූහ. එසේ රජ අත දිගු කෙළේය. දෙවියෝ අත උඩගත්තාහ. එකල ඒ රජ කිපී කගය

---

1 "රජ්ජන මෙව සුහදෙ සිරිසංඝබොධි
සීසපපදන විඩිතාසම් සම්ඛවිතෙනා
තවඩාසිරජ්ජ සිරිලාභ සුබෙනදෙව
එසොඩහොතු පටිපන්න සහස්සලාභො"ති.
(හත්වනගලල විහාරවංසො)

අතටගෙන අසූරියනක් අහසට පැන පටිධාතුව අඹියක් කපාගත, දෙව්යන් අතට පත් අඹිපළුව දෙවියෝ දෙව්ලොවට ගෙන ගියාහ. එරජ කපාගත් පටිධාතුව ගෙන එක්සිය සතලිස් රියන් දාගබ පිහිටුවා මහා පූජාකොට සූවිසි අවුරුද්දක් රාජ්‍යය කොට දෙවුලොව ගියේය. විජය රජු පටන් මේ මහසෙන් රජු අවසන්කොට මහාවංශයෙහි වොවුනු පළන් රජදරුවෝ තෙසැටදෙනෙක් වූහයි දතගත යුතුයි. මේ මහ වංශ කෙළවරට අප බුදුන් පිරිනිවී අටසිය සූසාලිස් අවුරුදු නවමස් පස්විසි දවසක් ගියේය යි දතයුතුයි. මහසෙන් රජු ගෙන් මහාවංශය එතෙකියි දතගත යුතුයි.

සුළුවංශය නම් මවුපක්ෂයවත් පියපක්ෂයවත් දෙකින් එකක් සූර්‍ය්‍යකුලයෙන් වෙයි ශ්‍රී මහාබෝධි සාඛාව ගෙනා වංශයක් දළදා ගෙනා වංශයක් කලබැගෑනිව්මෙන් පැවතඑන නිසාත් සංඝරත්නයේ සෑඩිමත් තෙරවරුන් නැතිනිසාත් ශක්‍රයා මේ සිරිලක නොබලන නිසාත් මහත් පින්ඇති කෙනකුන් නැතිබැවින් අනුරාධපුරය පාළුවන නිසාත් රටට බිජු පලදාව අඩුව කුඩාවයන නිසාත් සුළුවංශය නම් විය. ඉක්බිති සුළු වංශයට ආදියෙහි මහසෙන් රජු පිත් කිත්සිරිමේවන් රජතු රාජ්‍යයලත් නවවෙනි වර්‍ෂයෙහි කාලිඟුරට කාලිඟුනුවර ගුහසිව නම් රජු වැඳපුදාසිටි දළදා සාමින්වහන්සේ ගන්නට සැවැත් නුවර රජ සටනට ආ'විට කාලිඟුරජ තමාගේ දූවූ රත්මාලි නම් කුමරියටත් එරජුගේ බෑණනුවූ දනත නම් කුමාරයාටත් කියන්නේ මාගේ යහළුවූ මහසෙන් රජ [1] ලකට රජකම්කරන වාය. මම යුද්ධයට ගොසින් පරාජය වීම් නම් රතුකොඩි බඳින වාය, මේ ධාතූන්වහන්සේ සතුරු රජුට නොදී තොපි දෙදෙන ආඩිවෙස් ගෙන දළදා ගෙන ගොසින් මහසෙන් රජුට දෙව'යි කියා යුඩයට ගොස් පරාජයවී රතුකොඩි බැඳලා කොඩා මැරුණේය, එරජ කිසැටියට රතුකොඩි දැකලා කුමරියත් බෑණත් දළදාසාමින් ගෙන ආඩිවෙසින් අතරමග ගෙවා තුත්තු කුඩියෙන් නැව්නැගී මේ ලඞකාවට ගොඩබැස මහසෙන් රජ සුරපුර වැඩිබැව් අසා එවකට ලක රජකරන ඔහුපුත් කිත්සිරි

1 මම ච පියසහායො සො මහාසෙන රාජා
ජිතවරණසෙරොජවංසෙවාභියුතෙනා
සලිලම්පි ච ඵුට්ඨං ධාතුයා පඤ්ඤතෙනා
විවිධරතන ජිතං පාභතං පෙසයිත්ථ — දාඨාවංසො)

**මේඝවන්** රජහට දළදාදී සිරිසඳ ඒ කුමාරයාටත් කුමරියටත් බෙලිගල් කෝරළයේ කිරවැල්ල යන ගම ඉන්ට සලස්වාදී බොහෝ උපකාර කළබව දැනගත යුතුයි. **කිත්සිරි මේඝවන්** රජ දළදාසාමීන් ගෙන දළදා ගෙයක් කරවා වඩාඉඳුවා දළදා සාමීන්ට ගම් පූජාකොට නිරන්තරයෙන් වැඳපුදා අටවිසි අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු මල් **දෙටුතිස්** රජ ii දළ කඩ සඳුන්දඹු කිහිරිලී ගල් ආදියෙන් තමා සියඅතින් පිළිම නෙළා මතු ලක්දිවට ඇඳුරුකමට තබා තටබුන් වෙහෙර ප්‍රකෘතිමත්කරවා ලොවට වැඩකොට නව අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුපුත් **බුජස්** රජ ලක්දිව වෙදකු නැතැත්තකු ගමකට බණකියන පණ්ඩිත කෙනකු බැගින් ඉඳුවා පොහෝ දිනවල සැම ගම්වලම බණකියවා අනුරාධපුර නුවර මහ වෙහෙර දැසමන් පූජාකොට පස්විසිරියන් පස්මහල් පමණ ඇති ලෝවාමහපාය ආදී නොයෙක් මඟුල්දොරටු සශ්‍රීකකර පිළිමකරවා සඟ සත්සියයකට නිති දන්පිළිගන්වා ගොළුගම් මහණගම් දම්වර දෙවා මොණරපා පිරිවෙන කරවා තිල්බිතති නිල් සෙවෙනි ආදීන් යුක්ත බොහෝ සංඝාරාම කරවා බුදු බවම පතා එකුන්තිස් අවුරුද්දක් රාජ්‍යයකර දෙව්ලොව ගියේය. ඔහුපුත් **උපතිස්ස** මහරජ ii පලාවතුවෙහෙර කරවා තෝපාවැව බඳවා දෙසාලිස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුමල් **මහානාම** නම් රජ විසිදෑවුරුද්දක් රාජ්‍යය කෙළේය. එකලට **බුධඝොෂ** නම් අටුවා කතීෘන් වහන්සේ දඹදිව සිට මේ ලඞ්කාද්වීපයට අවුත් බුදුන්වදාළ දෙලක්ෂ පන්සැත්තෑදහස් දෙසියපනස් ග්‍රන්ථ සංඛ්‍යාවක් ඇති ආගමට තුන්ලක්ෂ එක්සැට දහස් සත්සිය පනස් ග්‍රන්ථ සංඛ්‍යාවක් පමණ අටුවා කථාවල් ලියා ආගමට පහන් නැගුසේකැයි දැනගත යුතුයි. මේ මහා නාම රජහු නොසමාන දරුවූ **සෙන්ඝොත්** නම් රජ පෙරවරු රජව දවල් සහවා දුන් විස කා පස්වරු මළේය. **සත්ගාහක** නම් රජ අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු ඉක්බිති මිත් සෙන් නම් කරල් සොරෙක් රාජ්‍යය ලදින් දවසක් දළදා වඳිනට ගොසින් නැවත රජගෙට එනුයේ දළදාගේ දොරකඩ සිට මඟුලැතු ගෙනෙව යි ඇමතියන්ට කීහ. ඇමතියෝ මඟුලැතු පසුවිය මඳක් බලනසේක්ව යි කීහ. එබසට රජ කිපී උළින් සුණින් බැඳනැගූ මහත් ඇත් රුවක් බලා 'තෝ මට පිට නොදෙසිද්ද'යි කීය. එවේලෙහි උළුඇත් රජු කරා අවුත් පිට ඉඳුවාගෙන නුවරට ගොස් රජගෙයි ඉඳුවා ගියේය. මේ

පින් සටගිය ජාතියේ එක මලක් සිත පහදවා පිදුවාසින් පල දුන්නේය ඒ කරල්සොර රජ එක්අවුරුද්දක් රජ කෙළේය.[1] එකලට සොළීරටින් දෙමළු සත්දෙනෙක් සත් දහසක් දෙමළ සෙනඟ ගෙන සිරිලකට ගොඩබැස කරල්සොර රජ මරුදමා රාජ්‍යය ගෙන සත්දෙන වෙවෙනම විසිහත් අවුරුද්දක් රාජ්‍යය කෙළේය.

එකල **දාසෙන්කෑලිය** රජකුමාරයා බාලඅවස්ථාවේ මහණ වෙලා උන්නේය. පසුව ලක්දිව සේනාවගේ ආරාධනාවෙන් මහණවෙස් ඇර නුවරවැද රජකරන දෙමළුන් මරා රාජ්‍යය ගෙණ අටළොස් වැවක් බඳවා අටළොස් විහාරයක් කරවා අටළොස් මහාපූජාවක් කරවා අටළොස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු නොසමාන දරුවූ **කාසුබු** රජ i පියරජු මරා රාජ්‍යය ගෙන සීගිරි ගලෙහි නුවරක් කරවා එහිම වැස අට ළොස් අවුරුද්දක් රාජ්‍යයකොට කල්පයක් දුක් විඳුවන අවීචියෙහි වැටුණේය. ඒ දාසෙන්කෑලිය රජුගේ සමාන දරුවූ I **මුගලන්** රජ සීගිරි රජුට හසින් දඹදිවට ගොස් බලපිරිස් ගෙන පියා මැරූ කාසුබු රජු මරා අටළොස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුපුත් **කුමාරදාසෙන්** රජ මහා පණ්ඩිතව නව අවුරුද්දක් රාජ්‍යය කර කාලිදාස යහළුවා මළ ගිනිමැලයට පැන යහළුවා නිසා මිය පරලොව ගියේය.[2] ඔහුපුත් **කීර්තිසේන** නම් රජ නවමසක් රාජ්‍යය කෙළේය.[3] ඔහු **මල් මැදිසිව්** රජ බෑණා මරා පස්විසි දවසක් රාජ්‍යය කෙළේය.[4] ඔහු මරා **ලෑමණී උපතිස්ස** රජ iii එක්අවුරුදු සමසක් රාජ්‍යය කෙළේය..[5] ඔහු මරා **ලෑමැණී අක්බෝ** (හෙවත්, **සිලාකාල** රජ තෙළෙස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. මේ රජු දවස දහම්දා[6] දඹදිවින් ආවයි 'දාකගත සුතුයි' ඔහු

---

1 සාවුරුද්දක් රජකළබව ඇතම් පොත්හි පෙනේ—

2 "වෙහෙර දසටක් පුරා කරවා දසඅටක් මහවැව් බැ ඳී
ව ස ර එකාදෑ බිසව් අබිසෙස් මහණුවම් හෙමගුල් යෙ දී
ඇ ජ ර කිවියර පිහිත් ජානකීහරණ ඈ මහකව් බැ ඳී
කු ම ර දස් රජ කාලිදස් නම් කිවිඳුහට සිය දිවි පි ඳී"

3 නව අවුරුද්දක් රජ කළබව ඇතැම් පොත්හි පෙනේ—

4 පස්විසි වසක්ය යි ඇතම් පොතකපෙනේ.

5 එක්අවුරුදු දසමසක්ය යී ඇතම් පොතකපෙනේ.

6 මේ රජු දවස මේ රටින් කසීරටගිය පූණ්ණ නම් වෙළඳ පුත්‍රයෙක් වෛතුල්‍ය වාද පොතක් නැවතත් මෙරටට ගෙනාබැව් නිකායසංග්‍රහ න්‍යායමොපසම්පදවත ආදී පොත්වල කියාතිබේ.

පුත් දපුලුසෙන් රජ සමස්සදවසක් රාජ්‍යය කෙළේය. මේ රජ තමන්ගේ බාලසහෝදරයා මරා [1] වැඩිමහල් සහෝදරයා හා සමඟ යුද්දකොට පරාජයව දිවි නසාගත්තේය. පළමුවෙනි දප්පුල රජුගේ මරනින් පසු ඔහුගේ වැඩිමහල් බෑණාවන [2] **සුළුමුගලන්** රජ ii විසිඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු පුත් **කුඩාකිත් සිරිමේවන්** රජ එකුන්විසි දවසක් රාජ්‍යය කෙළේය. [3] ඔහු මරා මෞර්‍ය්‍යවංශයෙන් ආ **සෙනෙවිමානා** රජ තුන්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු මරා **ලැමැණි සිඟානා** රජ නවඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. [4] ඔහු මරා මානා රජ බෑහැක **අක්බොරජ** i කුරුඳැ නම් වැවද මිහිනතලා වැවද බඳවා මනුරජ පිළිවෙළකරවා [5] සූතිස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු දවස දූහැමි කිත්තෙර සූතත් වදළසි දූනගත යුතුයි. සක්දමලය, අසක්දමලය, දූමීය, බැබිරිය, දළබිසෝය, අනුරුත් කුමරුය, පුරවඩු කුමරුය, සුරියබාහුය, සාසුප්කොට ඇපාය [6] යන මේ දෙළොස් සාවිහු අක්බෝරජු දවස වූවාය. මොහු බෑණා **කුඩාඅක්බො** රජ ii දහතුණක් වැවු බඳවා ගඟනාවිට වෙළුන්නා වෙහෙර කරවා මහත්පූජා කොට දසඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. දෙවෙනි අග්බෝ රජු ඇවෑමෙන් ඔහු මෙහෙසියගේ බන්ධුවරවූ **සඞඝතිස්ස** රජ [7] දෙමසක් රාජ්‍යය කළේය. ඔහු මරු **දළමුගලන්** රජ [8] සාවුරුද්දක් රජ්‍යය කෙළේය. ඔහු මරු **අසිගගාහක** රජ නව අවුරුද්දක් රජ්‍යය කෙළේය. නැවත සිරිසඟබෝ යන නමින් **අග්බෝ** iii රජ සමසක් රජ්‍යය කෙළේය. [9] ඔහු **එළවා දෙවුතිස්** iii රජ පස්මසක් රජ්‍යය කෙළේය. නැවත සිරි සඟබෝ රජ පරදෙශයෙන් බලසෙනඟ ගෙන ආපසු අවුත් දෙවුතිස් රජු මරු රාජ්‍යය ගෙන දෙවනවර සොළොස් අවු

---

1 බෑනාමරු ඇතම්—

2 දළමු ගලන්යයි ඇතම්—

3 එකුන්විසි අවුරුද්දක්යයි ඇතම්—

4 මේ රජතුමා ගැන මහාවංශයෙහි කිසිවක් නොපෙනේ—

5 මොණර පිරිවෙන කරවා ඇතම්—

6 දහනෙත්, බැරි, මියො-දළගොත්-පුරවා, පුසු, දසලා, කුම, කිත්සිරි, කැසුබු, කොට ඇපැයි ඇතම්පොතකපෙනේ—

7 කුඩා අග්බෝ රජුගේ මල් සංඝතිස්සයයි ඇතම් පොතක පෙනේ-

8 මැදිබෝමුගලංයයිද ලැමණිබෝනායයිද ඇතම් පොත්හි පෙනේ-

9 සොළොස් අවුරුද්දක්යයි ඇතම්-

රුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු මරා ලැමණිදළුපතිස්ස i රජ පලාවතු වෙහෙර කරවා පූජාකර දෙළොස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු මරා සිරිසඟබෝරජු මල් පැසුළුකසුබු ii රජ නවඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. පසුව ඔක්කාක වංශයෙන් ආ දපුළු රජ ii රුණින් නැඟී අනුරාධපුර නුවරට ගොස් එහි තිබුණ සුන්බුන් වැඩ කරවා නැවත රුහුණට ගොස් රුණවෙහෙර, කිරොල, බොරාගුල්, වඩුන්න, කොටදෙර, පවුරණ, වාගම, පඩික්කුලම, කසාගළ, වදල, කසුප්ගිරි, වෙහෙරගම්, සුප්පාදු, කෙවිල්ලගම්, කුමන, වෙරගිල්, කවුඩු, මහදිවු, වියල් යන මේ එකුන්විසි වෙහෙරකරවා තුන්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. [1] නැවත ලැමැණිදළුපතිස්ස ii රජ කපරා පිරිවෙන කරවා [2] නවඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුගේ සහෝදරවූ සිරිසඟබෝ යන නම් ඇති අග්බෝ iv රජ පියගල් පිරිවෙන කරවා දෙව්නුවර කරවා දෙව්රජුගේ සහායෙන් සොළොස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුට ඉක්බිතිව ඔක්කාවංශයෙන් ආ වල්පිටිවසුදත්ත රජ දෑවුරුද්දක් රාජ්‍යය කෙළේය. [3] ඔහු ඉක්බිති හුණන්නරුවෙහි උපන් හඬුදළු රජ සමසක් රාජ්‍යය කෙළේය. පෙරකී පැසුළු කසුබු රජුපුත් මහලැපාණෝ (මාණවම්ම) ධම්මගල් තොටට ගොස් ක්‍රසාවට්ටි රටින් බලපිරිස් ගෙන අවුත් හුණන්නරු රියන්දල රජු මරා රාජ්‍යය ගෙන දෙව්නුවර කරවා වැවු අටක් බඳවා පන්තිස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු පුත් අග්බෝ v. රජ සාවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු මල් කසුබු iii මහරජ හෙලගම් පිරිවෙන කරවා සාවුරුද්දක් රාජ්‍යය කෙළේය. [4] ඔහු ඇවෑමෙන් බාලපුත්‍රවූ මිහිඳු නම් ආදිපාද රජ තුන්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. මිහිඳු රජුගේ ඇවෑමෙන් කසුප් කුමරුගේ පුත් අග්බෝ iv රජ සතලිස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. මිදෙල්පතා රජ දරු කුඩා අග්බෝ vii රජ සාවුරුද්දක් රාජ්‍යය කෙළේය. අග්බෝ vi රජ දරුවූ සල මෙවන්මිහිඳු ii රජ බලාත්කාරයෙන් රජය ගෙන විසිඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු ඉක්බිති උදය

---

1 මේරජ දසඅවුරුද්දක්යයි ඇතම්-

2 ප්‍රපිනිම් වෙහෙර යයි ඇතම්-

3 මේරජ දසඅවුරුද්දක්යයි ඇතම්-

4 සත් අවුරුද්දක්යයි ඇතම් පොතක පෙනේ.

(**'දප්පුල'** ii මහාවංශයෙහි) රජ පස්අවුරුද්දක් රාජ්‍යයකොළේය. ඔහු ඉක්බිති **මිහිඳු** iii රජ සතරඅවුරුද්දක් රාජ්‍යයකොළේය. [1] ඔහු ඉක්බිති **අග්බෝ** viii රජ එකොළොස් අවුරුද්දක් රාජ්‍යය කොළේය ඔහු මල් **දප්පුල** iii රජ බෝධි ගෙය කරවා මහා පූජා කරවා සොළොස්අවුරුද්දක් රාජ්‍යය කොළේය. [2] ඔහු ඉක්බිති **පැසුළුඅග්බෝ** iv රජ තුන්අවුරුද්දක් රාජ්‍යය කොළේය. ඔහු ඉක්බිති **සේන** i (මත්වලසෙන්) රජ විසිඅවුරුද්දක් රාජ්‍යයකොළේය. එකල අනුරාධපුරය පැහැර ජයබෙර මිණිපා පඬිරටට ගෙනගියාහ ඉක්බිති ඔහුගේ සහෝදරවූ **මුගසින්සෙන්රජ** ii (සේන) ශ්‍රී ලඞ්කාවීපයේ සිංහල බලසෙන් ගෙන දිවයින් ගොස් පඬිරජය පැහැර පාඬින් ලුහුබැඳ ජය බෙර මිණිපා ගෙනවුත් ලෝවාමහාපාය කටුකොහොල් පෙරලවා එහි රන්බුදුන් කරවා තුන්තකය දහම් ගන්වා ලෝ සසුන් සෙමෙහිතබා පන්තිස් අවුරුද්දක් රාජ්‍යය කොළේය. සේන රජු ඇවෑමෙන් ඔහුගේ සහෝදරවූ **උදය** i මහරජ රුණුරට මහතුඹුරුප්පේ වෙහෙර කරවා රන්රිදී පතින් වසා නොයෙක් පූජාකොට එකොළොස් අවුරුද්දක් රාජ්‍යය කොළේය. [3] ඔහු ඉක්බිති **කසුප්** iv රජ සතළොස් අවුරුද්දක් රාජ්‍යය කොළේය. [4] එකල **සඟා** නම් බිසව ලෝවාමහාපාය කටුකොහොල් පෙරලවා කොත් පැළඳවිය. ඉත්පසුව් **පැසුළු කසුප්** vi රජ දශඅවුරුද්දක් රාජ්‍යය කොළේය. [5] ඔහුගේ ඇවෑමෙන් **දප්පුල** iv. රජ සත්මසක් රාජ්‍යය කොළේය. ඔහු ඇවෑමෙන් ඔහු මල් **කුඩාදප්පුල** v. කුමාරයා සොළීරටින් ආ දෙමළුන් මරා ලුහුබඳවා දොළොස්අවුරුද්දක් රාජ්‍යය කොළේය. ඔහු ඇවෑමෙන් **උදය** ii රජ තුන්අවුරුද්දක් රාජ්‍යය කොළේය. [6] ඔහු මල් **සේන** iii රජ නවඅවුරුද්දක් රාජ්‍යය කොළේය. [7] ඔහු ඉක්බිති **උදය** iii රජ අටඅවුරුද්දක්

---

1 සත්අවුරුද්දක්යයි ඇතම්-

2 දප්පුල රජු දොළොස් අවුරුද්දක් රාජ්‍යය කළබවත් ඔහුදවස අනුරාධපුරය පැහැර ජයබෙර මිණිපා සොළීරටට ගෙනගියබව ඇතම් පොතක පෙනේ—

3 සතළිස්අවුරුද්දක් රජකළබව ඇතම් පොතක පෙනේ-

4 IV කසුප් රජුගැන ඇතම් පොතක නොපෙනේ-

5 V පැසුළු කසුප් රජ සයඅවුරුද්දක්යයි ඇතම්-

6 II උදය රජ අටඅවුරුද්දක් රජකළබව ඇතම්පොතක පෙනේ-

7 III සේනරජ තුන්අවුරුද්දක් රජකළබව ඇතම්පොතක පෙනේ-

රාජ්‍යය කෙළේය. [1] පසුව **සේන** iv රජ තුන්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. [2] ඔහු **පුත් මිඳෙල්සලා (මිහිඳු)**iv රජ සොළී රටින් උග්‍රාතොටට බට දෙමළ රජුගේ සෙනඟ සාධා සොළොස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු ඉක්බිති **සළමෙවන්** රජ මහත් දෙමළුන් මරා ජයගෙන සිවුවසක් රාජ්‍යය කෙළේය. [3] ඔහු ඇවෑමෙන් **සේන** v. රජ නැවතත් දෙමළුන්ගෙන් ලත් අරගල ඇතිව් දෙමළුන් ලුහුබැඳ මරා රජකරන සමයෙහි සෙනෙවිරජු දඹදිවට ගොස් පස්අනූදහසක් දෙමළ සෙන් ගෙන ලක්දිවට ගොඩබැස්සකල ඔවුන් හා යුදකොට දශඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු **මල් මිහිඳු** v. රජ සතිස් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. [4] ඔහු ඉක්බිති **වික්‍රම බාහු** ("**කාසුප්**" නම් පුත්‍රයකු මහාවංශයෙහි) රජ පියරජුන් සමයෙහි ලක්දිවට බැස පුරාවූන් දෙමළපිරිස් එලවා දියපිට තන්වා රුහුණ ඉඳ දොළොස්වයසේදීම මළේය. පසුව **මහලේ** රජ ("**මහලානකීත්ති**" යයි මහාවංශයෙහි) තුන්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. [5] පසුව **වික්‍රමපණ්ඩිත** රජ අවුරුද්දක් රාජ්‍යය කෙළේය. [6] ඔහු ඉක්බිති **ජගත්පාල** නම් රජ සතරඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. [7] ඔහු ඇවෑමෙන් **පරාක්‍රමබාහුපණ්ඩි** රජ දෑවුරුද්දක් රාජ්‍යය කෙළේය. [8] එකලට සොළීරටින් දෙමළු නැවත ලක්දිවට ගොඩබැස ලොකාශාසනය නැසූහ. එකල **ලොකෙශවරසෙනෙවියන්** ඇතුළුව සයානූඅවුරුද්දක් සොළීන්ට වසගවූ **ලක්දිව මහලූ විජයබාහු** i රජ පැනනැගී ලක්දිව උන් දෙමළුන් මරා ලුහුබඳවා තුන්රාජ්‍යය එකාතපත්‍රකොට පළමු දෙමළුන් විසින් කාෂාය වස්ත්‍ර පොරවාපු කෙනකුන් නැතුව නැසූහෙයින් ශීලාචාර භික්ෂුකෙනකුන් නොදූක ලක්ෂගණන් මිණිමුතු පටවා අරමණ දේශයට් ඇර සිල්වත් අය විසිදෙනකුන් ගෙන්වා (උපසපන් භික්ෂූන්) ආගම බෝ

---

1 III උදයරජ තුන්අවුරුද්දක් රජකොළේ යයි ඇතම්-

2 IV සේනරජ නවඅවුරුද්දක් රජකෙළේයයි ඇතම්-

3 සළමෙවන් රජ ගැන මහාවංශයෙහි කිසිවක් දක්නට නැත-

4 V මිහිඳුරජ අටසාලිස් වසක් රාජ්‍යයකෙළේයයි ඇතැම්-

5 ඔහුට පළමු සෙනෙවිරත් ධුරයෙහි සිටි කීත්ති නම් ඇමතියන් අටදිනක් රජකළබව මහාවංශාදියෙන් පෙනේ-

6 තුන්අවුරුද්දක්ය යි ඇතම් පොත්හි පෙනේ-

7 එක්අවුරුද්දක්ය යි ඇතම් පොත්හි පෙනේ-

8 සාවුරාද්දක්ය යි ඇතම්-

කරන හැටියට මහලුකම් කරවා දහසක් භික්ෂූන් ඇතිකරවා මහවිහාර කරවා ලඞ්කාතිලකාය ත්‍රිවංකාය බඳවා කොත්පලඳවා අනුරාධපුරනුවර මුල්පිස කටුකපා පෙරලවාදමා ලෝකශාසන යට වැඩකොට පස්පනස් අවුරුද්දක් රාජ්‍යය කොළේය.[1] ඔහු මල් ජයබා රජ අවුරුද්දක් රාජ්‍යය කොළේය.[2] ඔහු ඇවෑමෙන් මහලු විජයබාරජුගේ පුත් වික්‍රමබාහු රජ එක්විසි අවුරුද්දක් රාජ්‍යය කොළේය.[3] වික්‍රමබාහුගේ පුත්‍රවූ ගජබා ii රජ දෙවිසිඅවුරුද්දක් රාජ්‍යය කොළේය.[4] ඔහු ඇවෑමෙන් මාණාභරණ රජුගේ පුත්‍ර පරාක්‍රමබාහු i රජ වොටුනුපැලඳ වලගම්අබා රජුදවස පටන් නානාප්‍රකාරව තුබූ ශාසනය සමගි කොට පොළොන්නරුවේ සැගිරියේ අටඅයතැන (ප්‍රධාන විහාරස්ථාන අටෙහි) මහපා කරවා මහපිළිම ගෙවල් කරවා ඔත් පිළිමගෙවල් කරවා රන්වන් සුළුවාදෙණි ගෙවල් (සඟරම් ගෙවල්) කරවා බොහෝ සඞ්ඝයා පැවිදිකරවා දහස්ගණන් මහදන්දී වනඵල දන්දී ඉසිපතනාරාමය, ජේතවනාරාමය, යන මේ මහාවිහාර නම්තබා කරවා සඞ්ඝයා වැඩ හිඳුවා මහ දන් දී ජරාවාසව බිඳීතිබූ රුවන්මැලිසෑය දෙනාතකාය, අභය ගිරි වෙහෙර ථූපාරාමය බඳවා කොත්පළඳවා අනුරාධපුරනුවර බොහෝ විහාර මුල්පිස කරවා ශ්‍රී මහාබෝධීන් වහන්සේට බෝධිගෙය කරවා ලෝවාමහාපාය කරවා වැවූඅටක් බඳවා නොයෙක්වාරයෙහි පරසතුරන් විසින් ලෝක ශාසනය නසන හෙයින් එරට මිථ්‍යාදෘෂ්ටි ගත් රජුන්ට උදහස් වදාරා දඹදිව නසමි කියා තමාගේ සේනාව ගෙන දඹදිව කොටන්ට පිටත් වූණේය. මහසඞ්ඝයා යන්ට නොදී මඟ හරස්කරපු හෙයින් සිගෙයන් දශදෙන බැගින් තෝරා එක්විසිලක්ෂ පස්විසිදහසක් සේනාව ගෙන්වා එක්කර නැවු සියගණනක් කරවා සෙනඟ නංවා ඈර සොළීරට කොටා ජය ගෙන පඬිරජුගේ රට කොටා ජයගෙන අයබදු මේ ශ්‍රී ලඞ්කාවට ගෙන්වා සමනොළට ගොස් ශ්‍රීපාදය වැඳ සමන්දෙවිඳුගේ දේවාලය කරවා අරමණ දේශ යෙන්ද පඬිරටින්ද සොළීරටින්ද අයබදු ලබමින් දඹදිවට අණසක පතුරුවා සිරිලකමඟුල් ගෙයක් සේ සාදා බුඩ ශාසනය

1 අසූඅවුරුද්දක් රජකළබව ඇතම් පොත්හි පෙනේ-

2 මහලුවිජයබා රජුගේ මල් විජයබා රජය යි ඇතම් පොතෙක්හි වැරදි වශයෙන් වැටීතිබේ-

3 විසිඅටඅවුරුද්දක්ය යි ඇතම්-

4 II ගජබාරජුගැන ඇතම් පොත්හි කිසිවක්නොපෙනේ-

එළිකරවා බුදුබව පතා තිස්තුන් අවුරුද්දක් රාජ්‍යයකර දෙව්
ලොව ගියේය. [1] ඉක්බිති ඔහු බෑණවූ විජයබාහුරජු ii එක්
අවුරුද්දක් රාජ්‍යයකළපසු එඬෙරදුවක් විසින් මහින්දනම්
පුරුෂයකුගේ බස්ගෙන මැරීය. ඔහුමරා මිහිඳු Vi රජු
පස්දවසක් රාජ්‍යය කෙළේය. ඔහු මරා දළදාගෙන කාලිංගයෙන්
ආ කීර්ත්තිනිශ්ශඞ්කරජ පොළොන්නරු වෙහෙර කරවා දළදා
ගෙය සැට පැයින් කරවා එහි වටදාගෙය කරවා සෙනඟසම
ගින් සමනොළට ගොස් බුදුන්ගේ සිරිපා වැඳ ලක්දිව තමා
නමින් ආරාම කොට දඹුළු වෙහෙර කරවා රන්පතින් වස්වා
දෙසැත්තෑවක් පිළිම කරවා රන් ගාවා රන්ගිරිදඹුල්ලය යි නම්
තබා බොහෝ පින් රැස් කරවා නවහවුරුද්දක් රාජ්‍යය කෙ
ළේය, ඔහුගේ ඇවෑමෙන් වීරබාහු i රජ රාජ්‍යයට පැමිණ එක්
දවසක් රාජ්‍යය කළපසු සෙනෙවි විසින් මරාදමනලදී, ඔහුගේ
මරනින් පසු වික්‍රමබාහු ii රජ තුන්මසක් රාජ්‍යය කෙළේය, ඔහු
ගේ ඇවෑමෙන් චෝඩගංග රජු නවමසක් රාජ්‍යය කෙළේය,
ඔහු මරාදමා පරාක්‍රමබාහු රජුගේ අගබිසෝවූ ලීලාවතී ලවා
තුන් අවුරුද්දක් රාජ්‍යය කරවීය, පසුව ඔක්කාක වංශයෙන් ආ
සාහසමල්ල රජ දෑවුරුද්දක් රාජ්‍යය කෙළේය, [2] පසුව එළලු
ආබෝ සෙනෙවිරජ එරජු පහකොට නිශ්ශඞ්ක රජුගේ කල්‍යාණි
වතී නම් බිසවලවා සාවුරුද්දක් රාජ්‍යය කරවීය, පසුව පස්මස
පිරීඋන් ධම්මාශෝක නම් ළදරු කුමරුවකු රජය තබා එක්අවු
රුද්දක් රාජ්‍යය කෙළේය. [3] පසුව අණීකඞ්ග නම් රජ දඹ
දිවින් බලසෙන් ගෙනඅවුත් ලක්දිව බැස පොළොන්නරුව
ගෙන ධර්මාශෝකරජුහා එළලු ආබෝ සෙනෙවිරජු මරා දහත්
දිනක් රාජ්‍යය කෙළේය, පසුව චමූනක්ක නම් සෙනෙවි තෙම
ඔහු මරා [4] පෙර ලක රජකළ ලීලාවතීබිසව ලවා නැවත අවු
රුද්දක් රාජ්‍යය කරවීය, පසුව ලොකේශ්වර රජ පරදේශ
යෙන් දෙමළුසෙන් ගෙන කඳවුරුබැඳ මුළුරාජ්‍යය වසඟකොට
නවමසක් රාජ්‍යය කෙළේය, [5] පසුව ලීලාවතීබිසව නැවතත්
සත්මසක් රාජ්‍යය කළාය, [6] පඬිරටින් බලසෙනඟක් ගෙන එබි
සව පහකොට පැරකුම්පඬි රජ තුන් අවුරුද්දක් රාජ්‍යය කෙ
ළේය,

1 අවුරුදු තිස්දෙකක්ය යි ඇතම්-
2 නවඅවුරුද්දක් රජකළබව ඇතම් පොතක පෙනේ-
3 සයඅවුරුද්දක්ය යි ඇතම්-
4 මනකම්සෙනෙවියයි ඇතම් පොතක පෙනේ;
5 පස්මසක්යයි ඇතම්-
6 සාරමසක්යයි ඇතම්-

ලංකා වාසීන්ගේ කිසියම් ධර්මයක් නැතිව පවු පල දෙන හෙයිනුත් ලකට අරක්ගත් දෙවියන්ගේ කිසිම අපෙක්‍ෂාවක් නැතිහෙයිනුත් අදම්කම් පහළ වන්නේය, ඉක්බිති මාඝ (කාලිංග) රජ සූවිසිදහසක් මලලව සෙනඟ ගෙන ලක්දිවට ගොඩබැස කඳවුරු බැඳ පොළොන්නරුව ගෙන පරාක්‍රමපණ්ඩිරජු අල්වා ඇස් උදුරා ලෝකශාසනය නසා රුවන්මැලිදාගබ බිඳුවා සෙසුදාගබ්ද බිඳුවා නොයෙක් ශ්‍රද්ධාවන්ත රජුන්ගේ චෛත්‍ය නැමති කීර්ති ශරීරවල කොත්නැමති චොටුනු හා රුවන් නැමති හෘදයමාංස ගෙන ධාතු නැමති ජීවිතය දෙමළුන් ලවා නසා ලක්දිව කුලවාසීන් අතවැසි කරවා හීනයන් උතුම් කරවා කීර්ති පවත්වා ජාතිභෙද කරවා කුලදරුවන් දිළිඳු කරවා සිරිලක මිථ්‍යාදෘෂ්ටි ගන්වා සිල්වත්අය අල්වා ධන විචාරයෙන් හස්තපාදාදී ඡේදන යෙන් විකාරයට පමුණුවා ලංකාව ගිනිගෙයක් සේ පමුණුවා ගමක් පාසා දෙමළුන් ඉඳුවා බලාත්කාරයෙන් එක්විසි අවුරුද්දක් රාජ්‍යය කෙළේය. [1] සිරිලක මිථ්‍යාදෘෂ්ටිකව සිල්වත් අය අල්වා දිවයින නසනකල්හි ශ්‍රී මහාබෝධීන් වඩාගෙන ආ සිරිසඟබෝ පෙළෙන් නොනැසී උන් විජයබාහු iii මතුරජ මායාරට හිට අන්ධකාරයෙන් නැඟි මහත් ගිනිකඳක්සේ පැනනැඟී සිංහල සෙනඟ ගෙනගොස් ගම ගම ඒ ඒ තැන සිටි දෙමළ කඳවුරු අරවා පොළොන්නරු සිටි දෙමළ කඳවුරු අරවා වන්නිවල උන් දෙමළසෙන් කොටා එලවමින් දෙමළුන් නසා ථූපාරාමයද රුවන්මැලිසෑයද බඳවා කොත් පළඳවා මහා පූජා කරවා ශ්‍රී ලංකාව මුළුල්ලෙහි දෙමළුන් බිඳි විහාර එළිකරවා කැලැණි වෙහෙර බඳවා දෙමළුන් විසින් ලංකාවේ සිල්වත් අය නැසූ හෙයින් දඹදිවට ඇර සිල්වත් අය දසදෙනෙකු ගෙන්වා දහසක් සඞ්ඝයා පැවිදිකරවා මායාරට ඇතුළුවූ තුන්රටම එකසත් කරවාගෙන අයබදු ගෙන්වා, වැඩහිඳින සඳ කරවුරුව පටන් පොළොන්නරුව උතුරුතොට දක්නාතුරු දෙමළ කඳවුරු බැඳගෙන උන්නාහ. විජයබාහු රජ මායාරට ඉඳගෙන රාජ්‍යයකරන සඳ විජයබාහුට ජාතක දරුදෙදෙන ලඟට කැඳවා කියන්නේ දුටුගැමුණු සැදෑතිස් දෙන්නා මෙන් නොපිදෙදෙන එකසිත්ව පවතින්ට ඕනැය කියා පරාක්‍රමබාහුගේ ජාතකය බලා (උපන් වේලාව බලා) සිරිලක එක්සත්කරගෙන පරසතුරන් නසන පින්බල ඇතිය හයි දැනගෙන. සතුරන් මරා ලුහුබඳවා දෙමළුන් රාජ්‍යය කරන අවදියේ පොළොන්නරුවේ තිබූ පාත්‍රා ධාතුවද ජය

1 එකුන්විසි අවුරුද්දක් යයි ඇතම්-

කොත්තයද දළදාසාමින්ද කොත්මලය සඟවා තිබූබව රට්වූ සැළකළුවිට මහත් සතුටු වෙමින් මහා පූජාසත්කාරයෙන් කොත්මලයට ගොස් දළදාසාමින් ගෙන සත්රුවන්පූජා ලදුවාසේ සතුටට පැමිණ ගම ගම පූජාකොරෙමින් (ගමෙක් ගමෙක්හි) වඩාගෙනවුත් 'මතු අරාජිකයක පරසතුරන් ගෙන් පීඩාවක් නොවනසේ දළදාසාමින්ට ගෙයක් කරවමි'යි බෙලිගල් විහාරය කරවා සතුරු කෙනකුන් විසින් නොනසන හැටියට පර්වත මුදුනේ දළදාසාමින් සඟවා තබා ලිංආදී සියල්ල කරවා පොහො දින හා නිරන්තරයෙන් පූජා සත්කාර කරවා ලක්දිව දෙමළුන් විසින් නැසූහෙයින් බුදුන්ගේ සුවාසූදහසක් ධර්මස්කන්ධය පණ්ඩිතයින්ලවා ලියවා ලක්දිව සියලු සඞ්ඝයා රැස්කරවා සත් දවසක් දන්දී අටපිරිකර දී තමන් නමින් විජයබාහු විහාරයක් කරවා මහත් පූජාකොට කැලැණි වෙහෙර දෙමළුන් විසින් බිදිසැය බඳවා කොත් පළඳවා බොහෝ පින් රැස්කර සතර අවුරුද්දක් රාජ්‍යයකර [1] පරාක්‍රමබාහු ii වැඩිමහලු කුමාරයින්ට රාජ්‍යය පාවාදී බාලකුමාරයින්ට යුවරජ තනතුරු දුන්නේය. ඉක්බිති පියරජහු ඇවෑමෙන් පරාක්‍රමබාහු රජ පැතනැඟී ජම්බුද්‍රෝණිපුර "බිල්ල නම් පර්වතයෙහි සිටි" දළදා සාමින් වහන්සේ ජම්බුද්‍රෝණිපුර සමෘද්ධිපුර නම්වූ තමාගේ නුවරට ගෙන්වා රන්කරඬුවක ලා සත්දවසක් මහාපූජා කරවා පියරජු මෙන් ලඞ්කාවාසීන්ට දුක් නොදී රජකරන සඳ එකලට පොළොන්නරුව පටන් ඌරුතොට දකිනාතුරු අතුරු සිදුරු නැතිව සතළිස් දහසක් කඳවුරු බැඳ උන් දෙමළුන් වටලා පරාක්‍රමබාහුගේ පින්බලයෙන් උමන්දාවෙහි කී සේනාව සේ හලවා ඇරියේය. පොළොන්නරුවේ උදවියට ඌරුතොටින් උදව්වට අවුත් උන් දෙමළසෙනඟ මහකැලෑවලදී සිංහල සෙනඟ විසින් වටලා අල්වා ගෙනගොස් පරාක්‍රමබාහුගේ මල් යුවරජහට භාරදුන්විට ඒ දෙමළ සෙනඟ නොමරා පොළොන් නරුවේ නොසිට ඔවුන්ගේ රටට යන්ට අවසර දුන්නේය. නොබෝ දවසකින් නැවතත් චන්ද්‍රභානුරජමල් සෙනඟ ගෙන යුධයට ලක්දිවට ගොඩබැස සටන්කරනවිට පරාක්‍රමබාහු රජ මල් යුවරජ ගොස් යුධකරවා දෙමළ මල්ලව සෙනඟ කොටා යුධ ජයගෙන සිංහලයෙහි පරසතුරන් නසා ඒකාතපත්‍රකොට ලක්දිව එළිකරවා ලක්දිව හැමතැනම බැදි දාගැබ් එළිකරවා සුණුබදම් ලවා හැම විහාරවල නිතිපතා පහන් අවුලා විධාන සිටුවා රුහුණුරටද මායාරටද පිහිටිරටද මේ තුන්රටෙහි එක

1 විසිහතර අවුරුද්දක් යයි ඇතම්-

සැටි විහාරවල්ද හැමතැනම දාගැබ්ද බඳවා පිරිත් බණ නිතිපතා කියවා විසිදහසක් ලමයින් අකුරුකරවා ඔවුන් පැවිදිකරවා මහපූජා කරවා කඨින දන් පවරාදී ඉරමුදුනෙන් මෙපිටදී බොහෝපින් රැස්කරවා දඹදිවින් බිසෝවරුන් ගෙන්නවා තම කුමාරයින්ට පාවාදුන්නේය. දඹදිව රජදරුවෝ පඬුරු පාක්කුඩම් මිණිමුතුද අවුරුදුපතා අයබදුද පරාක්‍රමබාහු පින් බලයෙන් ගෙන දෙන්නාහ. බුද්ධ නීති ධර්මනීති බෝකරවා රාජනීති පිළිවෙළ බෝකරවා සිරිලක වැසි නැතිව තිබුණුකල්හි දළදාසාමීන් එළියට ගෙන්නවා වැසි වස්සවා ඒ රජ මෙසේ රජකර මහත් කුසල්කර දළදාසාමීන් වැඳ පුදා ඉන්නාසඳ මේ රජ බොහෝ කාලයක් සැපවිඳ රජකර තමහට ජාතක (දා) පුත් කුමාරවරුන් **විජයබාහුය, භුවනෛකබාහුය, ශ්‍රී භුවනෛකබාහුය, පරාක්‍රමබාහුය,** (ත්‍රිභුවනමල්ල) **සිරිවිජයබාහු** යන පුත්‍රයෝ පස්දෙනාය **වීරබාහු** බෑණාය යන සදෙනා[1] ළඟට කැඳවා 'පෙර දඹදිව සැටදහසක් රජදරුවෝ දඹදිව බෙදා ගෙන කෑවෝය. වෙන වෙන නුවර කරවා උන්නාහ. ඒ දඹදිව දෙවනුව දශබෑ රජදරුවෝ බෙදාගෙන කෑවෝය. දඹදිව රජුන් තොපට නැකරවාපීමි. සොළී පාඬි රජුන්ගේ මොටුනු ගෙන්නවා පාමුල රැස්කරවාපීමි' තොපි සදෙන උනුන් විරෝධ නොවී සිරිලක බෙදාගෙන කව යි කියා පරසතුරන් එන්ට ඉඩ නාරිව් කියා දළදාසාමීන්ට හැම මස්හි නොවරදවා පෝයදින පූජාකරවන්ට කියා නිරන්තරයෙන් මල් පහන් පූජාකරවන්ට කියා සිරිලක හැම දාගැබ් හැමවිහාරවල් බිඳෙන්ට නෑර අවුරුදු පතා සුණු බදම් ලා මහාසඞ්ඝයාට මසින්මස නිතිපතා දන් දෙන්ට කියා මපියාණන් කළ එකමායාරට තබා තුන් රාජ්‍යයම එක්සත්කර ගතිමි. මායාරට දෙලක්ෂ පනස්දහසක් ගම්ද පිහිටිරට හාරලක්ෂ පනස්දහසක්[2] ගම්ද රුහුණුරට හත්ලක්ෂ හැත්තෑදහසක් ගම්ද යන මෙකී රටට අඩුවක් නැතුව මඟුල් ගෙය මෙන් දුක්නැතුව සව්සත රැක්කෙමි කියා කුමාරයින් සදෙනම ළඟට කැඳවා සිඹ සනහා විරෝධ නොවන්ට දිව්රුවා වැඩිමහලු විජයබාහුට රාජ්‍යය භාරකරදී පනතිස්අවුරුද්දක් රාජ්‍යයකර දෙව්ලොව ගියේය. [3] පරාක්‍රමබාහු රජු ඇවෑමෙන් සියලු ලඞ්කාරාජ්‍යය අනුශාසනා කරන්නාවූ බෝසත් **විජයබා** iv රජහට දෙවෙනි වර්ෂයෙහි ඒ රජහුගේ **මිත්‍ර** නම් එක් පවිටුවූ

1 සත්දෙනෙක් යයි ඇතම්-

1 හාරලක්ෂ පනස්දහයක් යයි ඇතම්-

2 තිස්දෙකක් යයි ඇතම්-

සේනාවියෙක් එක්දිනක් රෑ දසයකුලවා ඒ නරේන්‍ද්‍රයා මැරවිය. [1] ඔහුගේ ඇවෑමෙන් ඔහුමල් **භුවනෙකබාහු** i මහරජ දඹදෙණියාපව් දෙනුවර ඉඳ එකළොස් අවුරුද්දක් රාජ්‍යය කොට පරලොකප්‍රාප්තවිය. පරාක්‍රමබාහු රජුගේ බෑණා ගම්පොළ නුවර උන්නේය. භුවනෙකබාහු i මහරජ සමයෙහි පඬිරට ආයසීචක්‍රවර්ත්ති යන ඇමතියෙක් ලක්දිව්බැස රට කොල්ලකමින් යාපව් නුවරට වැද දන්තධාතුන් වහන්සේ පැහැරගෙන පඬිරටටගොස් එහි කුලසෙඛර රජහට දුන්නේය. භුවනෙකබාහු රජු ඇවෑමෙන් බෝසත් විජයබාහු රජුගේ පුත්වූ තුන්වෙනි **පරාක්‍රමබාහු** iii කුමාරයා රාජ්‍යයට පැමිණ ආයසීචක්‍රවර්ත්ති ඇමතියා විසින් ගෙනයනලද දන්තධාතුව ඉල්වාගෙන පොළොන්නරුවට ගෙනඑන ලද්දේය. ධාර්මිකවූ මෙතෙම පස්අවුරුද්දක් රාජ්‍යයකොට පරලොකප්‍රාප්තවූයේය. ඔහුගේ මරනින් පසු පළමුවෙනි භුවනෙකබාහු රජුගේ පුත්වූ දෙවෙනි **භුවනෙකබාහු** ii කුමාරයා රජපැමිණ කුරුනෑගල දෑවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුගේ ඇවෑමෙන් ඔහු පුත් **පණ්ඩිත පරාක්‍රමබාහු** iv කුමාරයා රජපැමිණ කුරුනෑගලනුවර රජකෙළේය. මොහුගේ මුළු කාලය තුළම බුද්ධශාසනය සම්බන්ධ කටයුතු කරමින් ගතකෙළේය [2] මොහුගේ ඇවෑමෙන් **භුවනෙකබාහු** iii (වන්නි භුවනෙකබාහු) රජපැමිණ කුරුනෑගලම රජකෙළේය. [3] තුන්වෙනි භුවනෙකබාහු රජු ඇවෑමෙන් පස්වෙනි **විජයබාහු** v රජ රාජ්‍යයට පැමිණ දොළොස් අවුරුද්දක් කුරුනෑගල රාජ්‍යය කෙළේය. පස්වෙනි විජයබාං රජ ඇවෑමෙන් සතරවන **භුවනෙකබාහු** iv රජ ගඩගාශ්‍රීපුරයෙහි, ලඞකාතිලකාදී රජමහ විහාරයන් කරවමින් සත් අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහු ඇවෑමෙන් පස්වෙනි පරා

---

1 විජයබාහු රජකරන අවධියට මහාචීනේ දෙස් රජ සියගණන් සේනාගෙන මේ ලකට ගොඩබැසලා පඬුරු පාක්කුඩම් ගෙන එනවාය කියා මායම්කර උපායෙන් ඒ රජු අල්ලාගෙන ගියේය. පරාක්‍රමබාහු රජ කරන අවධියේදී දේශවලින් පඬුරු ගෙනෙන්නාහ. ඒ සැටි සිතාගෙන සිටලා විජයබාහුරජ අනුවනකම්කොට දෙස්රජුට අසුවිය. එරජුගේ මල් සතරදෙනාත් නැතිලා නැතක් හමුදුවත් අල්ලාගෙන දෙස් රජ මහාචීනයට ගෙනගියේය. පසුව ලඞකාවේ රජුන් නැතිහෙයින් අලකෙශ්වර මන්ත්‍රී රයිගම් නුවර විසුවේය යන මේ ප්‍රවෘත්තිය ඇතම් පොතක දක්නට ලැබේ. මෙය කල්පනා කටයුතුයි-

2 මොහු රජකළ වර්ෂගණන කිසිතැනෙක්හි දක්නට නැත්තේය.

3 මොහු කොපමන කලක් රජකෙළේදැයි දක්නට නැත්තේය.

ක්‍රමබාහු v රජ පස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුගේ ඇවෑමෙන් තුන්වෙනි වික්‍රමබාහු iii රජ පසළොස්අවුරුද්දක් රාජ්‍යය කෙළේය. එකල යාපාපටුනෙහි ආයශීචක්‍රවර්ති රජ උන්නේය. මේ රජුන් අතුරෙන් ආයශීචක්‍රවර්ති රජු සේනා බලයෙන්ද අර්ථබලයෙන්ද උසස්වූ බැවින් උඩරටින් හා පාත රටින්ද නවතොටමුනෙන්ද අයබදු ගෙන්වනසඳ එක් දවසක් අලකේශ්වරයා තමාගේ සේනාව දක්ක බලා මෙවිතර සේනාවක් ඇතුව ඉඳ එකෙකුට අයබදුදීම සුදුසු නොවෙයි සිතා ජයවර්ධන කෝට්ටේ බැඳ ජලය පිරිසිටින අමුණුගිල්ම බැඳ අවුරුදු කීපයකට කන්ට ලුණු පොල් වී රැස්කොට තබා ආයශීචක්‍රවර්ති රජ්ජුරුවන්ගෙන් ඒ ඒ තැන බදුවලට සිටියවුන් එල්ලාදැමීය. එපවත් ආයශීචක්‍රවර්තිරජ අසා විෂඝෝර නයකුසේ කොප යෙන් දිලිහී සොළිරටින් දහස්ගණනක් දෙමළ සෙනඟ ගෙන් නවා ගම්පළටත් ජයවර්ධන කෝට්ටයටත් එකඳ කොටන හැටියට සෙනඟ පිටත්කර යැව්වේය. ගොඩින් ආ සෙනඟ මාතලේ වාඩිලා ගත්තාහ. මුහුදෙන් ආ සෙනඟ පානදුරු තොටින් කොළොම් තොටට ගොඩබැස දෙමටගොඩ ගොරකාන යන දෙතන්හි අතුරුසිඳුරු නැතිව වාඩිලාගත්හ. භුවනෙක බාහු ගම්පළ නුවර ඇර හසින් රයිගම් නුවරට වන. උඩරට සේනාව අපවැනි සේනාවක් ඇරගිය රජුගෙන් කම් කිම්ද කීයා පස්රටේ සේනාව තම්තමන් කථාකර රාත්‍රියේ වාඩිවලට වැදිලා දෙමළ සෙනඟට ඇන වාඩි කුලප්පුකොට නැතක් දෙමළ සෙන් මැරුවාහ. ඉන්පසු සිටි දෙමළසෙන් මඟ ඇර යාපාපටුනට බිඳී ගියහ. අලකේශ්වරයා දෙමටගොඩ ගොර කාන වාඩිවලට පැනලා කොටා දෙමළ සෙන්. විනාසකරවා පානදුරුතොට තිබූ නැවුත් පොඩිකරදමා රයිගම්නුවරට වන. ගම්පළ භුවනෙකබාහු ගම්පළටම ගියේය.. තුන්වෙනි වික්‍රමබාහු රජු ඇවෑමෙහි පස්වෙනි භුවනෙකබාහු රජ ගම්පළ රාජධානි යෙහි විසිඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. ඔහුගේ ඇවෑමෙන් වීරබාහු ii රජ ගම්පළ රාජධානියෙහි එක්විසිඅවුරුද්දක් රාජ්‍යය කෙළේය. එකල ඔහුගේ සහෝදරවූ වීරඅලකේශ්වර නම් කුමාරයා තත් කාලයෙහිම ප්‍රදෙශ රජෙක්ව දොළොස් අවු රුද්දක් මුහුදුකර ප්‍රදෙශයක් ආණ්ඩුකෙළේය. ශ්‍රී බුඩවර්ෂයෙන් එක්දහස් නවසිය පනස්අටක්වූ වෙසඟ පුර සතවක් ලත් බ්‍රහස් පතින්ද පුසේනකතින් විජයබාහු රජ අල්ලාගෙන ගිය අවධි යේදී එරජුගේ බිසව සුනෙත්‍රාදේවී කුමාරයාත් නැඳවා ගෙන

නුවරින් නික්ම විසිදුගමට ගියාය. [1] විසිදුගම තෙරසාමින් ඒ කුමාරයාගේ ජාතකය (උපන්වේලාව) බලා මහ පින් ඇති බව දැන පින්වත් ලංකේශ්වරයෙක, කියා මතු සිරිලක රජ කරනබව දැන ඒ කුමාරයා ගණපතනියේ ලාගෙන උන්නෝය. ඒ වග අලකේශ්වරයාට සැලවගියවිට සතරකෝරළේ පොල් වත්ත කියන ගමේ ගමයාටත් එම ගම ආචාරියාටත් භාරකර ඇරියේය. රාත්‍රියේ ගමයාගේ ගෙදර ගොස් ඉන්නේය. දවල් දවස ආචාරියාගේ පැටියා සමග කෙළින්නේය. ඒ වග අල කේශ්වරයාට සැලවී පණිවුඩ කාරසින් ආචාරියාගේ ගෙදරට එව්වේය. විමසන්ට ආචාරියාගේ ගෙදරට ආ පණිවුඩකාර සින් දැකලා පතුවැල (තෙවිට) ගෙන තමාගේ පැටියාට පහරක් ගසා හරක් බලන්ටකියා කුමාරසිනුත් එක්ක එලවිය. ඒ පණිවුඩකාරයෝ ආචාරියාගේ ළමයාය යි සිතා ආපසු රයිගමට ගියාහ. ඔවුන් ගියපසු ආචාරියා ඒ කුමාරයා කැඳවාගෙන ගොස් ඒ ආචාරියාගේ නගා සිටින ගම ගමරදළගේ ගෙදරට ඇරලා ඇතිතතු ගමරදළට කියා දී ආපසු ගමට ආවේය. මෙසේ ඒ කුමාරයා සොළොස් හැවිරිදි වයසට පැමිණිවිට විසිදුගම තෙරුන්වහන්සේ ප්‍රධානවරුන් ගෙන්නවා කථාකරගෙන ඒ කුමාරයා ගෙන්නවමින් අලකේශ්වරයාට රහසින් වෙසඟපුර සතවක් ලත් ගුරුදින පුසේනකතින් මහාසේනාවට භාරකරදී අලකේශ්වරයාට හදිසර ශ්‍රී පරාක්‍රමබාහු නමින් සිංහාසන ප්‍රාප්ත කෙළේය. ශ්‍රී පරාක්‍රමබාහු vi රජ තුන්අවුරුද්දක් රයිගම් නුවර වැඩහිඳ පසුව ජයවර්ධන පුරයට වැඩමවා මහාසඟයා වැඩහිඳිනා ගණපතාහීන්ද රජමාලිගාද වීදි ආදිවූ සියල්ලක්ද කරවා සීමාපවුරු කෝට්ටය බැඳ කිරවැල්ලෙන් බිසෝ කෙනෙකුන් ගෙන්නවා අගමෙහෙසුන් කොට **සේනානායක සපුමල් කුමාරසින්** ඇමති කොට අම්බුළුගල උන් කුඩා කුමාරසිනුත් ඇමති කොට මහරජකම් කරනසඳ ලංකාවේ දෙතැනෙක රජ සිරි විඳිම සුදුසුනොවෙයි සිතා සේනානායක සපුමල් කුමාර සින්ට සේනාව භාරකර දී ඇරියතැන යාපාපටුනට අධුත්තු ගම් කීපයක් කොටා හිර අල්ලාගෙන කෝට්ටේ නුවරට ගෙනවුත් පරාක්‍රම්බාහු මහරජහට දී සිටිසඳ නැවතත් සේනාව භාරකරදී සේනානායක සපුමල් කුමාරසින් ඇරියතැනේදී ඒ ඒ තැන

1 VI ශ්‍රී පරාක්‍රමබාහු මහරජතුමාගේ පියාණෝ ජයමහලේන නම් ක්‍ෂත්‍රියොත්තමයෙක් බවත් මවුතොමෝ කාලිඞ්ග රාජවංශයේ සුළුනන්‍රා මහාදේවී බවත් ඇතම් පොතක පෙනේ.

බැඳි කෝට්ටවල් අරවමින් යාපාපටුන් නුවරට වදිනවිට සපුමල් කුමරු නිල් අශ්වයා පිටට පැනනැඟී නුවරට වැද දෛළුවර දෙමළ සෙනඟ රජුගේ අශ්වයාට කොටන්ට සැඟවී සිටිකල සපුමල් කුමරු ("සෙම්බගප්පෙරුමාල්") මහා වැයමින් අසු විහිදුවා දෙමළ සෙනඟ කොටා යාපාපටුන් නුවර වීදිවල ලේවතුරු හෙළමින් ආයඪචක්‍රවර්ති රජු මරා ඔහුගේ අඹුදරුවන් අල්වා ගෙන කෝට්ටේ නුවරටඅවුත් පරාක්‍රමබාහු මහරජු දැක්කේය,[1] පරාක්‍රමබාහු මහරජාණන් වහන්සේ බොහෝ තාන්න මාන්න දී යාපාපටුන භාරකර සපුමල් කුමාරයින් ඇරියේය, පසුව මේ රජ වෙළඳාමට සම්බානක බඩු පටවා ඇරියතැන අයපට්ටනමේ වීරරාම කියන මලවරා (මල්ලවයා) නැව හා බඩු උදුරාගත, ඒබව පරාක්‍රම බාහු රජ අසාවදාරා නැව් සියගණනක් පිටත් කරවා වීරරාම කියන මලවරාටත් කොටා මරාදමා සොළිරටින් ගම් කීපයකුත් පට්ටනමකුත් කොල්ලකා ගෙන සොළිරට මකුඩම් කෝට්ටය කියන ගම් සතරකින් අයබදු අවුරුදුපතා ගෙන්වා ගත්තේය, ශ්‍රී පරාක්‍රමබාහු රජ වොටුනුපැළඳ පනස්දෙකක් අවුරුදු මහරජකර උඩරට රජකරන ජෝතිය සිටුරජු වැඩට එන මිනිසුන් නොඑවා අවුරුදුපතා එවන අයබදු නොඑවා අංගම්පොර (කැරළිගැසීම) ඇර හිඳිනබව අසා මහසේනාව එක්කරවා අම්බුළුගල උන් කුඩා කුමාරයින්ට භාරකරදී උඩරට කොටා ජයගන්ට අවසර දුන්නේය අම්බුළුගල රජ උඩරට කොටා ජයගෙන ඒරජුගේ වරිගෙන් කීපදෙනෙකුත් අල්ලා කෝට්ටේනුවරට එවීය. ගම්පළ රජපෙළපතින් පැවතඑන රිවිකුල රජ කුමාරයාට හා ඇමතියන්ට උඩරට භාරකරදී අය බදු ගෙන්වා ගත්තේය. අම්බුළුගල රජ කෝට්ටේනුවරට අවුත් පරාක්‍රමබාහුරජ දැක බොහෝසේ තාන්න මාන්න ලැබ අම්බුළුගලට ගියේය. ශ්‍රී පරාක්‍රමබාහු රජ පනස්දෙකක් අවුරුදු ගිය තැන එමරජුගේ දුවනියවූ උලකුඩ දේවියගේ පුත්‍රයාට ජයබාහු[2] නම් තබා සිංහාසන ප්‍රාප්තකොට දෙව්ලොවගියේය. ජයබාහු

---

1 එවකට විසූ ෂඩ්භාෂාපරමේශ්වර තොටගමුවේ ශ්‍රී රාහුලමාහිමියාණෝ සපුමල්කුමරු ගැන සැළලිහිණිඅස්නෙහි මෙසේ වර්ණනාකොට තිබේ.

නිල තුරඟුට නැඟෙමින් රිවිදෙව් සිරි නා
දුල කැරසේසත් මිණිබරණ කිරණී නා
බල පිරිසෙන් සහ යාපා පටුන් ගෙ නා
බල සේනා නායක සපු කුමරු එ නා

2 වීරපරාක්‍රමබාහුයයි ඇතැම්පොතක පෙනේ.

රජු රාජ්‍යයට පැමිණ දෙවර්ෂයකට පසු යාපාපටුනට සැළව සේනා
නායක සපුමල්කුමාරයා යාපාපටුන නඩත්තුකර සිටින ප්‍රධානි
වරුන් හා සේනාවඑක්ව යාපාපටුනෙන්පිටත්ව කෝට්ටනුවරට
වැද ජයබාහු රජු මරා **ශ්‍රී භුවනෛකබාහු** vi යන නමින් සිංහා
සන ප්‍රාප්තවිය. ශ්‍රී භුවනෛකබාහු රජ්ජුරුවන් රාජ්‍යය කරන
අවධියට පස්යොදුන් කෝරළය කැලෑණිදෙල ශ්‍රී ජයවර්ධන
පතිරාජයා කූරගම හිමියාණන් එක්ව කථාකරගෙන කළුගඟින්
එපිට වලවේඹය දකිනාතුරු සිංහල පෙරළිකෙළේය. භුව
නෛකබාහු එපවත් අසා වදුරු තමාගේ මල්වූ සතරකෝරළයේ
උන් අම්බුළුගල කුඩාකුමාරයා ගෙන්නවා සතරකෝරළයේ
පඩත්තලවරු (යුඩමූලාදෑනි) සහ නොයෙකුත් සෙනඟ භාරකර
යුඩයට යන්ට අවසර දුන්නේය. ඒ අම්බුළුගල රජ පස්යොදුන්
කෝරළය මැද වාඩිලා හිඳ පතිරාජයා සහ කූරගම හිමියාණන්
දක්වා ගෙන මහසෙනඟ පිරිවරා ජයවර්ධන නුවරට අවුදින් භුව
නෛකබාහු මහරජහට පතිරාජයා භාරකරදී සිටිවිට පතිරාජයා
මාවිසින් කළවරදට මා දඟගෙයි ලව යි කීවිට ඒ සැටියට පති
රාජයා සිරගෙයි ලැව්වේය. අම්බුළුගල රජ අම්බුළුගලට ගියේය.
ශ්‍රී භුවනෛකබාහු මහරජ වොටුනුපැලඳ සත්අවුරුද්දක් රාජ්‍යය
කර සවර්ගපදවිය ලද්දේය. භුවනෛකබාහු රජ ඉකුත්වන්ට
පළමුවෙන් පතිරාජයන් සිරෙන් හැර ඒ පතිරාජයන්ට හා කූර
ගම හිමියාණන්ටත් ඇතිකළ කුමාරයා භාරකරදී උන්විට ඔවුන්
ඒ කුමාරයා **පණ්ඩිත පරාක්‍රමබාහු** vii නම්තබා සිංහාසන ප්‍රාප්ත
කළහ. භුවනෛකබාහු රජ ඉකුත්වූ බව අම්බුළුගල රජ අසා
සතරකෝරළේ නොයෙකුත් හමුදුව ගෙන්නවා කෝට්ටයට
යුඩ සඳහා පිටත්ව ගොස් සියනෑකෝරළේ වාඩිලා උන්නේය.
කැලෑණිය වාඩිලාහිඳ ඉන්කෙන්ද යන ගමදී යුඩකර පතිරාජ
යන් කූරගම හිමියාණෝත් වැටී යුඩයෙන් පරාජයවූවාහ. අම්බුළු
ගල රජ කෝට්ටේ නුවරට වදිනකල පණ්ඩිත පරාක්‍රමබාහු රජ
දොරවල් අගුල්ලවා බිසෝවරුන්ටත් ඇතලා මරාදමා බණ්ඩාර
වරුන් තුන්දෙනෙක් කැටුව උන්නේය අම්බුළුගල රජ මධ්‍යම
රාත්‍රියේ පණ්ඩිත පරාක්‍රමබාහු රජ මරාදමා පසුවදා රාජභවනය
සරසා **වීරපරාක්‍රමබාහු** viii නම් තබාගෙන සිංහාසන ප්‍රාප්තවිය.
පණ්ඩිතපරාක්‍රමබාහු රජ නවඅවුරුද්දක් රාජ්‍යශ්‍රිය අනුභව
කෙළේය යි දැනගතයුතුයි. වීරපරාක්‍රමබාහු රජ කුමාරවරු
සතරදෙනෙකුත් කුමාරිකාවකුත් ලැබ සැපසේම දෙවිසිඅවුරුද්

දක් රාජ්‍යය කර සවගීපදවියලද [1] ඉක්බිති ඒ රජුගේ පුත් වැඩි මහලු කුමාරයින්ට ධර්මපරාක්‍රමබාහු ix නම් තබා සිංහාසනප්‍රාප්ත කළාහ. විජයබාහු රජ්ජුරුවෝත් රාජසිංහ රජ්ජුරුවෝත් මැණික්කඩවර නුවර කරවා බාල අවස්ථාවෙහිම එකතැන එකස්ත්‍රීය(එකකුමාරිය)සරණපාවාගෙන විසුවෝය. බාලකුමාරයා [2] රයිගම්නුවර විසුවේය. ධර්මපරාක්‍රමබාහු රජුගේ මවු බිසවට නගාවූ කුමාරිකාව අම්බුළුගල රජහට දී අගමෙහෙසුන්කොට ඉඳ බාල බිසෝ අදහසින් ඒ රජහට දුව වැදූ කුමාරයෝ දෙදෙනෙක උහුනම් සකලකලාවල්ල රජ උඩුගම්පළ උන්නෝය. තනියවල්ල රජ මාදම්පේ උන්නෝය ධර්මපරාක්‍රමබාහු රජකරන අවධියට කායලපට්ටනමෙන් කදිරා යන නම්ඇති සොර යොනෙක් සලාවත මූතු කිම්දින්ටත් බලාත්කාරයෙන් ඇතුන් ගන්වත් බොහෝ යොන්ගොල්ලක් රැගෙනවුත් සලාවතට ගොඩබැස උන්නෝය. ඒබව ධර්මපරාක්‍රමබාහු රජ අසාවදාරා සකලකලාවල්ල රජුගෙන්වා මහසේනාව භාරකරදී යුද්ධයට යනලෙසට අවසර දුන්නෝය. මහසෙනග පිරිවරා සකලකලාවල්ල රජ මාදම්පෙට ගොස් තමාගේ මල්වූ තනියවල්ල රජු හා කථාකරගෙන ඇත් වාහනයට පැනනැගී [3] තනියවල්ලරජ අශ්වයාට පැනනැගී දෙමුනෙන් ගොස් යොන්සේනාව මැදට පැන බොහෝ යොනුන් මරා කදිරායන මුදලියාටත් ඇන මරා මූතුකිම්දින්ට ආ යොන්ගොල්ලත් අල්ලා ගෙන සම්බාන් ඇතුන්ලවා පොඩිකරවා දමා අසූනවදෙනෙකු අල්ලා ගෙන ජයවර්ධන නුවරට අවුත් පරාක්‍රමබාහු රජු දැක බොහෝ තාන්න මාන්න ලැබගෙන රජ දෙකට්ටුව තමතමන්ගේ නුවරට ගියහ. එකලට උඩරට රජ කරන රජ සිංහාසන පැනනැගී අණබෙර ගස්වමින් අංගම්පොර අරවමින් (ගම්පෙරළිකරවමින්) අයබදු නොදී සිටිනාබව අසාවදාරා මැණික්කඩවර උන් ශ්‍රී රාජසිංහ රජ්ජුරුවන් ගෙන්නවා වදාරා මහාසේනාව භාරකර දුන්සඳ සතරකෝරළයෙ වාඩිලාඉඳ තමාගේ සහෝදරවූ කිරවැල්ලේ මහරාළහාමින්ට හමුදුවදී ඇරියවිට යුද්ධයට යටිනුවර වාඩිලා කුණුකොහුපිටිය ඇල්ලුනැනේදී උඩරට රජ පණම් තුන්ලක්ෂයකුත් ඇතුන් දෙන්නෙකුත් දේශ්‍රීයට

1 විසිඅවුරුද්දක්යයි ඇතැම්—මේ වීරපරාක්‍රමබාහු රජහුගේ කාලයෙහි ලක්දිවට ප්‍රතිකාලුන්ගේ ගොඩබැසීම සිද්ධවූ පළමුවෙනි වාරයයි.

2 අනිකුත් කුමාරයා ඇතැම්—

3 තනියවල්ලරජඇත්වාහනයට නැගී—ඇතැම්—

තමාගේ දුවණිකෙනෙකුත් එවා සනනාහවුහෝය. ඒ කුමාරි කාව කිරවැල්ලේ රාළහාමිට දුව වැදූ අයනම් කවරේදැයි දනගත යුතුයි. වැලිකොල රාළහාමිය, ගුම්ගොමුවේ රාළහාමිය, ඔබ්බෙ රියේ රාළහාමිය, වලගෙසි රාළහාමිය, ඇන්නෝරුවේ රාළහාමිය, කිරවැල්ලේ රාළහාමිය, ජයවීර බණ්ඩාරගේ බිසෝ අදහසින් ඇතුළුවූ සත්දෙනකු වැදූවයි දනගතයුතුයි. එතැන්සිට නොබෝ දවසක් ගියකල සතරකෝරළයට අවුල්කළාහ. ධර්මපරාක්‍රමබාහු රජ ඒබව අසාවදාරා තමාගේ මල්වූ උඩුගම්පළ සකලකලාවල්ල රජුට මහාසේනාව භාරකරදී උඩරට අල්වන්ට ඇරියේය. සකල කලාවල්ලරජ ගොස් යටිනුවරමැද වාඩිලාගත්තේය. උඩරට රජ ඉදිරියට අවුත් සකලකලාවල්ලරජුට වදිනාහැටියට ආකාර දක් වා මුතුකුඩයත් සක් පලිහත් තමාකර පැළඳි දෙරිසනයත්(මාල යත්) එව්තැනේදී ඒ දෙරිසනය මුල්කර ගෙන ශ්‍රී පතුලේ බැඳ එමවිටම ඒකනායකමුදලින්ගේ කරෙහිලමින් මතු මෙවැන්නක් නොකරන හැටියට තරවටුකර උදහස් වදාරා ජයවර්ධන නුවරට අවුත් ධර්මපරාක්‍රමබාහු රජ දක තමාගේ නුවරවූ උඩුගම්පළට ගියේය. එකලට ජම්බුවීපයෙහිවූ ප්‍රතිකාල්දෙශයෙන් නැවක් පිටත්ව ක්‍රිස්තු වර්ෂයෙන් [1] එක්දහස් පන්සිය විසිදෙවැන්නෙහි දේවානුභාවයෙන් [2] අනතරුසමුද්‍රයෙහි කිසි උපද්‍රවයක් නැතිව කොළොන්තොටට ගොඩබැස හිඳිනාකල තොට සිටින අය අවුත් පරාක්‍රමබාහු රජහට මෙසේ සැළකළාහ.

ඒ කෙසේ සැළකළෝද? "අපගේ කොළොන්තොටට ඉතා සුදුපැහැ ඇති ජාතියෙක් බොහෝ රූපශ්‍රීයෙන් යුක්තව යකඩ සැට්ට ඇගලා යකඩතොප්පි ඉසලාගෙන විගසක් එකතැනක නොසිට සක්මන් කරන්නාහ' කියාද, පාන් මුද්දිරප්පලම් අරක් කුඅාදිය [3] කනු බොනු දක කුඩුගල් සපාකමින් ලේ බොන් නාහ, [4] එක මස්ටකයාට එක දෙහිගෙඩියට රන් රිදී දෙක තුන දෙති උන්ගේ කාලතුවක්කුවලින් තිබන වෙඩිශබ්ද යුගන්ධර පර්වතය සෙනහඬටත් දැඩිය කාලතුවක්කු උණ්ඩය ගව්ගණනක් ගොස් කළුගල් කෝට්ටවල් පොඩිවෙලායෙති' කියාද මෙකී වග

---

1 ශ්‍රී බුඩවර්ෂ ප්‍රමාණයෙන්, ඇතම්-අපගේ සවාමිවූ යේසුස් ක්‍රිසතු වර්ෂ යෙන්- ඇතැම්-අපගේ සවාමිදරුවූ බුදුරජාණන් වහන්සේගේ වර්ෂ ප්‍රමාණයෙන්-

2 ලෝකපාලක දෙවියන්ගේ-ඇතැම්-

3 අරක්කු කනුබෝනුදක-ඇතැම්-

4 බොන්නන්න-ඇතැම්-

පමණක් නැතිව විස්තර වශයෙන් සැළකලාහ, ධර්ම පරාක්‍රම
බාහු රජතෙම එපවත්අසා වදාරා මල් සහෝදර රජ සතරනව
වූව නුවරට ගෙන්වා අනෙකුත් ප්‍රධානවරුන්හා නුවණ ඇති
අමාත්‍යවරුන්ට මෙපවත් වදාරා ඔවුන් හා සන්ධාන වෙමුද යුධ
කරමුද? කියා වදාළකැන "චක්‍රායුධරජතෙම" මම ගොසින් මගේ
ඇසින් ඔවුන්ගේ ගති බලා දෙකින්එන සැලකරම් කියා අප්‍රසිද්ධ
වෙශයකින් කොළොන්තොටට වැඩ ප්‍රතිකාලූන්ගේ ගති බලා
ඇඳිනගෙන නැවත නුවරටවැඩ මොවුන්හා යුධයෙන් කාම්නැත
දක්වාගැනීම යහපතැයි කීය. ඒ අසා ධර්මපරාක්‍රමබාහු රජ
තෙම ප්‍රතිකාලුන්ගෙන් එකකු දෙන්නකු දක්වාගෙන නෑගි
හොඟ දී ඔවුන්ගෙන් පඬුරු පාක්කුඩම් ගෙන්වාගෙන ප්‍රතිකාල්
මහරජ්ජුරුවන්ටත් නෑනක් සම්මාන දෙවා ප්‍රතිකාල් රජ්ජුරු
වන්ට ඉෂ්ටමිත්‍රව උන්නේය, එදාපටන් ප්‍රතිකාලෙණෝ කොළොන්
තොට විසූවාහයි දැනගතයුතුයි.

ධර්මපරාක්‍රමබාහු රජ දත් ඇති ඇතුන් සදෙනෙකුත් පිණට
ඇර දේශවාසීන්ට විසිහවුරුද්දක්[1] රාජ්‍යය කර ඉකුත්වූණේය,
[2] මේ රජ ඉකුත්වූවිට මහාසේනාව හා මන්ත්‍රීවරු උසාවි කර
ගෙන නුවරින් පිටත්ව උඩුගම්පළට ගොස් සකලකලාවල්ල රජ්
ජුරුවන් වැඩමවාගෙන ජයවර්ධන නුවරට අවුදින් මහරජකමට
ආරාධනාකළවිට සකලකලාවල්ල රජ ඊට කාරණා කීපයක්
ඇතැයි කීය, ධර්මපරාක්‍රමබාහු රජුගේ එකාකුස උපන් මැණික්
කඩවර උන් ශ්‍රී රාජසිංහරජ්ජුරුවන්හා විජයබාහු රජ්ජුරු
වන්හා දෙදෙනා බාල අවස්ථාවෙහි සිට එක ඓශ්චර්ය සරණපාවා
ගෙන උන්නයි දැනගතයුතුයි, ශ්‍රී රාජසිංහ මැණික්කඩවරදී
ඉකුත්විය, බාල විජයබාහුකුමර උන්නේය; සකලකලාවල්ල
රජ එකුමරු නුවරට ගෙන වොටුනු පළඳවා විජයබාහු, නාමතබා
සිංහාසන ප්‍රාප්තකොට මහාසේනාව දක්වා දී උඩුගම්පළට
ගියේය, ශ්‍රී රාජසිංහ රජ්ජුරුවන් හා විජයබාහු රජ්ජුරුවන්
එකගෙහි හිඳිනා අවධියට දෙදෙනාට දාව වැදූ කුමාරවරු තුන්

1 විසිදෑවුරුද්දක්ය යි-ඇතැම්-

2 ප්‍රතිකාල්වරුන් පළමුකොට ලඞ්කාවට ගොඩබසිනාලද්දේ ක්‍රි, ව, 1522දී
නොව-1505 දී බැවින් ව 1505 දී රජකලේ ධර්මපරාක්‍රමබාහු නොව
වීරපරාක්‍රම බාහු බැවින් මෙයි-"ධර්මපරාක්‍රමබාහු"යයි කියන කීම පිළි
ගතයුත්තක් නොවනබව සැලකියයුතුයි-රාජාවලි කීපයක ම
ප්‍රවෘත්තිය මේ අන්දමින් තිබුණු බැවින් අපිදු එය අහක් නොකෙළෙමු.
එහි වැරදි කාරණා පමණක් මෙකෙනින් සඳහන් කරමු-

දෙනෙක්වූහ, මේ කුමාරවරයින්ගේ මවුබිසෝ අදහසිනුත් රාජ
සිංහ රජ්ජුරුවනුත් යනමේ මාතාපිතා දෙදෙනා ඉකුත්වූවායින්
පසුව විජයබහු රජ්ජුරුවන්ට කිරවැල්ලෙන් බිසෝනෙනකුත්
ගෙනවුත් ඇතිකිරීමට කිරවැල්ලෙන් කුමාරයකුත් ගෙනවුත්
ඇතිකළාහ.

විජයබාහු රජකරනවිට දෙවනුව නැවක් ප්‍රතිකාල් දෙස
යෙන් එනවිට සෙනාවක් ආයුධ ඇරගෙන සිටියාදැක උන්ගේ
නැව්න් කාලතුවක්කුවකින් වෙඩිතිබූ කල වෙඩිඋණ්ඩය කොස්
අත්තක වැදී බිඳගෙන ගියා දැක ඒ හමුදාව බිඳී ජයවර්ධන නුව
රට අවුදින් විජයබාහු රජහට සැලකළාහ, ප්‍රතිකාල්ලුන්ගෙන්
සතරපස් දෙනකු නුවරට ගෙන්වා තෑගි දී යන්නට ඇරියේය,
විජයබාහු රජකරන අවධියටත් ප්‍රතිකාලෝ කොළොම් තොට
වෙළදාම් කරමින් උන්නයි දතයුතුයි, මේ විජයබාහු රජ
එකාගෙහි හුන් අවධියෙහි[1] දෙදෙනාට දාව උපන් කුමරුන්
දෙනාම අහිමිකොට තමා ඇතිකළ දේවරාජකුමාරයාට රට
දෙන්ට ඕනෑ නිසා සාදුරේ බණ්ඩාරත් එකනායක මුදලිත්
දෙන්නා බස් ගිවිසවා ඒ රාජකුමාරයින්ට සදියට උපාවිකර
යෝජනා කෙළේය.

භුවනෛකබාහුය, මහරයිගම්බණ්ඩාරය, මායාදුන්නේය,[2]
යනමේ රාජකුමාරවරු තුන්දෙනා තමන්ට සදියට උපාවිකරන
බව දැන ගණපතියටවැද සැඟවීගිඳ රාත්‍රියේ කරුණාධිපති වංස
ලින් පිටත්ව බෝරලැස්ස පාරේ මීගමුවට ගොස් යාපා පටුන
කරුණාධිපතියාගේ ගෙදරට ගොස් වැඩිමාලු රජදෙදෙනා
එගම පටබැන්දට භාරකරදී බාලරජ කන්දඋඩරටට ගියේය.
කන්දඋඩරටට කවරෙක් නිසා ගියේද?[3] කිරවැල්ලේ රාළහා
මින්ට ගෙනා බිසෝඅදහසින් වැදූ දරුසත්දෙනා අතුරෙන් උඩු
ගම්පළ සකලකලාවල්ල රජ කුමාරිකාව ගෙනත් සුනප්‍රේම
යෙන් ඇතිකරගෙන සිටිනා අවදියේම උඩරට රජකරන ජය
වීර රජ්ජුරුවන්ට දුන්නෝය. ඒ කුමාරියට අක්කා කියන්ට
යොග්‍ය නිසා කන්දඋඩරටින් උදව් බලා මායාදුන්නෝ රජ්ජුරු
වෝ වැඩිය යි දතයුතුයි, කොසරුන් මැදට යන සවණ්තික
කෙසරෙක් මෙන්[4] සෙන්කඩ ගල නුවරට වැද[5] ජයවීර රජ්ජු

1 එකාගෙහි සහසාලට-ඇතැම්-
2 මේ කුමාරතුන්දෙනා නිනාම්බුදයන්-ඇතැම්.
3 ගියේදැනගතයුතුයි-ඇතැම්-
4 ගිජ්දුන්මැදට නොබායන කේශරසිංහ රාජයකුමෙන්-ඇතම්-
5 ගම්පලයයි මහාවංශයෙන්පෙනේ-

රුවන් දක්කේය, ඒ රජ්ජුරුවන්ට තමාගේ පියරජ්ජුරුවන් කළ කාරණා කියා උඩරටින් බොහෝ උදවියක් ඒ ජයවීර රජ්ජුරුවන්ගෙන් ඉල්වාගෙන කන්දෙන් පහළට පිටත්කරගෙන අවුත් කැලණියේ වාඩිලෑවේය, වැඩිමහලු රජ දෙකට්ටුව ගෙන්නවා සිටිනවිට විජයබාහු රජු යුධයට යන ලෙසට නියම කළවිට කෝට්ටේ සේනාව උඩප්පරන් (අහඞ්කාර) කර අපි රාජකුමාරවරුන් හා යුධ නොකරමු කියා විජයබාහු සන්තාන වෙනබවට පණිවුඩ කාරයින් එවුවේය. ඒ පණිවුඩකාරයෝ රජ තුන්කට්ටුව දක මෙපවත් කීවිට අපට මෙතෙක් අන්තරා යෙදූ කඳුරේ උන්නැහෙත් ඒකනායක මුදලියාත් අප සමීපයට එවූවිට අපි සන්තාණ වෙනවාය කියා රජ තුන්කට්ටුව ගිවිස් සාහ. විජයබාහුරජ්ජුරුවෝ ඒ දෙදෙනා කැලැණියට යැවූවේය. කඳුරේ බණ්ඩාර තළාදමූවාහ. ඒකනායක මුදලි උපායෙන් ගැලවී ගණ පන්තියට වන්නේය. රජ තුන්කට්ටුව රහසින් හමුදාව සදාගෙන කෝට්ටේ නුවරට වන්නාහ, විජයබාහු රජ මාසිතුදේ සිඬවෙහිකියා නැතක් හමුදාව කුඩාවත්තේ සිටුවා මාලිගාවල දොරවල් අගුල් ලවා උන්නේය, විජයබාහු ඇතිකළ දේවරාජ කුමාරයින්ගෙන් මායාදුන්නේ රජ "කිමෙක්ද මේ නුවර කාරණා" ඇසූවිට ඒ දේවරාජ කුමාරයා සත්හැවිරිදි වයස නිසා පියරජ තමා නිසා කරන කාරණ නොදන මේ කුමාරයා මායාදුන්නේ රජ්ජුරුවන්ට කියන්නේ නැතක් හමුදාව උඹලාට හදියට කුඩාවත්තේ හදාගෙන ඉන්නවය" කී විට එපවත් මායාදුන්නේ රජු වැඩිමහලු රජ දෙකට්ටුවට කියාලා රජතුන්දෙන කරුණාධිපති වාසලින් පිටතටඅවුත් දෙදෙනා ඉස්සරකර දොර පිටිඅතින් වසාගෙන පිටකෝට්ටෙයට ගොසින් තමාකැටුව ආ සේනාවටත් නුවර සේනාවටත් මාලිගා බිඳ කොල්ලකන්ට කිය නියෝග කළ ඉක්බිති අන්තඃ පුරයට වැද මාලිගා බිඳ කොල්ලකන්ට වන්නාහ. මාලිගා බිඳ පත්තායම් බිඳ පෙට්ටගම් බිඳ රාජවස්තුව පටපිළි මුතු මැණික් රන්රිදී කොල්ලකාගෙණ නුවර වීදි කොල්ලගන්නා අවධියට අණබෙර ලා අමන්තුකළාහ. (නැවැත්තුවාහ) ඒ කොල්ලයට විජයබාහු කොල්ලය යි නම්විය, ඉක්බිති රාත්‍රිවූ කල විජයබාහු හට හදියට කීපදෙනෙකුන්ට කීනමුත් අජේ රජුට අපරාධ නෙකරමුව කීවිට සලමාන් කියන ආගන්තුකයා ලවා හදිකරවා විජයබා රජ මරාදමූවාහ, විජයබාහු vi රජ පස්විසිහවුරුද්දක් රාජ්‍ය ශ්‍රී වැළඳුවහයි දනගතයුතුයි" පසුවද රාජභවනය සරහා වැඩිමාලු කුමාරයින්ට භුවනෙකබාහු vii නම්තබා සිංහාසන ප්‍රාප්තකර නුවර බෙරලවා සේනාව දක්වාගෙන උන්නේය,

විජයබාහු රජ්ජුරුවන්ගේ ඇවෑස්ස බෑණාවූ වීරසූරයී නම් පිලස්සේ වීදියේ බණ්ඩාර කියන අයත් මනම්පේරි අස්සල ආරච්චිලත් නුවරින් පිටත්ව අලුත්කුරුව මැදින් ගොස් සාපිටිගම් කෝරළය මැද අම්බන පොසොන්තොරුව කියන ගම්වලට ගොස් පෙරළිකර උන්නාහ, මායාදුන්නේ රජ සේනාව ගෙන යුධකරවා පිලස්සේ වීදියේ බණ්ඩාර හා මනම්පේරි ආරච්චිලත් දෙන්නා මරාදමා සාපිටිගම් කෝරලයේ ප්‍රධාන අයගේ ගම් කීපයක් තණකපන පසානායින්ට දුන්නේය, භුවනෙකබාහු වොටුනු පලඳින මඟුලට රජ දෙකට්ටුව වැඩ සිටඉක්බිති එක්රජ කෙනෙක් රයිගමට වැඩ එහි උන්නේය, මායාදුන්නේ රජ ආයයී නම් මන්ත්‍රී අතුළුව සීතාවක නුවරකරවා එහි වැඩඋන්නේය, භුවනෙකබාහු රජ්ජුරුවන්ට උඩරට ගම්පල වරිගෙන් බිසෝකෙනකුත් දේළිගෙතත් කුමාරිකාවකුත් ලැබගෙන මහරජකම් කරන සඳ භුවනෙකබාහු රජුගේ ඇවෑස්ස බෑණාවරු දෙදෙනෙක, ඔවුහු කවරුද යත්? වීදියේ බණ්ඩාරය, තම්මිට බණ්ඩාරය, යන මේ දෙදෙනායි, ඉන් වැඩිමාලු වීදියේ බණ්ඩාරට භුවනෙකබාහු රජ්ජුරුවන්ගේ දේනියන් දී උන්නේය. ඒ කුමාරිකාව වීදියේ බණ්ඩාරටදාව කුමාරයෙක් වැදූවාය. භුවනෙකබාහු රජ ඒ කුමාරයා මුනුබුරුකමට ගෙන ඇතිකෙළේය. මායාදුන්නේ රජ්ජුරුවෝ රයිගම් බණ්ඩාරඑක්ක කථාකරගෙන වැඩිසිටිකම් නොබලා භුවනෙකබාහු රජ්ජුරුවන්ට තිබෙණ රට අවුල්කළාහ. භුවනෙකබාහු රජ හට හවිලන්ට උපායක් නැතිව සකල දඹදිව රජුන් අතුරෙන් ප්‍රතිකාල් රජ සමාන රජෙක් නැතකියා ප්‍රතිකාල් රජ්ජුරුවන්ට බොහෝ පඬුරුත් දී තමා ඇතිකල කුමාරයා හැටියට රන් රුවක් කරවා ඒ කුමාරයා ප්‍රතිකාල් රජ්ජුරුවන්ට භාර කර දුන් සැටියට පත්ලියා වාසල් නෑර සිටිනා සල් අප්පු ආරච්චිල අත ප්‍රතිකාලයට රන්රුව ඇරියේය.[1] ඒ ගිය ආරච්චිල ප්‍රතිකාල් රජු දුන පඬුරු දී තමාගිය කාරිය පිරිමස්වාගෙන බොහෝසේ උදව්ය ගෙන්නවාගත්තේය. ධම්මපරාක්‍රමබාහු රජ විසිඅවුරුද්දක් රජකරන කල ප්‍රතිකාණෝ කොළොන්තොට වෙළඳම් කර උන්නායි දැනගතයුතුයි විජයබාහු රජ පස්විසි අවුරුද්දක්[2] රාජ්‍යය කරනකල් ප්‍රතිකාණෝ කොළොන්තොට උන්නායි දැනගතයුතුයි. දුන් භුවනෙකබාහු රජ දහහත්අවුරුද්දක් රාජ්‍යය කරන අවධියට[3] දේසක්කාරයින්ට

I ඇරියේය-ඇතෑම්-

2 විජයබාහුරජ පසළොස් අවුරුදක්යයි-ඇතම්-

3 භුවනෙක බාහුරජ විසිඅවුරුද්දක්යයි-ඇතම්-

රට පාවාදී ලොව අනඩු කොට ශාසනයටත් අනාදර පමුණුවා ප්‍රතිකාලුන් ගෙන්නවා සීතාවක නුවර කොටන්ට භුවනෙක බාහු ප්‍රතිකාල් සේනාවත් ගෙන ජයවර්ධන නුවරින් පිටත්ව සීතාවකට යන මග බැඳි බලගතු කෝට්ටවලුත් අරවමින් යන විට මායාදුන්නේ රජ මාලිගාව සරසා වියන්බඳවා වට තිර ඇද මාලිගාවේ පහනුත් අවුලා තමාගේ රජකට්ටලයත් සේනාවත් ගෙන බටුගෙදර ගියේය. භුවනෙකබාහු රජ සීතාව කට වැද මාලිගා සරසාතිබුවා දූත තිපදවසක් සීතාවක වැඩ හිඳ ආපසු කෝට්ටෙයට වැඩියේය. මායාදුන්නේ රජ්ජුරුවෝ බටුගෙදර තුන්අවුරුද්දක් නැවතී සීතාවකට වැඩ කොල්ලක් කාමෙන් වඩක්කරුන් ගෙන්නවා කුණ්ඩලී මරක්කලයා ඇතු ලුවූ නිලමක්කාරයින් දෙන්නත් සීතාවකට ගෙන්නවා නැව තත් යුඩයට ආරම්භකෙළේය. රයිගම් බණ්ඩාරත් සීතාවකට ගෙන්නවා මාපිටිගම ඉන්ට සැලැස්වීය, රයිගම් බණ්ඩාර නැවත සීතාවකට යනමඟ කෝට්ට බඳවා යුඩ පූණ්ඩුකර කෝට්ටෙයට අයිති රටවල අවුල් කෙළේය, මයාදුන්නේ රජ්ජුරුවෝත් වඩක්කරුණුත් ගිරඉඹුලට ඉදිරියෙන් අවුත් ගුරුබැවිල් කඩදී යුඩ පූණ්ඩුව ප්‍රතිකාණුන් එක්ක වඩක්කරුන්ට යුඩකරන්ට බැරිව මායාදුන්නේ රජ පරාජයවී සීතාවක ඉඳනොගී දූර ණියගලට අස්ව ගියාහ. භුවනෙකබාහු සීතාවකට වැඩමවා නුවර ගිනිලවා නැවත කෝට්ටේ නුවරට වැඩියේය. මායාදුන් නෝ රජ්ජුරුවෝ කෝට්ටෙයට පණිවුඩකාරයින් එවා සන්තාණ යට කථාකළවිට වඩක්කරුන් දුරුකළොත් සන්තාණවෙනවාය කියා එවූ නිසාත් වඩක්කරුන්ගේ අවගති නිසාත් මූල්ලීන වඩක්කරු දෙදෙනෙක් අල්ලාබැඳ කෝට්ටේ නුවරට එවා සන්තාණ උනේය. මාදම්පේ වැඩසිටි තනියවල්ල රජ්ජුරුවන් ගේ දේණියෝ මුද්‍රදේවි සොළීරජ කෙනෙකුන්ට දුව වැඩූ කුමා රයින් වීදියේඅදහසින් තම්මිට අදහසින් යන දෙදෙනාගෙන් වැඩිමහලු වීදියේ අදහසින්(වීදියේ බණ්ඩාර)මාදම්පෙන් කෝට් ටේට ගෙන්නවා භුවනෙකබාහු රජ දුවණියන් දීලා සිටිකල්හි භුවනෙකබාහු රජුගේ දුවණියෝ ආයාස ගතියකින් ඉකුත්වූ වාය නැවත සන්තාණයට මායාදුන්නේගේ කුඩා ටිකිරි අදහසින් වීදියේ රජ්ජුරුවන්ට දේළියට ගෙනත්දී සන්තාණවිය. රයි ගම්බණ්ඩාර මාපිටිගමඉඳ ඉකුත් වූයේය, බොහෝ අවුරුදු ගණ නක් පසුව ගියකල්හි නැවතත් කෝට්ටෙයට අයිති රටවලට මායාදුන්නේ රජ අවුත් අවුල් කළාහ. භුවනෙකබාහු පෙරකී

පරිද්දෙන් ප්‍රතිකාල් සේනාව හා සිංහල සේනාව ගෙන යුඬයට යනසැටියට ගොස් කැලණියේ වාඩිලා දියපිට මතුමාල්ගෙයි දොරවල් ඇර ගඟ ඉහළ පහළ බලමින් සක්මන් කරනවිට ප්‍රතිකාණෝ වෙඩිල්ලක් තිබූහ, ඒ වෙඩිල්ල භුවනෛකබාහු රජුගේ සිරසෙහි වැදී එවේලෙහිම රජ ඉකුත් වූයේය,[1] ප්‍රතිකාණුන් සමඟ අත්වැල් බැඳ අනුවණ කම් කළ භුවනෛකබාහු රජ තමා ඇතිකළ කුමාරයින් ප්‍රතිකාල් රජහට භාරකරදී අනුවණකම් කළබැවින් ඒ රජුට ප්‍රතිකාණෝ හදි කළහයි මතු සිරිලක උපදනා සතහට අනාදරවල් භුවනෛකබාහු රජවිසින් පැමුණුවයි දතයුතුයි, මතු බුඬශාසනයට අනාදර වල් ඒ රජ නිසා පැමුණුනයි දැනගත යුතුයි. භුවනෛකබාහු රජ ඉකුත්වූ බව අසා මායාදුන්නෝ රජ්ජුරුවෝ යුඬයට ආවිට ප්‍රතිකාල් සේනාව යුඬකර එනගමන් වළක්වා එන්ට නැර තිලලා (රැකවල්ලවා) සිටියාහ. ප්‍රතිකාණෝ ධර්මපාල කුමාරයින් රජකමට තබා ගෝවේට ලියා ඇරියාහ. නැවතත් භුවනෛකබාහු ඉකුත්වූ හෙයින් මායාදුන්නෝ රජ්ජුරුවෝ යුඬයට ආවිට තිලලූසේදීත් ධර්මපාලකුමාරයන් රජකමට ගත්සේදීත් ගෝවේට ලියාඇරිය සඳ බොහෝ උදවිය සහ[2] විසුරේගේ බෑණා දොන් ජුවන් අරික්කු කියන පිදල්ගුවාක්(සපසැසැයේ වංශවත් කෙනෙක්)විල්පොන්සි අපොන්සු පෙරේර කියන පාදිරියාත් ගෝවෙන් අවුත් කොළොන් තොටට ගොඩබැස කෝට්ටේනුවරට අවුත් ධර්මපාලරජ දක්‍ෂකාථාකරගෙන ක්‍රිස්තුගේ සමය ධර්මපාල රජුට දී දොන් ජුවන් ප්‍රොපන්දර කියන කුලවන්නම (ක්‍රිස්තියානියට ඇතුළත්වීමේදී ලබනනම) කියවාගෙන එරජ කුලවදිනවිට කෝට්ටේ නුවර නැතක් ප්‍රධානිවරුත් කුලවැදුනාහ. ප්‍රතිකාල් විසුරේ හා කෝට්ටේනුවර සේනාව කථාකරගෙන කොට්ටේ නුවරින් පිටත්ව සීතාවකට නික්මුණාහ.

මායාදුන්නේ රජු දූරණියගල සිට සීතාවකට වැඩමවා නුවර එළිකර වැඩහිඳිනා සඳ කෝට්ටේ සේනාව හා ප්‍රතිකාල් විසුරේත් ධර්මපාල රජ්ජුරුවනුත් යුඬයට පිටත්ව ගොස් සීතාවක නුවරට වදිනවිට මායාදුන්නේ රජ සීතාවකින් පිටත්ව දූරණියගලට අස්වුනෝය. විසුරේ සීතාවක තිලලා කොටා කීපදවසක් ධර්

1 ඒ හදිය සමහරු දැනකළහයි කියති- සමහරු නොදැනකල වාරද්දය කියති. දෙකම දෙවි යෝ විනා නොදනිත්- යනමේ වගයනතිඇතැම් පොතක පෙනේ

2 බොහෝසේ උදවිය සහ -ඇතැම්-

පාල රජ්ජුරුවන් එක්ක සීතාවක සිටලා දෙවනු නුවර ගිනිලා කෝට්ටේ නුවරට ආපසු ආයේය. එදා පටන් කෝට්ටේනුවර ප්‍රධානිවරු ප්‍රතිකාණ්ඩුන්ගේ සැපසම්පත් බලාද චෙතත් නොයෙක් ගීත ජාතීහු අඩුකුල නොබලා උන්හා හිර ගණුදෙනු කර කුලවැදීගෙන උන්නාහ. විසුරේ කීපදවසක් කෝට්ටේ නුවර සිටලා රාජවස්තුවකුත් අත්කර ගෙන ගෝවේට යනවිට තමාගේ බෑණාට තිලයක් දී උදච්චට දියගුදමෙල් කප්පිත්තන් සිටුවා ගෝවේට ගියේය. කෝට්ටේ නුවර උන් සඹසයා සීතාවකට හා කන්දඋඩ රටට ගියාහ[1] නොබෝදවසක් පසුව ගියකල විසුරේගේ බෑණා වායු ව්‍යසනයකින් මියන විට දියගුදමෙල්ට තිලය දී විදියේ බණ්ඩාර හිරකරන්ට ලියා තැබීය. එරජ හිර කරන්ට ලියා තැබුවේ කුමක් නිසාද කිවහොත් මායාදුන්නේ රජ්ජුරුවන්ගේ දුවණියන් විදියේ රජුට දී සිටිනවාවය යි දැන ගතයුතුයි.

දියගුදමෙල් තිලයට පැමිණ විදියේ රජ අල්වා ගෙන ගොස් කොළොම්තොට සිරකෙළේය. බාලහම්මිට සුලයීබණ්ඩාර අල්වා ගෝවේට ඇරියේය. භුවනෙකබාහු කල අනුවණකම් අත්පිට පල දුන්නේය. එරජුට වෙඩිතිබා මරාපුව, ඔහු ඇතිකල කුමාරයාට කුලවද්දා සමයම දීපුව, දූන් මේ විදියේ රජ්ජුරුවන් අල්වා හිරකරපුව එරජුගේ මළයා අල්වා ගෝවේට ඇරපුව, කුල අඹු දරුවන් කුඩියට(දාසකමට)ගෙන උතුම් කරවාපුව, සිරිලක මතු බෝවාකාලයක් ශාසනයට අනාදර භුවනෙකබාහු නිසා පැමුණුනාය යි දැනගතයුතුයි.

විදියේ රජුකෙරෙහි වැස උන් බිසෝඅදහසින්ගේ (බිස වුන්නාන්සේගේ) උපායෙන් පල්ලරුන්[2] ලවා හිරගෙය උමං කනවා විදියේ රජ ඇරගෙන කොළොන්තොටින් රාත්‍රියේ රයිගම්කෝරලයට ගොස් අච්චාගම[3] උන්නාය. කොට්ටේ සේනාවත් ප්‍රතිකාල් සේනාවත් කෝට්ටෙන් පිටත්ව යුඩයට යන විට විදියේ රජ අච්චාගම ඉඳනොගී කළුගඟින් එගොඩ ගොස් පස්යොදුන් කෝරළය මැද උන්නේය. පස්යොදුන් කෝරළය පැලැඳ නුවර කරවා කෝට්ට බඳවා "තුටටරායතණ්ඩ අඹගංවීර"

1 භුවනෙකබාහුටත් දොන් ජුවන් ධම්පාලටත් අතර මහනුවර වීරවික්‍රම නම් රජෙක් තිස්අවුරුද්දක් පමණ කාලයක් රජකළබව ලංකා කථාදියෙන් පෙනේ, කන්දඋඩට-ඇතැම්-

2 පල්හොරුන්-ඇතම්-

3 අටුළුගම-ඇතැම්

යහි, විරිදු (සතුතිවාචකනාම) නමුත් කියා සතරදිසාවට විරිදුත් කියා වීදියේ රජු පැලැඳ ඉඳගෙන කෝට්ටේ නුවරටත් සීතාවකටත් විරෝධව උන්නේය. මායාදුන්නේ රජ්ජුරුවන්ගේ දුවණියන්වූ එබිසෝ අදහසින් ආත්තු පත්තු (සාත්තු) නැතිව වැදූ කුමාරිකාව වීදියේ රජු පලමුලත් පුත්‍රයාට සරණපාවාදින. ඒ පුත්‍රයාණම් විජයපාල ආස්ථාන ධර්මපාල රජු බව දැනගත යුතුයි. උඩරට ජයවීර රජ මායාදුන්නේ රජ්ජුරුවන්ට අයිති සතරකෝරළයට අවුල් කරන්ට වන්කල්හි නේරුක්කංගල පාරෙන් සේනාව සමගින් ආයතිතම් මන්ත්‍රියා ඇරිය තැනේදී ජයවීර රජ පතම් සාරලක්‍ෂයකුත් ඇතුත් දෙදෙනකුත් දී සන්තාණව උන්නේය සකල කලාවල්ල රජ ඇතිකළ කිරවැල්ලේ බිසෝඅදහසින් ජයවීර රජහටදුව වැදූ දරු දෙදෙනාගෙන් කුමාරයා කරල්ලියැද්දේ කුමාර බණ්ඩාර කියා උන්නේය. කුමාරිකාව භුවනෙකබාහුරජු උන් අවධියේ ධර්මපාල රජුට මගුල් කර ගෙනාවාය. ඒ බිසවගේ මවුබිසෝ අදහසින් ඉකුත්වූවාය පසුව ජයවීර රජුට ගම්පළ රජවරිගෙන් නෑකම් වරද්දා බිසෝකෙනකුන් ගෙනවුත් කරල්ලියැද්දේ බණ්ඩාර අහිත්වී [1] දුම්බර පන්සිය පත්තුවට වැද පස්රටේ ප්‍රධානීවරුන් ලබාගෙන ජයවීර රජ කන්දඋඩ රට ඉන්ටනොදී එලෙව්වේය. ජයවීර රජුට වදිනාඅත්නැතිව සීතාවකට අවුත් ඓරාවණා ඇතුළුවූ ඇතුන් කීපදෙනෙකුන් ගෙන තමා සිරස බැඳි වොටුන් තත් මායාදුන්නේ රජ්ජුරුවන්ගේ ශ්‍රී පාදමූලතබා නමස්කාර කර සිටිවිට මායාදුන්නේ රජ්ජුරුවෝ ජයවීර රජුට බොහෝ ගම්බිම් දී සිටුවා ගත්තාහ. මායාදුන්නේ රජ්ජුරුවන්ගේ දුවණියන්ට වීදියේරජ කරන ගැහැට කීපවරක් කියා එවා ඊට කාරුණාවක් කියා ඇරියේනැත මායාදුන්නේ කුමාරවරුන් සතරදෙනාගෙන්ම රජ්ජු බණ්ඩාර විසිවයසේදී ඉකුත්වූයේය. තිඹිරිපල අදහසින් හා වීදියේ රජ්ජුරුවන් ලඟ උන් බිසෝඅදහසින් හා මේ තුන්දෙනාට බාලවූ ශ්‍රී ලඞ්කාව එකසත්කළ රාජසිංහයාණෝ එකලට් එකොළොස් වයස පිරී කිරිමවුන්ගෙන් වෙන්නොවී ටිකිරිබණ්ඩාර යන නමින් ප්‍රසිද්ධව උන්නේය. මායාදුන්නේ රජ ටිකිරි රජ්ජුරුවන්ට හා තිඹිරිපල අදහසින් හා වික්‍රමසිංහ මුදලින්ටත් පැළැඳට යුද්ධයට යන්ට අවසර දෙවීය. පස්යොදුන් කෝරලේ දියවලකඩදී යුද්ධකොට සමර

1 කරල්ලියැද්දේ බණ්ඩාරපුත් අහිත්වී ඒ කුමාරයා දුම්බර පන්සිය පත්තුවට වැද -ඇතැම්

කෝන් මුදලියාගේ තරමත් (හිසත්) ගෙන වෙනවෙන බොහෝ
තරමුත් ගෙන සීතාවකට අවුදින් මායාදුන්නේ රජ්ජුරුවන්ට
දී සිට නැවතත් මහාසේනාව පිරිවරා රජ දෙකට්ටුව හා වීක්‍රම
සිංහ මුදලිත් මායාදුන්නේ රජුගේ ශ්‍රී පාද වැඳ රජ දෙකට්ටුව
සීතාවකින් පිටත්ව අතරමග තොරඳ කළුගඟින් එගොඩව
ඒ ඒ තැන්වල බැඳි කෝට්ට අරවමින් පැලෑඳනුවරට වදිනවිට
මේ රජ කුමාරයින්ගේ නැගණියන් හා යෙහෙළියන් සිටියදී
තමාගේ රජකට්ටලයත් (රජපවුලෙඅය) වීදියේ රජ විජයපාල
ආස්ථාන (පුත්‍රයන්) ගලවා ගෙන රන්පොත [1] පාරෙන් වලඹය
ඉස්තිබා ගියේය. මේ රජ දෙකට්ටුව නැගැණියන් හා යෙහෙ
ළියන් සීතාවකට පිටත්කර එවා වීදියේ රජු පාරේ එලවාගෙන
යනවිට වීදියේ රජ අතරමග තොරඹ ඉදල්ගස් හින්නේ කඩ
වතින් කන්ද උඩරටට ගියේය. මේ රජ දෙකට්ටුව මාතොටට
අවුදින් දෙව්නුවර සිටිනවිට ආයිරජවරු දෙකට්ටුව විකිරි රජ්
ජුරුවන්ගේ ගති බලා මේ රාජ කුමාරයා රජවරුන් කන්ඩ සිං
හයායයි කීහ. [2] මාතොට දිශාවට විධානවරු සිටුවා සීතාවකට
රජදෙකට්ටුව අවුදින් පියරජාණන් දැක්කාහ. එවිට වීදියේ
රජ කන්දඋඩ ගොසින් කන්දඋඩ රජ්ජුරුවන් දැක කථාකර
ගෙන කන්ද උඩින් උදව්යගෙන දෙවනගලපාරෙන් අවුත්
අලුත්නුවරට වාඩිලූයේය. වීදියේ රජු සැරසී වඩිනාබව අසා
සතරකෝරළයේ නොයෙකුත් අය විකිරිබණ්ඩාර රජ්ජුරුවන්
දැකලා නොයෙකුත් මාන්නදුන්නාහ. වීදියේරජ තමාගේ සේ
නාවට නොකියා රාත්‍රියේ එක් මිනිසකුගේ කරට නැගී කන්ද
උඩරටට ගියේය. විකිරිබණ්ඩාර අලුත්නුවරට වන්කල අලුත්
නුවර උන් සතුරෝ කිඳී ඉස් ලූ ලූ අත දුවනකල කොටුම් කෑ අය
ගණන් නැත ඒ ඒ තැන වැටුණු අය ගණන් නැත මේ ඇර වීදි
යේ රජ එක්ව ගිය හැටඇදුත්තක් අල්වා අත්වල ගලතාපියා
මහරජ සමීපයට එව්යේය. එදා ලඞකාවේ සේනාව රාජසිංහ
නම් තිබුහ. එදාසිට රාජසිංහ නම්විය.

i රාජසිංහ රජ සතරකෝරළේට විධානවරු සිටුවා සීතාව
කට වැඩමවා පියමහරජ්ජුරුවන් දැක්කේය. නැවත වීදියේරජ
කන්දඋඩ රට රජ්ජුරුවන් සමග කථාකරගෙන සතරකෝරළ
යට බැස ඇල්පිටිකන්දෙන් අවුත් ගල්බඩකෝරළය වාඩිලා

1 රන්පෙත්ත-රතපෙත්ත- රතපොත්ත-ඇතැම්-

2 රජ්ජුරුවන්ඩ සිංහයා-රජවරුන්ඩ සිංහයා-ඇතම්-

ගත්තේය. රාජසිංහ රජ එපවත්අසා මහාසේනාව පිරිවරා
කටුගහවල වාඩිලාගත්තේය. වික්‍රමසිංහ මුදලි නාරියගම වාඩි
ලාගත්තේය. වීදියේ රජ දෙවනගලපාරෙන් ගොල්ලක් එක්ව
අච්චාපිටිතොටේදී යුඬකරවා බොහෝ හමුදාවක් බිඳී වීදියේ
රජ ආපසු ඇල්පිටිය පාරෙන් කන්ද උඩරටට ගියේය රාජසිංහ
රජ සතර කෝරළයේ කීපදවසක් වැඩසිට සතරකෝරළේ සේ
නාව කඩවත්වල සිටුවා නැවත සීතාවකට වැඩමවා පියමහ
රජාණන් දුක්කේය. මායාදුන්නේ රජ්ජුරුවෝ තමාගේ ශ්‍රී
රාජසිංහ කුමාරයින්ට තමාගේම ආඥාපණතට පවතිනා හැටියට
පවතින්ට මහාසේනාවටත් රටවැසි ජනයන්ටත් අවසර දුන්
නේය. එසේ අවසර ලබාගෙන රාජසිංහ කුමාරයා පියමහ
රජාණන් දුක සිත්ලෙස විසුවේය. මායාදුන්නේ රජ උඩරට
රජහට පතක් ලියා ඇරියේය. වීදියේ රජ කන්දඋඩ
ඉන්ටතොටදී එලවන්ටත් නොඑලෙව්වොත් ශ්‍රී රාජසිංහ යුඬයට
උඩරටට එති යන බවටත් පත්ලියා ඇරියේය, ඒ පත උඩරට
රජ බලාගෙන වීදියේ රජ උඩරට හරියේ ඉන්ටතොටදී පිටත්
කෙළේය, එවේලාවට සීතාවක විරෝධ පවත්නා නිසා වීදියේ
රජහට වදිනා අත්නැතිව සත්කෝරළය ආධාරකරගෙන අවු
දින් එකලට සත්කෝරළේ දේවමැද්දේ මුණ්ඩකොණ්ඩපොළ
නුවර කරවාගෙන [1] රජකම් කරන ඉරුගල් පස්සෙන් එදිරි
මාන්න සූර්‍ය රජ්ජුරුවන් දුක්කේය, වීදියේ රජුට බෝගොඩ
යන ගම ඉන්ට සළස්වා සිටුවාගත්තේය. [2] වීදියේ රජු තමාගේ
සේනාව දේවමැද්දේ රජුගේ සේනාව සමඟ කලහ කරන්ට
කියා දෙගොල්ල උනුන්කලහ කරනකල්හි එදිරිමාන්න සූරිය
රජ්ජුරුවෝ එළියට වැඩමවා අවුදින් කලහ සමන්වනවිට වේලා
යුඬ ආච්චියාලවා දේවමැද්දේ රජ්ජුරුවන්ට හදිකර මැරෙව්
වේය, වීදියේ රජ දේවමැද්දේ එදිරිමාන්න සූරිය රජ්ජුරුවන්
මරවා සත්කෝරළේ අත් පත් කරගෙන කොළඹටත් කෝට්ටේ
ටත් බස්පත් එව්විට් තමාට පුත්වූ ධම්පාල රජ්ජුරුවෝ ප්‍රති
කාණුන් හා කෝට්ටේ සේනාවත් උදව්යට ගෙන මීගමුපාරෙන්
සත්කෝරළයට ගොස් වීදියේ රජ්ජුරුවන් හා එක්ව කථා
කොට සත්කෝරළෙන් පිටත්ව අවුත් පුවක්ඇල්ලේ තොට

---

1. මෙකල එකී ප්‍රදේශයට සත්කෝරළයට අයත් කුරුනෑගල දිස්ත්‍රික්ක යේ යගම්පත්තු කෝරළේ කටුගම්පළහත්පත්තුවේ **මණ්ඩකොණ්ඩාණ** යන නමින් ව්‍යවහාර කෙරේ.
2. එකී ගම මෙකලත් බෝගොඩ යන නමින් ප්‍රසිඬය.

වාඩිලාගත්හ, මායාදුන්නේ රජ්ජුරුවෝ තිඹිරිපළ අඳහසින් බත් වික්‍රමසිංහ මුදලියන්ඩත් යුඬයට අවසරදෙවා ඇරියේය, තිඹිරිපළ අදහසින් මැණික්කඩවර වැඩඉඳුවා වික්‍රමසිංහ මුදලි ඉස්සරට ගොස් පුවක්ඇල්ලේ තොටේදී යුඬකර ඔබින් මොබින් බොහෝ හමුදාව වැටී ප්‍රතිකාණුන් කීපදෙනෙක් වැටී සමහරු තුවාලඩී පස්සට වාංගුව කෝට්ටේ සේනාවත් ප්‍රතිකාණෝත් කොළඹ කෝට්ටේට ආවාහ, වීදියේ රජ දේව මැද්දට ගියේය; සීතාවක සේනාව හා වික්‍රමසිංහමුදලි හා මහරජ්ජුරු බණ්ඩාර සීතාවකට අවුදින් මායාදුන්නේ රජ්ජුරුවන් හා රාජසිංහයාණන් දැක්කාහ, සීතාවක වෙඩික්කාරයෝ එමහේවාකමින් ඇතකු ලද්දාහ, නැවත නොබෝ දිනකින් වීදියේ රජ සත්කෝරළයට අවුල්කෙළේය,මායාදුන්නේ රජ්ජුරුවෝ සත්කෝරළය කොටා ජයගන්ට රාජසිංහ බණ්ඩාරට අවසර දුන්නේය,පියරජ්ජු ගෙන් අවසර ලැබගෙන සත්කෝරළයේ මුණ්ඩකොණ්ඩපළනුවර ට වැද යුඬකරනවිට වීදියේ රජ පුත්තලමට ඉස්තිබා බිඳී ගියේය, රාජසිංහ ඔහුපාරේ එලවාගෙන ගොස් තම්මැන්නාඅඩ වියට යනවිට වීදියේ රජ්ජුරුවන් කැටුව ගිය වුන්ගෙන් බො හෝ ගොල්ලකුත් ගිරාඉඹුලේ පලිස්වඩන පෙරුමාල් ආරච්චි ලත් වෙන්වෙලා අවුදින් රාජසිංහ රජ්ජුරුවන් දැක්කාහ, රාජ සිංහ රජ්ජු ආපසු සත්කෝරළයට අවුත් සත්කෝරළේ පඬත් තලවරු දක්වාගෙන නැවත සේනාවත් දක්වාගෙන එදිරිමාන් නසූරිය රජ්ජුට ගදිකළ වේ_ායුඬ ආරච්චියා අල්වාගෙනවුත් උල හිඳුවා සත්කෝරළේට විධානත් සමත්වා (පත්කරවා) කීප දව සක් වැඩසිට සීතාවකට අවුත් පියමහරජ්ජුරුවන් දැක්කේය.

වීදියේ රජ සහ විජයපාලආස්ථාන දෙකට්ටුවත් සිල්වාරම් (සවලප) ගොල්ලකුත් යාපාපටුනට ගොස් තාරාකුලම යනතැන ඉඳිනා පුසථාවට යාපාපටුන දෙමළෙලා් එක්ව මේ රජ මෙතන ඉන්ට නොදී එලවමුකියා වටකරගත්තාහ, දෙමළසේනාව වට කරගෙන කොටනවිට රඹෙපිටියේ විජයකෝන් මුදලියාගේ පුත් නයිදේ වීදියේ රජ පස්සටකරගෙන කොටමින් දෙමළුන් හැමටම කොටාගෙන වීදියේ රජ්ජුගේ පාමුලවැටුණේය, ඔහු වැටුණුවිට වීදියේරජ්ජු හා විජයපාල ආස්ථානට දෙමළෙලා් කොටා මරා නැතක් රාජවස්තුව කොල්ලකා ගත්තාහ, පැලෑඳ සිට වෙන් වෙලා කොළඹට ගිය මනම්පේරි ආරච්චිල මුදලිකමුත් ලැබගෙන කෝට්ටේ සේනාවත් ප්‍රතිකාණුන්ගෙන් ගොල්ලකුත් ගෙන

මාතොට දිශාවට ගොසින් සමන්වාගෙන මාතොට දිශාවෙන් කෝට්ටයට අයබදු එලවා බලගතු කෝට්ටවලුත් බැඳගෙන උන්නේය, මායාදුන්නේ රජ වික්‍රමසිංහ මුදලින්ටත් මහාසේනාවටත් යුඬයට යනලෙසට අවසරදෙවා ඇරියේය. වික්‍රමසිංහ මුදලි දෙණේපිටියේ වාඩිලාගත්තේය. මනම්පේරි මුදලිත් කෝට්ටේ සේනාව හා ප්‍රතිකාණෝත් දෙණේපිටියදී යුඬකර ඔබින් මොබින් හමුදාව වැටී දෙගොල්ලම පස්සට උනාහ, මනම්පේරි මුදලියා මාතරදිසාවට ගියේය, වික්‍රමසිංහ මුදලි දෙණේපිටියේ වාඩිලාගත්තේය, ඒකනායක මුදලියාත් කළුතොට අමරකෝන් ආරච්චිලත් දෙණේපිටියට ගොසින් උදව්ව මනම්පේරි මුදලියා පාරේ එලවාගෙනගොස් මනම්පේරි මුදලියාගේ තරමත් ගෙන තොටගමුවේ තෙන්නකෝන් මුදලියාගේ මල් දිසානායක ආරච්චියත් ජුවන් ෆ්‍රේරා කියන ප්‍රතිකාල් මලවරත් ප්‍රතිකාණු බොහෝ හමුදාවකුත් අල්වා මරාදමා ඒකනායක මුදලින්ට මාතොට දිසාව භාරකරදී සිටුවා වික්‍රමසිංහ මුදලියා සීතාවකට අවුත් මායාදුන්නේ රජ්ජුරුවන් දැක්කේය. මායාදුන්නේ රජ තිස්අවුරුද්දක් රජකම්කොට[1] ඉකුත්වූයේය, මායාදුන්නේ රජ ඉකුත්වූ බව අසා ධර්මපාල රජ කෝට්ටේ සේනාව හා ප්‍රතිකාල් සේනාව කැටුව පිටත්ව අවුත් මාඒදණ්ඩ කියන තැන වාඩිලාගත්තේය, පසුවදා වේරගොඩ යනගම වාඩිලූයේය, මාඒදණ්ඩට ප්‍රතිකාණෝ ආ සැටියේම සීතාවකට යුඬයට එනබව රාජසිංහ රජ්ජුරුවන්ට සැලකළවිට මහාසේනාව පිරිවරාගෙන රාජසිංහ රජ්ජුරුවෝ හේවාගම වාඩිලා සිට වික්‍රමසිංහ මුදලියා පෙරමුණේට ගොස් මුල්ලෙරියාව යනගමදී ප්‍රතිකාණුන් දැකලා යුඬපුණ්ඩුවී වික්‍රමසිංහ මුදලිගෙන් දහස්ගණනක් සේනාව වැටී වික්‍රමසිංහ මුදලි තුවාලව බිදී හේවාගමට ගියේය. ප්‍රතිකාණෝ කොටා ජයගෙන මුල්ලෙරියාවේ වාඩිලූවාහ. වික්‍රමසිංහ මුදලි බිදීගියසැටි රාජසිංහ රජු දැකලා වම දකුණ පලිසක්කාරයින් (පලිස්දරා යුඬකරන්නන්) හා ඇතුන් දී අතුරුගිරි කෝරළය, හේවාගම්කෝරළය, කොරතොට ආරච්චිවරුන් ලඟට කැඳවා හෝකන්දර හේවායින් ගෙන්වා ඉලංගම්වල(නැටුම් සරඹ ආදිය පුරුදුකරනතැන්වල) පලිසක්කාරයින් දහකුත් දී පස්ස පොරොත්තුවට පැන කොටණ්ඩ ඇරලා රාජසිංහ රජ පෙරමුණ ඉස්සර පාරෙන් ගොස් මුල්ලෙරියා වෙළමැද සිටිනා

1 හැත්තෑ අවුරුද්දක් රජකලබව-ඇතම්.

ප්‍රතිකාල් සේනාව සමග යුඩයට පැන්නේය. පස්සපොරොක්
තුවේගිය (පසුභාගෙන් ගිය) කමුදාවත් අවුත් පැනලා යුඩකරන
විට ජයසුන්‍දරබාගෙන් විරිදු දස්සයා කියන ඇතා කොඞියක්
ගතිය, විජයසුන්‍දරබාගෙ ඓරාවණයා පලිසකුත් දම්වැලකුත්
ගතිය, රාජසිංහ රජ්ජු අසුපිට නැගී මහාසේනාව පස්සට වෙන්ට
නැර ප්‍රතිකාණ්ණුන්ගේ මැදට වැදලා පලිසක් කාරයෝත් ඇත්
අස් සෙනගත් එකට කල බැගෑතිව ප්‍රතිකාණ්ණුන්ගේ තුවක්කු
වලට වෙඩිබෙහෙත් දමන්ට ඉඩනැර කොටනකල පලිසක්කාර
යෝත් ප්‍රතිකාණෝත් ඇතුන්ගේ වල්ගා වල එල්ලී කොටුවාහ,
ප්‍රතිකාණෝ තුවක්කුවලින් ගසා පලිසක්කාරයන් මැරූවාහ,
රාජසිංහ රජ්ජු අසුපිට නැගී විහිදුවා සේනාව වටකර දුවමින් රණ
යුදගිනිකෙළිකෙළ කොටනවිට දුරුතු [1] ශිශිර සෘතුවෙහි මිහිදුම්
මෙන් වෙඩිදුම් පටලාගෙන සිටිනසඳ මුල්ලෙරියාවේ වෙළමැද
ලේ වතුරුකොට ප්‍රතිකාල් සේනාවට අඩියක් පස්සට යන්ට
නැර කොටා එක්දස් සසියක් ප්‍රතිකාල් සේනාව හා කෝට්
ටෙෆ් කීපදෙනකුත් පඩත්තලවරුත් කොටා වැටූනාහ, රාජ
සිංහ රජ්ජු රණකෙළිකෙළ [2] ජයගෙන කොරතොට හේවාගම
ආරච්චිවරුන්හා හෝකන්දර හේවායින් ලඟට ගෙන්වා පස්ස
පොරොත්තුවට පැනලා කොටුවාට නාන්න මාන්න දී හේවාකම්
කර ජයගත්තිසා හේවාගම් කෝරළය යි නම්තබා වදාළේය.
එදාපටන් හේවාගම් කෝරළය යන නම පැවතඑනවයි දැනගත
යුතුයි, පස්සට වාංගුව ගෙන සිට කඩුදෙවොලත් රග්ගහවත්
තේත් අමුණුගිල්ම බඳවා කාලතුවක්කුත් කොටුදෙකට හදවා
ගෙන පහලගම්වල හිර ගීතාවකට පිටත්කර ඇරලා ඒ ගම්
පාළුකර ගීතාවකට වැඩියේය. ධර්මපාල රජ හා ප්‍රතිකාල් කප්
පිත්තාවරූ ගෝවේට ලියා ඇර බොහෝ උදව්ය ගෙන්වා පඩව්
දෙකක් එකට ඈඳගෙන පොල්කානු කපාපිහිටුවා වටකර
සරක්කු (කොටුපෙතෘ) තනාගෙන තුන්මාසයක් මෝදර සිට
දෙගොඩින් හමුදාව හදාගෙන තුම්මාසයකින් රග්ගහවත්තට
පඩව් ලංකලාහ. රාජසිංහ රජ රග්ගහවත්තට වැඩ කාල
තුවක්කු දෙකක් අද්දවාගෙන ඉවුර කපා පාතබස්වා කාල
තුවක්කු හදාගෙන හිඳ කාත්තලකියන පඩව්ව ලංවුනුවිට වෙඩිලි
දෙකක් පත්තුකලාම පඩව්වට වැදී කලාසිකාරයින් (ඔරුකාර
යින්) කීපදෙනෙකුටත් වැදී පඩව්ව දියකාවැද ගඟපහලට කර

---

1 දුරුතුපුර -ඇතම්-
2 රණකෙළියක් යුදකරවා ජයගෙන -නැතම්-

ගත්හ, මහාසේනාවට කොටන්ට නියමකළවිට වික්‍රමසිංහ සීතා කෝරලේ ගොඩින්අවුත් නාකොළගංතොටට එලවා [1] සීතාකෝරලේ ගොසින් ආ හමුදාව එකෙකුත් නැතිව කොටා අල්වාගෙන ප්‍රතිකාල් කෙනකුගේ කරපිටින් අවුත් රාජසිංහරජු දැක්කේය. පඩව්වේ තිබුණු අඩුබඩු තුවක්කු ලංස රණ්ගහවත්තේ ගොඩ කළාහ, ප්‍රතිකාණුන්ගෙන් හේවාගම් කෝරලේ ගොසින් ආ අය ගැලවී කොළඹට ගියහ, රාජසිංහ රජ කොළඹ කෝට්ටේට අයිති රටවල් අඩස්සිකරගෙන වෙළඳාමට යනෙන මිනිසෙකුට යන්ට නොදී අඩකෝට්ටකර (වලක්වා) ගෙණ සිටිනකලට ධර්මපාල රජ රාත්‍රියේ කොළඹට ගියේය. එදාපටන් ප්‍රතිකාණෝ ධර්මපාල රජ හා කොළොම්තොට විසුවාහ. ඒ අතර රාජසිංහ රජ කන්දඋඩ රට කොටන්ඩ 'බලනේ වාඩිලා උන්සඳ උඩරට රජ ඉස්සරහට අවුත් බලනේදී යුඬකර පැරදී සෙන්කඩගලට ගියේය. රාජසිංහරජ මහාසේනාව පිරිවරාගෙන සෙන්කඩ ගලට වදිනවිට උඩරට රජ බිඳී දුම්බර පන්සිය පත්තුවට ගියේය. ඔහුපාරේ ලුහුබඳවාගෙන යනවිට දුවමින් අතර්මඟ ගෙවාගෙන යාපාපටුනට ඉස තිබාගෙන ගොස් වනමැද උන්නේය. එරජුගේ කුමාරයාත් බැණාත් දෝණි කුමාරිකාවත් තමාගේ බිසෝඅදහසින් හා පිරිවර හා යාපාපටුන කිට්ටුව කටුපත එලිකරගෙන උන්හ. කුමාරයෝදෙන්න කන්දඋඩ රට අල්වන්ට වන්නිපත්තුවට ගොස් මළාහ. උඩරට රජ යාපාපටුන හිඳිනා අවධියට කුරුවූ රජ කියන දෙමළ රජ අල්වන්ට ආවිට හුරුවන නැකම් ඇතිහෙයින් කටුපත වැඩ හිඳගෙන ධර්මපාල රජහට එපවත් ලියාඑව්විට ධර්මපාල රජු එපවත් බලා ප්‍රතිකාණුන් හා කෝට්ටේ සේනාව කොළඹින් නැව් නැගී මන්නාරමින් ගොඩබැස යාපා පටුනට ගොස් ඒ දෙමළ රජු කොටා එරජ හා පිරිස හා බිසව හා කුමාරිකාවත් කැඳවා ගෙන මන්නාරමට අවුත් මන්නාරම ඉන්ට සලස්වා දුන්නේය. නොබෝදවසක් ගියකල කඳඋඩ රටින් වැඩිය රජු හා බිසව මළාහ. කුමාරිකාව මන්නාරම තමාගේ පිරිවර හා කැටුව උන්හ. රාජසිංහ රජ කන්ද උඩරට එකසත් කරගෙන අයබදු සීතාවකට ගෙන්නවාගෙන වැඩවසනකල්හි පේරාදෙණියේ රාජාවලියෙන් පැවතඑන වීරසුන්දර බණ්ඩාර කඳඋඩරට පෙරලිකරනවිට රාජසිංහ රජ වීරසුන්දර බණ්ඩාරට වළගම වට්ටාරම දෙනවාය කියා දිවුරුම් දී උපායෙන් ගෙන් වනු සඳහා වික්‍රමසිංහ මුදලින් හා සෙනෙවිරත්න මුදලින් හා

1 මෙකල නාකුළුගං තොටයයි ව්‍යවහාරකෙරේ-

දෙදෙනා යවා කැඳවාගෙන අවුත් ගොලෑබොක්කෝ විදියේ වළකපා කොල අතුරුවා වසාතිබා වීරසුන්දර බණ්ඩාර මැදිකර ගෙන මුදලිදෙදෙනා දෑලෙන් අවුත් වළ දෙකොණින් යනවිට වීරසුන්දර බණ්ඩාර බොරුවළේ වැටී උල් ඇනී මළේය. වළගම වට්ටාරම දෙනවාය කීවේ වළකපා වැටෙන්ට සලස්වා දීමටය[1] යි දැනගතයුතුයි.

වීරසුන්දර බණ්ඩාර මළබව කන්ද උඩ රටට සැලව වීර සුන්දර බණ්ඩාරගේ පුත් කොනප්පු බණ්ඩාරත් සල්අප්පු කියන අයත් වෙන්වෙලා කොළඹට අවුත් ධර්මපාල රජු දැක බොහෝ මාන්න ලැබ තම්මිට රාලගේ දෝණියන් කසාද බැඳලා කුල වැදී කොළඹ උන්නාහ. රාජසිංහ රජ කන්දඋඩ පස්රට හා ඌව පානම වෙල්ලස්සද දහඅට වන්නියද එකසත්කරගෙන රජ කරණසඳ ප්‍රතිකාලෝ කොළෝතොට ධර්මපාල රජ්ජුරුවන් එක්ක උන්හ. රාජසිංහ රජ වෙළඳාමක්ගෙනෙණ මිනිසෙකුට කොළඹට යන්ට නැර සිටියේය. ප්‍රතිකාලෝ කොළොම් තොටින් පඩවිගෙන මුහුද කිට්ටු ගම්වලින් හිරඇල්ලීමද එදින් එදාට ඒ ඒ තැන්වලදී යුධකර දෙපැත්තෙන් වැටුණු අයද ලියන්ට පත්ඉරු පන්දහසක් ඇතත් සමාප්ත නොවේමැයි දැන ගතයුතුයි. ඉන්පසු රාජසිංහ රජ මහසේනාවට පණිදී කොළඹ ප්‍රතිකාලුන් එලවන සැටියට තොත්තන් දේවාලයේ පලිහක් කාරයින් හා වම දකුණ මහාසේනාව හා ඇත් සෙනග හා මෙකී මහසෙනග පිරිවරා වික්‍රමසිංහ මුදලින් පෙරමුණ කරවාගෙන සීතාවකින් පිටත්ව වෙරළුවේ තොටින් මෙගොඩ වාඩිලාඉඳ වික්‍රමසිංහ මුදලි බොරළු ගොඩ පහළ සරක්කු දමා වාඩිලූවේය. බොරළුගොඩ කීන්නේ ආදිරිප්පු පල්ලිය තිබෙන්නේය (ආදූප් පල්ලිය) බොරළුගොඩ පහළ සනතුම් පිටිය (ජින්තුම්පිටිය) දැනගතයුතුයි.

රාජසිංහ රජ දෙමටගොඩ වත්තේ වාඩිලාගෙන කොළඹ වටකර අඩස්සි කරගෙන කන්දඋඩ අය ලවා උමංකනවන විට ප්‍රතිකාලෝ දැකලා වෙඩිබේත් උමග දමාලා ගිනි දුන්නාහ. කන්දඋඩ සෙනගගෙන් නැතක් අය මලාහයි දැනගත යුතුයි.

මේ සැටියේ අඩස්සිකරගෙන සිටින වේලාවට වික්‍රමසිංහ මුදලිගේ හේවායකුත් සෙනෙවිරත්න මුදලිගේ හේවායකුත්

---

1 වළකපාදීමටයයි -ඇතම්-

දෙන්නා ඩබරකොට ගෙන සෙනෙවිරත්න මුදලිගේ හේවායාට
ගසාපීය. සෙනෙවිරත් මුදලින්ට ඒ සැළව සෙනෙවිරත් මුදලි
වික්‍රමසිංහ මුදලිගේ හේවායා ගෙන්වා උඟට ඇන්නාය. උඟුටිකා
ගෙන ගොස් උගේවරද වික්‍රමසිංහ මුදලිහට කියා හැඩීය.
සෙනෙවිරත් මුදලින්ට වීරසුන්දර බණ්ඩාර උපකාර ගෙනාවාට
විරිදු දවුණ්ඩෙ (එනම් කොඩිවගීය) දුන්නාය. මේ රාජසිංහ
රජ කුමාරඅවදිබියේ සිට කැටුව කොටා ඇවිදිනා ලද්දේ වික්‍රම
සිංහ මුදලියාය ඒ මාන්න දුන්නාටත් හේවායාට ඇන්නාටත්
වික්‍රමසිංහ මුදලි ක්‍රොධව ධර්මපාල රජ්ජුරුවන්ට රහසින් පත්
ලියා ඈර කළුවැල්ලේ කඩවතින් ප්‍රතිකාණෝ එළියට බැස
අවුත් වික්‍රමසිංහ මුදලියාගේ වාඩි පසුකර ගොස් සෙනෙවිරත්න
මුදලියාගේ වාඩියට වැදී යුඩවිය. එවෙලෙහි සෙනෙවිරත්න
මුදලි පහඩ (දූදු) කෙළ කෙළ උන්නේය. සතුරන් ආ බව
දූන සෙනෙවිරත්න මුදලි කඩුව පලිහ ගෙන කොටන්නට
වත්විට සෙනෙවිරත් මුදලිගේ වාඩිකුලපපුව සෙනෙවිරත් මුදලි
තුවාලව දෙමටගොඩ වත්තට දුවගෙන අවුත් රාජසිංහ රජ්ජුරු
වන්ට වැඳ වැටී සිට කඩිනමට ආපස්සට වඩින්ට කියා වික්‍රම
සිංහ මුදලින්ගේ වාඩි මැදින් සතුරන් ආබවත්: වික්‍රමසිංහ මුදලි
උදව්වුනුබවත් තමාට තුවාල වු බවත් සැලකරපුවිට රාජසිංහ
රජ්ජුරුවෝ පස්සට වාංගුව වෙරළුවේ තොට මෙගොඩට අවුදින්
වාඩිමට්ටු පඩුත්තුව (කැලඹීමක්නැතුව) සිටින වේලාවට යටකී
කොනප්පු බණ්ඩාර කොළඹ ඉඳලා සල්අප්පු බණ්ඩාරට කොටු
වරදට ධර්මපාල රජ්ජුරුවෝ ප්‍රතිකාල් කප්පිත්තාවරු හා නඩු
බලා ඒ වරදට කොනප්පු බණ්ඩාර ගෝවේට ඇරියාය. ගෝ
වේට ගොස් තුන්අවුරුද්දක් සිටිකල ගජබාහු කප්පිත්තා කියන
එකාගේ දෙරකඩින් කඩුබැඳගෙන ගෝවේ විසුරේටත්(වෙවෙරෝ
සිකියන උපරජුටත්) යන්ට බැරිය. ඒකා එක්ක කොටන්ට
කැමතිකෙනකුට බැරිය. [1] නැතක් පිදුල්ගුවෝ හා කොටා
පරාදවී උගේදෙරකඩ විරිදුකොඩි බැඳ තිබෙණ වග අසා
කොනප්පු බණ්ඩාර "මමකොටමි" කීවිට ගෝවේ විසුරේ එබසට
ප්‍රීතිව කොනප්පු බණ්ඩාර ගෙන්වා කොටන්ට පුලුවන්දැයි ඇසූ
විට "මමකොටමි" කියා කඩුව බැඳගෙන කොනප්පු බණ්ඩාර
යනවිට උගේ දෙරකඩදී "සිංලයාතොය" කියා කොටන්ට වත්
කල්හි මේ කොනප්පු බණ්ඩාර ඉලංගම්වල හරඹ උගත්හෙයින්

---

1 කැමතිකෙනෙක් ඇත්නම් මිස බැරිය-ඇතම්-

ගජබාහු කප්පිත්තාට කොටා දෙපළකර දැමූවිට ගෝවේ විසු රේත් නැතක් කප්පිත්තාවරුත් කොනප්පු බණ්ඩාරව බොහෝ තෑගි දුන්නාහ. රාජසිංහ රජ්ජුරුවෝ වෙරළුවෙ තොටින් මෙගොඩ කුරක්කන් වත්තේ[1] වාඩිලා ඉඳගෙන වික්‍රමසිංහ මුදලි ගෙන්නවා සීතාවකට පිටත්කරළුවා සිටින අවධියට කොළඹ අඩස්සිකරගෙන ඉන්නබව ගෝවේට ලියා ඇරියතැන කොනප්පු බණ්ඩාර ගෙන්නවා ගෝවේ විසුරේ ඇසූවිට මා මන් නාරමෙන් ගොඩබස්සා ඇරපුවොත් මට කන්දඋඩට ගොස් උඩරට පෙරළි කරන්ට පුළුවන යුඩපුණ්ඩුකලවිට රාජසිංහ රජ් ජුරුවන්ගේ වාඩි පස්සට වෙති කියා කීතැන ඒ සැටියට අවසර ලැබ ගෝවෙන් නැව් නැගී මන්නාරමින් ගොඩබැස කන්දඋඩ රටට ගොස් පෙරළියට උඩරට අවුල්කෙළේය. රාජසිංහ රජ උඩරට අවුල්වූනබව අසා සීතාවකට වැඩමවා සිට වික්‍රමසිහ මුද ලින්ට උදහස් වදුරාපුවිට වික්‍රමසිංහ මුදලින්ට රක්තාතිසාරයක් වැළඳීකල්හි වසදමා බෙහෙත් දෙන්ට වෙදුට කීවිට ඒ සැටි දුන් නාම වික්‍රමසිංහ මුදලිමළේය. සොළීරටින් අවුත් උන් අඩිච්ච කිවෙන්ඩු පෙරුමාල් කියන ආඩියාට මන්නම් පෙරුම (මන්නා රම)මොහොට්ටිකමුත් දී යකඩදෙළියට(බිසවුන්ගේ පිරිවර සත්‍රී බවට) ඇරගෙන උන් රජ හෙට්ටියාගේ දුව මන්නම්පෙරුම මොහොට්ටියාට දී බොහෝ කාරුණා ඇතිව ඉඳිනාසඳ කන්දඋඩ රට පෙරළිබව අසා මහාසේනාව භාරකර යුඩයට ඇරිය විට බලනෝට ගොඩනැගෙන්ට නොදී කොනප්පු බණ්ඩාරත් කන්දඋඩ පස්රට (උඩුයටි දෙනුවර හාරිස්පත්තුව හේවාහැට දුම්බර) හමුදුවත් කන්දඋඩ කඩවත් බැඳගෙන සැදී සිටියාහ.

ඊට පළමුවෙන් සීතාවක මහා අතපත්තුවෙන් බලගතු පලිසක්කාරයෝ අයියත් මලයත් දෙදෙන වෙන්වෙලා කොළ ඹට යනවිට කඩුදෙවොළ කඩවතට වැදී කොටාගෙන කොළ ඹට ගොස් ධර්මපාල රජ්ජුරුවන් දැක්කාහ. ඉන් වැඩිමහලූ පලි සක් කාරයාට පතික්කි මුදලිකමුත් දුන්නේය. ඊට පළමුවෙන් හේවාගම කිඩන් පළගෙයි කිද්දා නයිදේගේ පුතා කොළඹට ගොසින් ධර්මපාල රජ්ජුරුවන් දැක විජය සේකර මුදලිකමුත් ලැබ කොළඹ ඉඳගෙන නොයෙක් කොටුම් කොටා නැතක් හිර අල්වාගෙන කොළඹට එක්සිත්ව උන්නාහ. රාජසිංහ රජ මහාසේනාව පිරිවරාගෙන කන්ද උඩ රට කොටන්ට ගොස්

1 කුරක්කන් වත්ත නම් තිබාගෙන-ඇතම්-

මාවෙළ වාඩිලා සිට බලනේ කඩුගන්නාව පාරෙන් මහසෙනඟ ඇරියවිට කොටායන්ට නැර බිඳී ආවිට රාජසිංහ රජ සක් පලිහ ලා වැඩසිට කොටනකළ උඩරට සෙනඟ කොනප්පු බණ්ඩාර හක්පලිහ ලා හක්දුරේ ලා (සක්ගෙඩිය පිඹලා) සිටි යාහ. රාජසිංහ රජ එකොළොස් වයස පටන් සේවාකම් කළ මගේඉදිරියේ රජෙක් සිටියේනැත මෙදූ උඩරටට පැමුණුන අය පින්ඇතිකෙනෙක. මගේ පින්බල අඩුය කියා මන්නම්පෙරුම මොණහාවිට්ටිරාළට ගල්බඩකොරළය පණකුරුව දී කඳුරුකපල්ලේ සිටුවා ආපසු පෙතන්ගොඩ උයනට වැඩමවා ගෙන ගියේය. ශ්‍රී පතුල උණ කටුව ඇනුනාට දෙඩම්පේ ගණිතයා හූනියම් කර විස බැඳපිය. රාජසූරිය අදහසින් විත කරපිය යි දැනගත යුතුයි.

රාජසිංහ රජ දේව අගුලෙන් පෙතන්ගොඩ සිට එනකොට කුකුළුබිත්තර වැල්ලේදී කථා කළා මිස දෙවනු කීකළ දෙයක් නැතිව ඉකුත්වූයේය,[1] සකවර්ෂඑක්වාදහස් පන්සිය දහහතර[2] ගියාය යි දැනගත යුතුයි, ගුරුදින හතවකලත් ගතේ නකතින් සිරිලක එකසත් කළ රාජසිංහ රජ එකොළොස් වර්ෂයක් රාජ්‍යශ්‍රී වළඳා ඉකුත්වූයේය. ඉන්පසු එල්ලාවල[3] උන් රාජසූර්ය කුමාරයින්ට රාජ්‍යය භාරකරවා සිංහාසනප්‍රාප්ත කළාහ. රාජසූර්ය මහාසේනාව දක්වාගෙන පඩි වෙට්ටන් (රක්‍ෂාව) දීලා කඩුදෙවොළ කඩවතට හා රන්ගහවත්තට අවුත් කඩවත සිටිනා අයටත් පඩි දීලා දෙවනු සීතාවකට ගොස් රාජසූර්ය කුමාරයාගේ මල්බෑ ජයසූර්ය කුමාරයින් බෙලිගල්කෝරළේ තුන්තොට ඉන්ට සලස්වා තුන් අවුරුද්දක් රාජ්‍යයකරන සඳ උඩරට දෙවනගල තෙරුන් වහන්සේ හා කන්දඋඩ පස්රටේ සේනාව කථාකරගෙන කොනප්පුබණ්ඩාරට **විමලධර්මසූර්ය**; i රජ්ජුරුවෝය යි නම් තබා උඩරට රජකමට සිංහාසන ප්‍රාප්තකරගත්තුය.

සීතාවකරජකරන රාජ සූර්ය කුමාරයා දෙඩම්පේ ගණිතයාට කියාලා රාජසිංහරජ්ජුරුවන් හූනියම් කර මැරෙව්වයේය, ඒ රාජසූර්ය කුමාරයා මාලිගාවේ දැවල් දවස ඉඳ රාත්‍රියේ දෙඩම්

1 මොහුගේ කාලයෙහි සමනොලශ්‍රීපාදස්ථානය සිවභක්තිකයන්ට භාර කෙළේය. තමාගේ පියාද මාමාද සහෝදරයෝ තුන්දෙනාද බොහෝ ශ්‍රමණවරුද මොහු විසින් මරවන ලද්දෝය.

2 දහහතක්-ඇතැම්-

3 පල්ලෙවෙළ-ඇතැම්-

පේ ගණිතයාගේ දුව ගෙන්වා මාතියත්ගම ඉන්ට සලස්වා එත
නට හැමදාම රාත්‍රියෙහි යන බව සීතාවක අය දැනගත්තාහ,
රාජසිංහ රජ්ජුරුවන්ගේ අක්කාවන බිසෝ අදහසින් විදියේ
රජ්ජුරුවන් ලඟ උන් බිසෝ අදහසින් හා යෙහෙළතියෝ රාජ
සිංහ රජ්ජුරුවන් ඉන්නා අවධියේම මත්තමගොඩ උන්නාහ,
සීතාවක සේනාව ඒ බිසවට බස පත එවාලා මන්නම්පෙරුම
මොහොට්ටියාට කදුරුගස් කපල්ලම කියා ඇරලා තුන්තොට
වාඩියට රාත්‍රියෙහි පැනලා ජයසූර්‍ය කුමාරයාට අන්නවා සීතා
වක රාජසූර්‍ය කුමාරසින්ටත් හදිකර මරාදමා මත්තමගොඩ
උන් බිසෝ අදහසින් හා පස්අවුරුදු කුමාරසින් සීතාවකට
ගෙන්නවා මාලිගාවට ඇරලවා මහාසේනාව දක්වාගත්පසු
සීතාවක සේනාව කොල්ලකන ලෙස පෙරළිකර ගත්තාහ. රාජ
සිංහ රජ්ජුරුවන් නැතිබව අසා ධර්මපාල රජ ප්‍රතිකාල් සේනා
වට කියා අළුත්කුරුවේ ඔරුතොට කොටුව තොටන්ට සේනාව
ඇරියේය. ගිය ප්‍රතිකාල් සේනාව මීගමුවේ වාඩිලූහ, ඒ බව සීතා
වකට සැලව මන්නම්පෙරුම මොහොට්ටිලට මහාසේනාව භාර
කර දී කොඩි තුවක්කු නවසියයකුත් ගෙන්වා දී සීතාවකින්
පිටත්කර ඔරුතොට කඩවතට ඇරියාහ. මන්නම්පෙරුම මො
හොට්ටිල ගොස් ඔරුතොට නීරෝගී කෙළි කෙළියේය, ප්‍රති
කාල් සේනාව මීගමුවේ වාඩිලාගත ප්‍රතිකාණුන් කැටුවසිටිනා
පිදසිල්ලකියන යොන් මුදලියා රාජසිංහ මහරජ්ජුරුවන් අවධි
යේ නැතක්කොටුම් කොටා ධර්මපාල රජ්ජුරුවන්ට ඔප්පු දී සො
දින් එක්පක්ෂව [1] සිටිනාසඳ මන්නම්පෙරුම මොහොට්ටි ඔරු
තොටට අවුත් නීරෝගී කෙළිබව පිදසිල්ල කියන යොන් මුද
ලියා අසා ඔහුඅල්ලා මිස බත්නොකම් කියා ප්‍රතිකාල් සේනාව
කැඳවාගෙන ඔරුතොටට පිටත්විය. එපවත් මන්නම්පෙරුම
මොහොට්ටිලට සැලව කොඩිතුවක්කු සාදාගෙන හමුදාව තුන්
පේළියක් සදා සිටුවා මම මෙතන වෙඩිදෙකක් තිබනකල් වෙඩි
තිබන්ට එපාය යි අණකොට ප්‍රතිකාණෝත් යොන් මුදලියාත්
කොටුවට කිට්ටුවූතැන මන්නම් පෙරුම මොහොට්ටිල වෙඩි
දෙක පත්තුකෙළේය. එවිට අනෙකුත් කොඩිතුවක්කු නවසිය
යම ගිනිදුන්නාහ, ප්‍රතිකාල් සේනාවටත් යොන් මුදලියාටත්
වැදී යුධ පරාජයව බිඳී දුවන හමුදාව පාරේ එලවා අල්ලාගෙන
නැතක් තරමුත් ගෙන මහත් සන්තොෂයෙන් සීතාවකට මන්
නම්පෙරුම මොහොට්ටිල ගියේය.

1 එකත්පස්ව සිටිනාසඳ -ඇතම්-

පළමුවෙන් මේ මන්නම්පෙරුම මොහොට්ටිල හොඳිරවින් අවුදින් ආඬිසමඟ සිටියා දූත රාජසිංහ රජ මොහු හපනාය සි අසාවදුරු කැඳවාගෙන මන්නම්පෙරුම මොහොට්ටිනම් දී සිටියාය සි දූතගතයුතුසි. ඒ ආඬින් සමඟ සිටියාට මහඅතපත්තුවේ දෙළොස්හමුදුව භාරව ඉන්නා අතපත්තුවේ ආරච්චියා සිච්පද පදබැඳ එතෙක්වෙන පද කොක්සානම (පසුම්බිය) කියා සැමසිච්පදම මෙනමින් සීතාවක හැම විදිවලම කියවන්ට පටන්ගත්තාහ, මන්නම්පෙරුම මොහොට්ටිල ලජ්ජාවෙන් මෝරුවත්තට ගොසින් උන්නෝය, ඒ ගිය නොබෝදවසකින් බිසෝ අදහසින්[1] මන්නම්පෙරුම මොහොට්ටිල ගෙන්නවා සීතාවක සිටියාහ, එහි සිටිනවිටත් එමසිච්පද කොල්ලෝ දක්වා කියන්ට පටන්ගත්තාහ, එවර මන්නම්පෙරුම මොහොට්ටිල අවසර ඉල්වාගෙන ගිරාඉඹුලේ කොටුවට අවුත් එහිඋන්නෝය, ගිරාඉඹුලේ කොටුවේ ඉඳලා අඟුලක් ගෙන පිටත්ව කඩුදෙවොල රග්ගහ වත්තට අවුදින් හිටලා රාත්‍රියේ කොළඹට වෙන්වෙලා ගොසින් ධර්මපාල රජ්ජුරුවන් දුක්කෝය. ධර්මපාල රජ්ජුරුවෝ ජයවීර බණ්ඩාර යනනම පටබැන්දේය, ඉන්පසු කොළඹ සිටිනා සිංහල සේනාව හා ප්‍රතිකාල් සේනාව කොළඹින් පිටත්ව අවුදින් තුන්මසකින් රග්ගහවත්ත අරවා කුරුප්පු ආරච්චියා කඩවත රකාගෙන සිටි නිසා කඩුදෙවොල අරවන්ට බැරිව එනකොට සීතාවක සේනාව රැස්ව ගේවාකම් කරනවිට ගේවාගම වීරසේකර මුදලියා කොළඹට වෙන්වෙලා අවුදින්[2] සල්පිටිකෝරලේ පාරෙන් ගොස් කොරතොට කුරුප්පු ආරච්චිලාගේ හිර අල්ලාගෙන ගොසින් කොළඹ ධර්මපාල රජ්ජුරුවන්ට දුන්නේය. ඒ වග ධර්මපාල රජ ලියා කුරුප්පු ආරච්චිලට එවූතැනේදී ප්‍රතිකාල් සේනාවට කඩුදෙවොල කඩවතට එන්ට ඉඩදී කුරුප්පු ආරච්චිල මඟඇරියේය. කඩුදෙවොල අමුණ කපා ජයවීර බණ්ඩාර ප්‍රතිකාල් සේනාව ගෙන ගිරාඉඹුලේ කඩවත් අරවා සීතාවකට වන්විට කඩුදෙවොල සිට සීතාවකට යනතුරු දහස්ගණන් පලිසක්කාරයෝ වැටුණාහ. සීතාවක උන් බිසෝඅදහසින් රිදී ගෝණියකට පටවා ඇතින්නපිට නැගී යනවිට ජයවීර බණ්ඩාර පාරේඑලවාගෙන ගොසින් දෙනවකදී එබිසෝ අදහසින් අල්ලා සීතාවකට ගෙනායේය.

ප්‍රතිකාල් කප්පිත්තා එබිසව හිරකාර උන්තැනට ගොස් කීබසට දිවඇද කා මළාය. එබිසවගේ පස්හැවිරිදි කුමාරයා ප්‍රතිකාලෝ ගෙනගියාහ. ජයවීරබණ්ඩාර සීතාවක අරවා පාතකට්ටුව ධර්මපාල රජුට නිලලා දී සිටිනවිට ධර්මපාලරජු හා ජය

1 රාජසිංහරජුගේබිසව.

2 තැනක් අවසියේ සල්පිටිකෝරලේ පාරෙන් ගොස් ඇතම්-

වීර බණ්ඩාර හා ප්‍රතිකාල් කප්පිත්තාවරු හා උපාවිකර විමල දහම් සූර්‍ය රජ බැඳපු බිසොඅදහසින් කොළඹ ඉන්දදී ගිය ප්‍රතිකාළුන්ට එකතුවෙති සිතා කන්ද උඩරට රජවරිගෙන් රාජසිංහ රජ ඉන්නා අවධියේ ඒ රජුගේ උදහසින් එහි ඉන්ට බැරිව ගොස් මන්නාරම ඉඳ මවුපියෝ නැසීගොස් ධම්පාල රජ උදවුවී උන් එබිසෝ අදහසින් කොළඹට ගෙන්නවා උඩරට සමන්වාගන්ට එබිසෝ අදහසින් හා මහාසේනාවද ප්‍රතිකාල් සේනාවද සමග බලතේව කොඩනැගී දන්තුරේ වෙල්මැද වාඩි ලාගෙන විමලධම්සූර්‍ය රජහට පත් ලියා ඇරියාහ. විමලධම් සූර්‍ය රජ ඒ පත බලා කන්දඋඩ මිනිසුන්ට පෙනෙන්ට නැර කඩු නැගී උන්නේය. විමලධම්සූර්‍ය රජ ප්‍රතිකාළුන්ගේ වාඩි යට මන්තන්පෙරුම ජයවීරබණ්ඩාර තිසා කොටන්ට බැරිව උපායෙන් ජයවීරබණ්ඩාර ලියවූ සැටියට තල්පතක් ලියා විමල ධම්සූර්‍ය රජ්ජුරුවන්ට ජයවීර බණ්ඩාර ලියා ඇරිය සැටියට ප්‍රතිකාළුන්ගේ වාඩි මැද්දෙන් ඒපත ගෙනෙනවිට ප්‍රතිකාළුවෝ ඒ පත ඇරගෙන කප්පිත්තාට දුන්නේය. ඒ පතේ "කෝට්ටෙන් ගිය උණ්ඩිරාළ සහ කප්පිත්තාවරුන්ට දන්වන වගනම් මේ පරංගින් හෙට ඉරමුදුනෙන් මෙපිට අල්ලා දෙසැබූය. පාත රටට මම රජකම්කර උඩරටට කප්පන් දෙනවාය" කියා ලියා තිබුණවග බලාගෙන දන්තුරේ වෙලේදී ප්‍රතිකාළුවෝ ජයවීර බණ්ඩාරට මද අනුවණකමින් හදිකර මැරුවාහ. ජයවීර බණ්ඩාර නැතිහෙයිනුත් ප්‍රතිකාළුන්ට පඩතනලකමට වෙනත් නැතිහෙයිනුත් විමලදහම්සූරිය රජ හා කන්දඋඩ පස්රටේ සේනාව අවුත් ප්‍රතිකාළුන් වටලාගෙන දන්තුරේ වෙලේදී අල්වමින් යුධ ජයගෙන මන්නාරම උන් බිසෝඅදහසිනුත් බිඳී දුවනවිට ඒකනායක මුදලියාත් හමුදුවත් බලනේ රැකලා වටකරගෙන කොළඹට යන්ටනොදී අල්වා ගෙනවුත් විමල දහම්සූරිය රජහට දුන්නාහ. ඒ කන්‍යාබිසව ඒ රජ අගමෙහෙසුන් කමට ගත්තේය. විමලදහම්සූරිය රජ ඒ ප්‍රතිකාළුන් අල්වා ඇස් කණකර [1] කන් කපා පස්දෙනකුට එකකුගෙන් එක ඇසක් තබා අත්වැළ ගෙන යන්ට පස්දෙනෙක් කොළඹට එව්වේය. ඒ බිසව විමලදහම්සූරිය රජහට දකොට කුමාරයන්

1 ඇස් කණකර අල්ලා ඇතම්-

සතරදෙනකු හා කුමාරිකාවකුත් වැදූවාය. ඔව්හු කිනම්හුද යත්? රාජසූර්‍ය්‍ය ආස්ථානය, උඩුමාලේ ආස්ථානය, කුමාරසිංහ ආස්ථානය, විජයපාල අස්ථානය, යන මේ කුමාරවරු සතර දෙනාය.

පසුව ධම්පාල රජහට හවිලන්ට ප්‍රතිකාල් සේනාව සත් කෝරලයට ගොසින් රටමැද වාඩිලා සිටිනවිට එදිරිල්ලේරාළ කියන අය අවුත් ප්‍රතිකාණුන්ටත් ධම්පාල රජ්ජුරුවන්ටත් යුධ පූණ්ඩුකර ධම්පාල රජ රට මැද හිඳගත නොහී ප්‍රතිකාල් සෙන් සමගින් පිටත්ව එනවිට එදිරිල්ලේරාළ ඔවුන් පාරේඑලවා ගේවාකම් කරමින් පුස්සැල්ලේ ඒදණ්ඩ කඩාදමා කොළඹට එන්ටනැර යුධ කොළේය. එවිට ජල්තොට වික්‍රමසිංහ ආරච්චිල පුස්සැල්ලේ ඔයලඟදී වැටී ප්‍රතිකාණුන් කොළඹට යානොහී සිටිනවිට ධම්පාල රජ්ජුරුවන්ගෙන් මාතොට ලැබගෙන ගිය සමරකෝන්රාළ මාතොටින් සේනාව ගෙන ධම්පාල රජ්ජුරුවන්ට උදව්වට අවුත් පතහවත්තට පැමිණියේය. ඒ ආ උදවිය අසා ධම්පාල රජ්ජුරුවෝත් ප්‍රතිකාල් සේනාවත් අගලගෙදර පාරෙන් පිටත්ව ගියහ. එදිරිල්ලේරාළ ඔවුන් පාරේඑලවා අගලගෙදරදී යුධකරනවිට එදිරිල්ලේරාළට තුවාලවිය. නුමුත් ප්‍රතිකාණෝ මිල්ලෑවට ගියාහ. එවිට සමරකෝන්රාළ උදව්වට ඉස්සරහට අවුත් රයිගම්කෝරලේ පාරෙන් කොළඹට ගියේය. නොබෝ දවසකින් එදිරිල්ලේරාළ රයිගම්කෝරලයේ උඩුනුවර සිටිනවිට සමරකෝන්රාළ කොළඹින් පිටත්ව අවුත් යුධකර එදිරිල්ලේරාළ ඇල්ලුවේය. පසුව ධම්පාල රජ පාතරටසමන්වා එදිරිල්ලේ වලිය අල්ලා මරාදමා ගැනුන් හා එදිරිල්ලේරාළගේ මලයාත් අල්වා ගෝවේට ඇරියේය. ඔහු ගෝවේට ගෙන ගොස් මරන්ට ගෙනයනවිට පිතා මාතා නැතිහෙයින් ඕරෙප් පුවේ (මවුපියන් නැති ස්ථානයේ) ඇතිකර උන් ප්‍රතිකාල් කෙනකුගේ දුවක් "මම බඳිමියි" කියාලා මරන්ට නොදී ගලවා ගෙන බැඳලා දෙවනු කොළඹට අවුදින් උන්නාය. විමලදහම් සූර්‍ය්‍ය රජ දුරණිගලට වැඩමවා පාතරට අවුල්කරමා මීගමුවට සටන් පූණ්ඩුකර හමුදාව පිටත්කර ඇරියේය. ඇරලා සිටිවිට සියනෑකෝරලේට ගොසින් කන්තාංගර ආරච්චිලත් ගේවාගම් කෝරලේට ගොසින් වෙල්ලප්පුලි ආරච්චිලත් කොළඹට ගොසින් කුරුප්පු මුදලියාත් පෙරළිකර රට අවුල්කර සිටිනා සඳ ධම්පාල රජ්ජුරුවෝ එදිරිල්ලේරාළගේ මලයා කැඳවාගෙන

කුරැළු කරගෙන සිඹ සනහා මෙසේ කීයේය. "මලනුවෙනි! මාගේ මාන්නය කිබා මේ කතුරුපෙරළිය කරපන්න" කියා කමුදුව භාරකර දුන්විට සිමන්කුරේරුළ කන්කාංගර සෙබළාත් අල්ලා සියතැකෝරළේ සතුරන්ටත් කොටා කුරුප්පු මුදලිනුත් එලවා සිටිනවිට විමලධම්සූරිය රජ උඩරට ගියේය. සිමන් කුරේරුළ සතරකෝරළය[1] හා කොක්කාගලින් හා සුදු පුරුදු ගලින් මෙපිට සමන්වාගෙන ඉදිනාසඳ උඩරට හැර පාතකට්ටුව ප්‍රතිකාල්ලුන්ට එකසත්කරදී දෙළොස්අවුරුද්දක් රජසිරිවිඳ ධර්මපාල රජ මිය පරලොවගියේය. ධර්මපාල රජුගේ මළකඳ ගෙන ප්‍රතිකාල්ලුන්ගේ පල්ලියේ වැළලුවාහ.

ඉක්බිති ප්‍රතිකාල්ලුන්ගෙන් විසුරේ නොනෙක් පාතරටට රජකම් කෙළේය. විමලධම්සූර්‍ය රජු කොළඹට වෙන්වෙලා අවුදින් බැඳසිටි බිසෝවූ උදම්මිටරුළගේ ඡේනිනොනෙක් ප්‍රතිකාල්ලු උඩරට යන්ට ඇරිය නෑනදී බලනෙන් උඩ යන්ට නැරිය නිසා ආපසු කොළඹට අවුත් දොන් ප්‍රන්සිස්කු කියන ප්‍රතිකාල්ලුව දෙවනු බැඳ උන්නාය. විමලධම්සූරියරජ දොළොස් අවුරුද්දක් උඩරට රජකර කළුරිය කරනවිට තමාගේ මල්වූ කුඩාමැණිකයන් පුතු සිවුරුඇර ගෙන්වා තමාට දූ කුමාරවරු සතරදෙනා[2] භාරකරදී ශකවර්ෂ එක්වාදහස් පන්සිය විසි හතක්වූසඳ ඉකුත්වූයේය.[3] ඔහු මල් ඒ බිසව ගෙන විමලධම් සූරිය රජුට දූ කුමාරවරුන් ඇතිකරගෙන සෙනරත් රජ්ජුරුවෝය කියා පට්බැඳ උඩරට රාජ්‍යය කරනවිට එබිසව සෙනරත් රජ්ජුරුවන්ට සෙනෙහසින් කල්බැඳ ගිඳ කුමාරයකු වැදුවාය. ඒ කුමාරයාට දේවරාජසිංහ ii නම් තිබුවාහ. විමලධම්සූරිය රජුට දූව වැදූ මැඩිමයාලු කුමාරයා දිය කෙළියට මාවැලිගඟට ඇරලා කුමාරයාගේ මවුබිසවට නොදන්වා එක්කගියවුන් ලවා දියේ ඔබා මරුදමූහ. පසුව දිය කෙළියට ගිය අය කුමාරයාට සදිකළායකියා රටටත් බිසවටත් සැළවී රජ දිවගොස් ඉකුත්වූ බව බිසවට කියා මළකඳ නිදන් කෙළේය. සිමන් කුරේරුළ ප්‍රතිකාල්ලුන් ශෙනගොස් සත්වරක් කන්දඋඩරට ගිනිලනවිට සෙනරත් රජ දියතිලක කුවර කරවා මැඩඋන්නේය.

---

1 සත්කෝරළය කොක්කාගලෙන් සුදුපුරුදු ගලෙන් මෙපිට ඇතම්-

2 කුමාරවරු දෙන්න ඇතම්-

3 ශකවර්ෂ එක්වාදහස් පන්සිය විසිපහක්වූ f' "

**දෙන් කොන්ස්තන්තීනු** රජ පාතරටට රජකළ සඳ සිමන්
කුරේරුළ කියන අය සතරදේවාලය නොබලා ලොවට උතුම්
බුඞශාසනය නොබලා අනාචාරකර සතුන් ගරුනැතිව මරා පව්
කරනවිට සිරිලකට අරක්ගත් දෙවියන්ගේ බලෙන් සිමන්කුරේ
රුළ ගිනියම් ව්‍යසනයකින් කාලයාක්‍රාවිය. කුමාරදේවතාවී
කතරගම කන්දසවාමින් වහන්සේගෙන් ගීත වඩා මහකාතර
ගම දේවාලය සමීපයේ කෝවිලක් තනවා ලැබී රුහුණුරට කාස්
කම් පැවාය. ඉන්පසුව දෙන් කුස්තන්තීනු ජනරල් සහ ප්‍රති
කාල් සේනාවත් පාතරට සිංහල සේනාවත් කන්දඋඩ රට
කොටා ඌවපාරෙන් එනවිට කුමාරසිංහ ආසථානත් විජයපාල
ආසථානත් රාජසිංහ ආසථානත් සෙනරත් රජ්ජුරුවෝත් ඌවේ
කන්දපල්ලේ වැල්ලවායේ රන්දෙණි වෙලේදී යුඞවිය. එකල
කුස්තන්තීනු ජනරල් සහ කප්පිත්තාවරු හා සතරදිශාව කළ
ප්‍රතිකාණුන් සතරදෙනා හා සටන්කර නොයෙක් ප්‍රතිකාල්
සේනාව අල්වා මරාදමා උන් කැටුවගිය පාතරට සිංහල සේනාව
ඇරලා ප්‍රතිකාණුන්ගේ ඉස් කප්පවා ගොඩකළාහ. පසුව රජ
සතරකට්ටුව පාතරටට වැඩමවා එකතුකර හවිලන්ට (ශක්ති
මත් කරන්ට) පාතරට ජනයාගේ අවගුණ කමින් බැරිව උඩ
රටට වැඩියාහ. සෙනරත් රජ තිස්අවුරුද්දක් රාජ්‍යයකර [1]
ශකවර්ෂ එක්වාදහස් එකසිය හතක් ගියකල [2] ඉකුත් වුණේය.
ඊට පළමුවෙන් කුමාරසිංහ රජ ඉකුත්විය. විජයපාල රජ්ජුරු
වන් හා රාජසිංහ රජ්ජුරුවෝ උඩරට රජකරන සමයෙහි නැව
තක් ප්‍රතිකාල් ජනරල් හා කප්පිත්තාවරු සතරදිසාව කරවන
ප්‍රතිකාල් සතරදෙනා හා නොයෙක් ප්‍රතිකාල් සෙනඟත් පාත
රට සිංහල සෙනඟත් සමඟ නවදහසක් සේනාව උඩරටට ගොස්
කන්දඋඩ නුවර ගිනිලා දේවාලවල ගෙරිසම් කපා තිබා ආපසු
එනවිට ගන්නොරුවේදී [3] රජ දෙකට්ටුව වටලාගෙන යුඞකර
ඒ ජනයන් අල්ලා මරාදමා නොයෙක් ප්‍රතිකාල් සෙනඟගේ ඉස්
කපා ගන්නොරු වෙලේ ගොඩකළාහ. ඉන්පසු රාජසිංහ රජ
සෙංකඩගල නුවර වැඩහිඳිනාසඳ මාතලේ ගොඩපළ නුවර විජය
පාල රජු වැඩහිඳ ඔබමොබ අවුල්තිසා ඌවේ බදුල්ලේ නුවරට
වැඩමකර වදුරා එහි උන්නෝය. ඉන්පසු නොබෝ දවසක් ගිය

---

1 පස්විසි අවුරුද්දක් ඇතම්-
2 පනස් පහක් ඇතම්-
3 යුඞයට ආරම්භකර ඇතම්-

විට විජයපාල රජු හා යුද්ධයට කන්දඋඩ රටපගේ සෙනඟ හා,
රාජසිංහ රජ්ජුරුවෝ ඌවේ දෙඩංඅතු කපල්ලට වඩිනකලට
ඌවේ මහ බලසේනාව ගෙන විජයපාල රජ්ජුරුවෝ වැඩමවා
සිට ඌවට ගොඩනගින්ට නොදී ගල් මුල් පෙරලා යුද්ධයෙන්
ජය ගත්තෝය. රාජසිංහ රජ්ජුරුවෝ ආපසු සෙංකඩගල නුව
රට වැඩියාහ.

නැවතත් යුද්ධාරම්භ කොට කාලතුවක්කු කීපයක් වාත්තු
කරවාගෙන වඩිනාවග [1] ඌව විජයපාල රජ්ජුරුවන්ට සැලවී [2]
"රාජ්‍ය ලෝභකමින් සහෝදරවූ රජ දෙකට්ටුව යුද්ධකරගන්ට
සුදුසු නැත" කියා බොහෝසේ අවවාද වදරමින් මුංවත්තේ
බණ්ඩාරත් ඊට යුතු දුග්ගැන හිටි කීපදෙනකුත් සමඟ රහසින්
රාත්‍රියේ කන්දඋඩ පල්ල කෝරළේට වැඩමවා වලවේ ගඟින්
එගොඩවී කොළඹට වැඩමවා ඇතුල් කොටුවේ උඩුමාලෙක
ප්‍රතිකාල්ලුන්ගේ පක්ෂපාත ආහරෙතුත් පාදු (ප්‍රවේසම්) ඇතු
වත් [3] තුන්අවුරුද්දක් වැඩඉඳ ගෝවේට වැඩියේය. ඒ වගට
රාජසිංහ රජ්ජුරුවෝ බොහෝ වික්ෂෙපවී වදරා මේවෟ මතු එන
අවුලෙකැයි සිතා මීට ඕලන්දේසි ගෙන්නවා උන්සමඟ අප්‍රමාදව
කොළඹ අරවන රගට ඕලන්දේ ජගදරාවට (ආණ්ඩුවට) පත්
ලියා ඇර ලන්දේසි මඩකලපුවට ගෙන්නවා දක්කවාගෙන වදා
රමින් බොහෝසේ කාරුණ්‍යාතාන්තර දෙවා වදරා ප්‍රතිකාල්ලුන්
සමඟ යුද්ධයට අවසර දුන්නෝය. පළමුකොට තිරිකුණාමලේ
උන් ප්‍රතිකාල්ලුන් අල්වා පසුව දෙවෙනි අවුරුද්දේ මීගමුවේ
කොටුව අල්වා එම අවුරුද්දේම ගාල්ලේ කොටුවත් අල්වා උන්
විට නැවත ප්‍රතිකාල්ලෝ ඕලන්දේසීන් එළවා කොළඹ වටකර
ගෙන මීගමුවේ උන් ලන්දේසීනුත් අල්වා ගෙන පාතරට හවිලා
ගෙන උන්නාහ. ඒ සිටි නොබෝ දවසකින් ආපසු ලන්දේසී
මීගමුවට ගොඩබැසලා ප්‍රතිකාල්ලුන් එක්ක සටන් කොට ප්‍රති
කාල් ජනරාල්ට හා ප්‍රතිකාල්ලුන්ට කොටා ලේ විලක් කර ප්‍රති
කාල්ලුන් පරාජයකොට මීගමුව ගත්තාහ. ප්‍රතිකාල්ලෝ නැව
තත් මීගමුව ගන්ට ගොසින් ලන්දේසීන් එක්ක යුද්ධකර පැරදී
ආපසු කොළඹට ආවාහ. ඊට නොබෝ දවසකින් ඕලන්දේසී
කොළඹගන්ට අවුත් කළුවැල්ලේ උන් ප්‍රතිකාල්ලුන් අල්වාගෙන

1 වඩිනාවග සැටි ඌවට ඇතම්-

2 සැලවෙලා ඇතම්-

3 පාදු ප්‍රවේසම් ඇතුව ඇතම්-

ලුණුමෝදර උන් ප්‍රතිකාණ්ණුන්ටත් කොටා යුඬ ජයගෙන කොළඹ වටලා අරවත්ට ගොස් කොළඹට පැනලා යුඬකර ලන්දේසි පරාජයවූහ. එවිට රාජසිංහ රජ රග්ගහවත්තට වැඩමවා සිට ලන්දේසීන්ට උදව්කෙළේය. යුඬයේදී ප්‍රතිකාල් ජනරාල් වැටී [1] සත්මාසයකටපසු [2] කොළඹ කොටුව ඕලන්දේසීන්ට භාර කරදී ප්‍රතිකාණෝ ගෝවේට ගියේය පාතරට සේරම කෝට්ටේ රජවරුන් විසින් ප්‍රතිකාණ්ණුන්ට අත්කරදුන් රට ප්‍රතිකාණ්ණුන් ගෙන් ශකවර්‍ෂ එක්වාදහස් පන්සිය හැත්තෑඅටෙන් අත්ඇරී ඕලන්දේසීන්ට අත්වූනේය යි දැනගත යුතුයි. රාජසිංහ රජ්ජුරුවෝ කෞමාර ප්‍රාප්තවූ **විමලධර්මසූර්‍ය** ii රාජකුමාරයින්ට රාජ්‍යය භාරකොටදී පනස් අවුරුද්දක් රජසිරි විඳ ශකවර්‍ෂ එක්වාදහස් සසියදහහතරක් පිරීසිටිකල ඉකුත්වී ස්වර්ගපදවිය ලද්දූහ.

සිද්ධිරස්තු.



---

1 ලන්දේසීන්ගේ ජනරාල් වැටීලා ඇතම්-

2 නවමාසයක්-ඇතම්-